සම්මත කොරියානු භාෂා පෙළපොත

# EPS-TOPIK



ශ්‍රී ලාංකිකයන් සඳහා වූ

## ස්වයං අධ්‍යයන පෙළපොත

스리랑카인을 위한

# 한국어1

## කොරියානු භාෂාව 1


고용노동부
රැකියා හා කම්කරු අමාත්‍යාංශය

한국산업인력공단
දකුණු කොරියානු මානව සම්පත් කළමනාකරණ සේවය

සම්මත කොරියානු භාෂා පෙළපොත

EPS-TOPIK



ශ්‍රී ලාංකිකයන් සඳහා වූ

ස්වයං අධ්‍යයන පෙළපොත

스리랑카인을 위한

# 한국어 1

කොරියානු භාෂාව 1


고용노동부

රැකියා හා කම්කරු අමාත්‍යාංශය

한국산업인력공단

දකුණු කොරියානු මානව සම්පත් කළමනාකරණ සේවය

## 교재 길잡이 පෙළ පොතේ ප්‍රයෝජන

이 교재는 고용허가제 한국어능력시험을 대비하는 데 도움을 주기 위해 집필된 『한국어 표준교재 개정판』을 집에서 스스로 공부할 수 있도록 개발한 책입니다. 특히 스리랑카 사람들이 한국어를 쉽고 재미있게 배울 수 있도록 현지의 언어 및 사회 · 문화적 환경에 맞추어 개발한 자가학습 교재입니다. 이러한 이유로 교재의 앞부분에는 한국어와 신할라어의 차이점을 간략히 정리하여 제시하였습니다.

මෙම පොත ඔබට තනිවම විදේශිය සේවකයන් වෙනුවෙන් පවත්වන කොරියානු භාෂා ප්‍රවීනතා පරීක්ෂණය සඳහා සූදානම් වීමට හැකිවන පරිදි සකස්කර ඇත. විශේෂයෙන්ම ශ්‍රී ලාංකිකයන්ට පහසුවෙන් හා විනෝදාත්මකව තනිවම කොරියානු භාෂාව ඉගෙන ගැනීමට හැකිවන පරිදි එදිනෙදා භාවිතාකරන වචන, සමාජය, සංස්කෘතිය පිළිබඳව තොරතුරු ඇතුලත් කර සකස්කර ඇත. මෙවැනි හේතු නිසාවෙන් කොරියානු භාෂාව හා සිංහල භාෂාව අතර ඇති වෙනස්කම් කෙටියෙන් මෙසේ දැක්වීමට හැකිය.

이 교재는 현지에 한국어 교육기관과 한국어 교사가 충분하지 않다는 점을 감안하여 참고서의 역할을 하는 친절한 교재가 되도록 애를 썼습니다. 또한 한국어를 연습할 기회가 많지 않은 현지 환경을 고려하여 익힘책의 기능을 하도록 하였으며, 나아가 EPS-TOPIK을 준비할 수 있도록 구성하였습니다. 이렇게 구성된 교재는 가상의 교사를 설정하여 학습 안내를 하도록 하였습니다. 특히 '한글 익히기' 단원과 과마다 수록되어 있는 문법 항목에 대한 설명은 신할라어로 녹음을 하여 제시함으로써 이해를 돕고자 하였습니다. 부록에는 어휘 목록 및 동사와 형용사의 활용표를 제시하여 편리함을 더하고자 하였습니다.

කොරියානු භාෂාව ඉගැන්වීමට ප්‍රමාණවත් තරම් ගුරුවරුන් හෝ පෙළපොත් නොමැති හේතුව නිසාවෙන් මෙම පෙළපොත කොරියානු භාශාව ඉගෙනගන්නා සියලුමදෙනාට ප්‍රයොජනවත් වනු ඇතැයි අපි විශ්වාස කරන්නෙමු. තවද කොරියානු භාෂාව පුහුණු වීමට එතරම් අවස්ථාවක් නොලැබෙන නිසාවෙන් මෙම පෙළපොත අභ්‍යාස පොතක් ලෙසද EPS-TOPIK සඳහාද භාවිතා කළ හැකිය. මෙලෙස සකස්කර ඇති පෙළපොත පන්ති කාමරයේ පෙළපොත ලෙස භාවිතා කලහැකිවන පරිදි අධ්‍යයනයට උපදෙස් අන්තර්ගතකර ඇත. විශේෂයෙන්ම කොරියානු හෝඩිය හා සෑම පාඩමකම තිබෙන ව්‍යාකරණ කොටස සිංහලෙන් විස්තර කර පටිගතකර ඇති නිසාවෙන් ප්‍රයෝජනවත් වෙනු ඇතැයි සිතමු. තවද ඔබගේ පහසුව උදෙසා පිටුපස කොටසේ වචන, ක්‍රියාපද, විශේෂන පද වෙනවෙනම දක්වා ඇත.






## 01 대화 දෙබස

본문의 내용을 쉽게 이해할 수 있도록 대화 앞에 대화의 상황을 설명하는 글을 제시하였습니다. 본문은 신할라어로 번역하여 제시하였습니다. 학습자들이 본문을 이해하는 데 도움을 주기 위해 본문에 사용된 어휘 및 표현 중 설명이 필요하다고 생각되는 것을 골라 예문과 함께 신할라어로 제시하였습니다. 본문 학습 후에는 스스로 본문에 대한 이해 정도를 측정할 수 있도록 내용 확인 문제를 제시하였습니다.

දෙබස් සරලව තේරුම්ගැනිම සඳහා දෙබස පිළිබඳ කුඩා විස්තරයක් අන්තර්ගතකර ඇත. තවද දෙබස සිංහලට පරිවර්තනය කර ඇත. කොරියානු භාෂාව ඉගෙනගන්නන්ට පහසුවෙන් අවබෝධ කරගැනීම සඳහා දෙබසේ අන්තර්ගත වැදගත් වචන හා යෙදුම් උදාහරණ වාක්‍ය මගින් විස්තර කර ඇත. දෙබස ඉගෙනගත් පසුව තනිවම දෙබසේ අන්තර්ගතය තේරුම්ගනීමට හැකිවන පරිදි අභ්‍යාසද ඇතුලත් කර ඇත.

## 02 어휘 වචන

교재에 제시된 어휘를 학습을 염두에 두고 어휘의 특성(유사한 의미군, 유의어, 반의어 등)을 고려하여 재배열한 후에 신할라어와 함께 제시하였습니다. 교재에 수록된 어휘 연습 문제 외에도 여백이 허락할 경우 추가로 문제를 실었습니다.

පෙළපොතේ අන්තර්ගත වචන වඩාත් හොඳින් තේරුම් කර දීමට එම වචනවල තේරුම, සමාන වචන, විරුද්ධ වචන යන සියල්ලම සලකා බලා සිංහල අර්ථයද ඇතිව දක්වා ඇත. පෙළපොතේ තිබෙන වචන පිළිබඳ ප්‍රශ්නවලට අමතරව අතිරේක ප්‍රශ්නද අන්තර්ගතකර ඇත.





## 03 문법 ව්‍යාකරණ

문법은 표로 정리하여 제시함으로써 이해를 돕고자 하였습니다. 자가 학습의 능률을 높일 수 있도록 한국어와 신할라어의 대조적 정보를 제공하였습니다. 목표 문법 항목을 예문과 함께 제시한 후 기 학습한 유사 문법 항목과 비교함으로써 두 문법 항목 간의 차이점을 이해하기 쉽도록 하였습니다. 또한 본 교재에는 같은 지면에 제시되어 있는 어휘와 문법 연습 문제를 해당 항목 후 바로 연습할 수 있도록 배치하였고 연습 문제를 추가로 구성하여 학습 내용을 내재화할 수 있도록 하였습니다.

ව්‍යාකරණ වගුවක් ලෙස සකස්කර ඇති නිසා පෙරට වඩා පහසුයැයි සිතනවා. තනිවම ඉගෙනගන්නාවිට දනුම තව තවත් වැඩි කරලීම සඳහා සිංහලෙන් කුඩා විස්තරයක් දක්වා ඇත. ප්‍රධාන ව්‍යාකරණය ඉගෙනගත් පසුව එයට සමාන වෙනත් ව්‍යාකරණ තේරුම් කර දීමට හැකිවන අතර ඒවා සංසන්දනය කර වෙනස්කම් ඉගෙන ගැනීමටද හැකිය. තවද වචන හා ව්‍යාකරණවලට අදාල අමතර අභ්‍යාසද අන්තර්ගත කර ඇත.

## 04 활동 ක්‍රියාකාරකම්

자가 학습의 능률을 높일 수 있도록 신할라어로 번역하여 제시하였고, 활동에 대한 〈내용 확인〉을 통해 스스로 학습 성취 여부를 판단할 수 있도록 하였습니다. 또한 여백이 허락할 경우 〈퀴즈〉를 통해 학습 동기를 유발하고 학습의 흥미를 유지할 수 있도록 하였습니다.

තනිවම ඉගෙනගැනිමට ඇති හැකියාව වැඩිකිරීම සඳහා සිංහලට පරිවර්තනය කර අන්තර්ගත කර ඇත. ක්‍රියාකාරකම් හරහා ඉගෙනගත් දේවල් නැවත විමසා බැලිමට හැකිවන පරිදි සකස්කර ඇත. තවද ඉඩ තිබෙන ස්ථානවල කුඩා ප්‍රශ්න අන්තර්ගත කිරීම මගින් විනෝදයෙන් තනිවම ඉගෙනගැනිමට අවස්ථාව සලසා ඇත.







## 05 정보 · 문화 තොරතුරු සංස්කෘතිය

정확한 전달을 위해 정보 및 문화 내용을 신할라어로 번역하여 제시하였습니다. 또한 〈내용 확인〉 문제를 통해 스스로 내용 이해 여부를 판단할 수 있도록 하였습니다.

නිවැරදිව තොරතුරු හා සංස්කෘතිය පිළිබඳව තේරුම්කර දීමට සිංහලෙන් විස්තර කර ඇත. තවද නැවත විමසා බැලීම් මගින් හොඳින් අවබෝද කරගැනිමට හැකිවුවාද යන්නත් පරික්ෂා කර බැලීමට හැකියි

## 06 EPS-TOPIK

읽기와 듣기에서 다루고 있는 주제에 대해 간략히 신할라어로 설명해 줌으로써 한국어 수준이 좀 부족하더라도 한국어를 혼자서 공부하는 데 어려움이 없도록 하고자 하였습니다. 듣기 대본을 한국어와 신할라어 제시해 줌은 물론 정답도 함께 제시해 줌으로써 학습의 효율성을 높이고자 하였습니다. 비슷한 유형의 다른 문제를 연습할 수 있도록 〈확장 연습〉을 제공해 줌으로써 학습 효과를 극대화하고자 하였습니다.

කියවීම හා ඇසීම කොටස්වල අන්තර්ගත දෑ පිළිබඳව සිංහලෙන් විස්තරයක් ඇතුළත් කර ඇත. කොරියානු භාෂා දැනුම ප්‍රමාණවත් නොවුනද තනිවම ඉගෙන ගන්නා විට කියවා තේරුම්ගැනීමට හැකිවන පරිදි සකස්කර ඇත. ඇසීම කොටස තුල අසන දෑවල සිංහල පරිවර්තනයක් ඉදිරිපත් කර ඇත. වෙනස් ආකාරයේ අභ්‍යාස කිරීමට හැකිවන පරිදි අමතර අභ්‍යාස කොටසක්ද ඇතුලත්කර ඇත.



## 07 발음 උච්චාරණ

교사가 없는 상황에서 발음 연습을 하는 데에는 한계가 있습니다. 따라서 혼자 듣고 따라 읽으면서 발음 연습을 할 수 있도록 하였습니다. 모음, 자음의 발음은 물론 한국어 음운 현상에 대해서도 다루었으며 모두 31개의 항목으로 나누어 구성하였습니다.

ගුරුවරයෙකු නොමැතිව උච්චාරණ ඉගෙනගැනීම අපසසුය. එමනිසා තනිවම අසා නැවත කියවමින් උච්චාරණය පුහුණු වීමට හැකිවන අයුරින් සකසා ඇත. ස්වර, ව්‍යංජන පමණක් නොව වෙනත් උච්චාරණ නීතිද ඇතුලත්ව වගන්ති 31කින් යුක්තවේ.





## 08 유용한 표현 වැදගත් යෙදුම්

한국 사람들이 일상생활에서 자주 사용하는 유용한 표현을 전형적인 상황 맥락에서의 대화문을 통해 번역문과 함께 곳곳에 제시하였습니다.

කොරියානු ජාතිකයන් එදිනෙදා ජීවිතයේදි භාවිතාකරන ප්‍රයෝජනවත් යෙදුම් උදාහරණ දෙබස් මගින් විස්තර කර ඇත. සියලුම උදාහරණ දෙබස් සිංහලට පරිවර්තනය කර ඇත.



## 듣기 파일 안내

ඇසීම් ලිපිගො නු මාර්ගෝපදේශ

| | |
|---|---|
| Track 01 – Track 180 | 『한국어 표준교재』에 수록된 듣기 파일<br>සම්මත කොරියානු භාශා පෙළපොතේ අන්තර්ගත ඇසීමේ ලිපිගොනුව |
| SK 1 | 인사말<br>පෙරවදන |
| SK 2 | 신할라어와 한국어 대조<br>කොරියානු භාශාව හා සිංහල භාශාව සංසන්දනය |
| K-1 - K-8 | 한글 익히기 I & II කොරියානු හෝඩිය ඉගෙන ගැනීම I & කොරියානු හෝඩිය ඉගෙනීම II |
| G06-1 – G50-2 | 각 과의 문법 포인트 강의<br>예 G30-1 → 30과의 문법 1에 대한 포인트 강의<br>එක් එක් පාඩමට අදාල ව්‍යාකරණ දේශන<br>උදාහරනය G30-1 → 30වන පාඩමේ ව්‍යාකරණ 1ට අදාල දේශනය |
| L-06 - L-58 | 각 과의 듣기 확장 연습<br>예 L-30 → 30과의 듣기 확장 연습<br>ඒ ඒ පාඩමට අදාල ඇසීමේ අමතර අභ්‍යාස<br>උදාහරනය L-30 → 30 වන පාඩමේ ඇසීම් අමතර අභ්‍යාස |
| P01 - P31 | 발음 연습<br>උච්චාරණ අභ්‍යාස |

# 목차 පටුන



## 예비편 සකස් කරන කොටස



## 기본 생활 සාමාන්‍ය ජීවිතය



## 일상 및 여가 생활 එදිනෙදා හා විවේකී ජීවිතය



## 공공기관 පොදු ස්ථාන



## 부록 ඇමිණුම

| 주제 විශය | 과 පාඩම | 제목 මාතෘකාව | 기능/직무 구조 කාර්ය ව්‍යුහය | 어휘 වචන මාලාව | 문법 සංවාදය | 정보/문화 තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 예비편 සකස් කරන කොටස | 1 | 한글 익히기 Ⅰ කොරියානු හෝඩිය ඉගෙන ගැනීම I | | | | |
| | 2 | 한글 익히기 Ⅱ කොරියානු හෝඩිය ඉගෙන ගැනීම II | | | | |
| | 3 | 교실 한국어 පන්ති කාමරයේ කොරියන් භාෂාව | | | | |
| | 4 | 안녕하세요 ආයුබෝවන් | | | | |
| | 5 | 주말 잘 보내세요 සති අන්තය හොඳින් ගත කරන්න | | | | |
| 기본생활 සාමාන්‍ය ජීවිතය | 6 | 저는 투안입니다 මම තුවාන් | 자기소개하기 තමන්ව හඳුන්වාදීම | 나라 රටවල්<br>직업 රැකියා | 입니다<br>입니까 | 인사 예절 ආචාර කිරීමේ පුරුදු |
| | 7 | 여기가 사무실이에요 මෙතන කාර්යාලයයි | 장소 및 물건 묻고 대답하기 ස්ථාන සහ භාණ්ඩ පිළිබඳ විමසීම සහ පිළිතුරු දීම | 장소 ස්ථාන<br>물건 භාණ්ඩ | 이/가<br>이에요/예요 | 한국의 좌식 문화 කොරියානු බිම වාඩි වීමේ සංස්කෘතිය<br>생활필수품 දෛනික ජීවිතයේ අත්‍යාවශ්‍යය භාණ්ඩ |
| | 8 | 12시 30분에 점심을 먹어요 12.30 ට දිවා ආහාරය ගන්නවා | 일과 시간 묻고 대답하기 දින චර්යාව සහ වෙලාවන් විමසා ප්‍රශ්න වලට පිළිතුරු දීම | 일과 දින චර්යාව<br>시간 කාලය | –아요/어요<br>에(시간) | 출근 시간을 지킵시다 නිවැරදි වේලාවට රැකියාවට යන සිරිත සුරකිමු |
| | 9 | 가족이 몇 명이에요? පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටියිද? | 가족에 대해 묻고 대답하기 පවුල පිළිබඳ විමසා පිළිතුරු ලබා දීම | 가족 පවුල<br>외모와 성격 පෙනුම සහ චරිතය | 하고<br>에(장소) | 높임말과 반말 උසස්/ගෞරවනීය භාෂාව සහ සාමාන්‍ය කථා කරන භාෂාව |
| | 10 | 어제 도서관에서 한국어를 공부했어요 ඊයේ පුස්තකාලයේ සිට කොරියානු භාෂාව ඉගෙන ගත්තා | 날짜와 장소 묻고 대답하기 කාලගුණය සහ ස්ථානය විමසා පිළිතුරු සැපයීම. | 날짜와 요일 දිනය / දවස<br>장소와 동작 ස්ථානය සහ ක්‍රියාකාරකම් | –았/었–<br>에서 | 한국의 공휴일 කොරියාවේ ජාතික නිවාඩු දින |
| | 11 | 사과 다섯 개 주세요 ඇපල් ගෙඩි පහක් දෙන්න | 물품 구매하기 භාණ්ඩ මිලදී ගැනීම | 과일과 식료품 පළතුරු සහ ආහාරපාන<br>화폐와 물품 구매 මුදල් සහ භාණ්ඩ මිලදී ගැනීම | 주세요<br>–아/어 주세요 | 의류 ඇඳුම් |
| | 12 | 병원 옆에 약국이 있어요 රෝහල එහා පැත්තේ බෙහෙත් ශාලාව තිබෙනවා | 위치와 길 찾기 ස්ථාන සහ පාරවල් සෙවීම | 이동 동사 චලනය දක්වන ක්‍රියාපද<br>위치와 방향 ස්ථාන සහ දිශාවන් | –(으)세요<br>(으)로 | 길거리 අතුරු පාර |
| | 13 | 시청 앞에서 일곱 시에 만나요 නගර ශාලාව ඉදිරි පිට දී 7ට හමුවෙනවා | 약속 시간과 장소를 정하기 පොරොන්දු වූ වෙලාව හා ස්ථානය තීරණය කිරීම | 상태 1 තත්වය 1<br>상태 2 තත්වය 2 | –고 싶다<br>–(으)ㄹ까요 | 한국 사람들이 인사로 하는 약속 කොරියානු ජාතිකයන් ආචාර ලෙස කරන පොරොන්දු |
| | 14 | 저는 비빔밥을 먹을래요 මම පිබිම්පබ් කන්නම් | 음식 주문하기 කෑම ඕඩර් කිරීම | 식당 ආපන ශාලාව<br>음식의 맛 කෑම රස | –(으ㄹ래요<br>안 | 음식 메뉴 කෑම මෙනුව |
| | 15 | 날씨가 맑아서 기분이 좋아요 කාලගුණය පැහැදිලි නිසා සිතට සතුටුයි. | 날씨와 기분 이야기하기 කාලගුණය සහ හැඟීම් ප්‍රකාශ කිරීම | 날씨와 계절 කාලගුණය සහ සෘතු<br>기분과 감정 හිතේ සතුට අසතුට සහ හැඟීම් | –네요<br>–아서/어서 | 한국의 사계절 කොරියාවේ සෘතු හතර |
| | 16 | 시간이 있을 때 주로 테니스를 치러 가요 වෙලාව තිබෙන වෙලාවට නිතරම ටෙනිස් ක්‍රීඩාකරන්න යනවා | 취미 이야기하기 විනෝදාංශ පැවසීම | 취미 විනෝදාංශ<br>운동 ක්‍රීඩා | –(으)ㄹ 때<br>–(으)러 가다 | 취미 활동 프로그램 විනෝදාංශ ක්‍රීඩා වැඩසටහන් |
| | 17 | 휴가 때 제주도에 다녀올 거예요 නිවාඩුවේ දී ජේජු දූපතට යන්න ඉන්නවා | 여행 경험 및 계획 이야기하기 සංචාරක අත්දැකීම් හා සැලසුම් පිළිබඳව කතා කිරීම | 여행지 සංචාරක ස්ථාන<br>여행 준비와 활동 සංචාරය සඳහා සූදානම හා ක්‍රියාකාරකම් | –아/어 보다<br>–(으)ㄹ 거예요 | 한국의 관광지 කොරියාවේ සංචාරක ස්ථාන |



| 주제<br>විශය | 과<br>පාඩම | 제목<br>මාතෘකාව | 기능/직무 구조<br>කාර්ය ව්‍යුහය | 어휘<br>වචන මාලාව | 문법<br>සංවාදය | 정보/문화<br>තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 일상 및 여가생활<br>දෛනික හා විවේක ජීවිතය | 18 | 버스나 지하철을 타고 가요<br>බසයේ හෝ උමං දුම්රියේ නැගලා යනවා | 교통수단과 소요 시간 말하기<br>ප්‍රවාහනය සහ කාල සීමාව ගැන කථා කිරීම | 교통<br>ප්‍රවාහනය<br>이동<br>ස්ථානයකින් ස්ථානයකට ගමන් කිරීම | (이)나,<br>에서 까지 | 대중교통 이용 방법<br>පොදු ප්‍රවාහනය භාවිතා කරන ආකාරය |
| | 19 | 거기 한국가구지요?<br>ඔය කොරියන් ලී බඩුද? | 전화하기 දුරකථන ඇමතුම්<br>인터넷에 대해 말하기<br>අන්තර්ජාලය පිළිබඳව කතා කිරීම | 전화<br>දුරකථනය<br>인터넷<br>අන්තර්ජාලය | －지요<br>－고 | 생활에 유용한 전화번호<br>අත්‍යවශ්‍ය දුරකථන අංක |
| | 20 | 저는 설거지를 할게요<br>මම පිඟන් සෝදන්නම් | 집안일 부탁하기<br>ගෙදරදොර වැඩට උදවු ඉල්ලීම<br>집안일 말하기<br>ගෙදරදොර වැඩ ගැන පැවසීම | 청소<br>පිරිසිදු කිරීම<br>집안일<br>ගෙදරදොර වැඩ | －(으)ㄹ게요<br>－는 것 | 쓰레기 종량제와 분리수거<br>කසල ප්‍රමාණය හා වෙන්කිරීම |
| | 21 | 상 차리는 것을 도와줄까요?<br>මේස පුටු පිළිවෙලට සකසන්න උදව් කරනවද? | 설명하기<br>පැහැදිලි කිරීම<br>허락 구하기<br>අවසර ඉල්ලීම | 약속<br>පොරොන්දුව<br>초대<br>ආරාධනාව | －는데/(으)ㄴ데<br>－(으)ㄹ까요 | 집들이 선물<br>ගෙට ගෙවදීමේ තෑගි |
| | 22 | 무단횡단을 하면 안 돼요<br>නොසැලකිල්ලෙන්/වැරදි ස්ථානයකින් පාර මාරුවීම නොකළ යුතුය | 금지하기<br>තහනම් කිරීම<br>이유 말하기<br>හේතු දැක්වීම | 금지 තහනම්<br>하면 안 되는 행동<br>කිරීමෙන් වැලකිය යුතු ක්‍රියාවන් | －(으)면 안 되다<br>－(으)니까 | 공공장소 표지판<br>පොදු ස්ථාන වල සංඥා පුවරු |
| | 23 | 어른께는 두 손으로 물건을 드려야 돼요<br>වැඩිහිටියන්ට භාණ්ඩයක් ලබා දීමේදී අත් දෙකින්ම අල්ලා දිය යුතුයි | 높임말 말하기<br>ගෞරවාන්විත භාෂාවෙන් කථා කිරීම<br>조언하기<br>උපදෙස් ලබාදීම | 어휘 높임<br>ගෞරවාර්ථ වචන<br>생활 예절<br>ජීවන සාරධර්ම | －(으)시－<br>－아야/어야 되다/하다 | 한국인들에게 나이란?<br>කොරියානුවන්ට වයස යන්නෙහි අර්ථය? |
| | 24 | 한국 영화를 보면서 공부해요<br>කොරියන් චිත්‍රපට බලමින් ඉගෙන ගන්නවා | 공부 방법 말하기<br>පාඩම් කරන ආකාරය පැවසීම<br>신청 방법 설명하기<br>අයදුම් කරන ආකාරය පැවසීම | 공부<br>පාඩම් කිරීම/ඉගනගැනීම<br>교육<br>අධ්‍යාපනය | －(으)면서<br>－기 쉽다/어렵다 | 외국인 근로자 교육 프로그램<br>විදේශිය කම්කරුවන් සඳහා වන අධ්‍යාපන වැඩසටහන |
| | 25 | 일요일마다 교회에 가요<br>සෑම ඉරිදාවක් පාසා පල්ලි යනවා | 빈도 표현하기<br>වාර ගණන ප්‍රකාශ කිරීම<br>소원 말하기 ප්‍රාර්ථනාවක් පිළිබඳ ප්‍රකාශ කිරීම | 종교<br>ආගම්<br>종교 활동<br>ආගමික ක්‍රියාකාරකම් | 마다<br>－았으면/었으면 좋겠다 | 종교 행사<br>ආගමික උත්සවය |
| 공공기관<br>පොදු ආයතන | 26 | 밥을 먹은 후에 이 약을 드세요<br>ආහාර ගෙන අවසන් වූ පසු මේ බෙහෙත් බොන්න | 순서 말하기<br>අනුපිළිවෙල ගැන කථා කිරීම<br>금지하기<br>තහනම් කිරීම | 신체<br>ශරීරයේ කොටස්<br>증상<br>ලක්ෂණ | －(으)ㄴ 후에<br>－지 마세요 | 가정 비상약<br>ප්‍රථමාධාර පෙට්ටිය |
| | 27 | 어디가 아프십니까?<br>කොහේද රිදෙන්නේ? | 조건 말하기 අවශ්‍යතාවයන් ගැන කතා කිරීම<br>증상 묻고 대답하기<br>රෝග ලක්ෂණ අසා දැනගැනීම | 병원<br>රෝහල<br>치료<br>ප්‍රතිකාරය | －(으)면<br>－ㅂ/습니까, －ㅂ/습니다 | 외국인 근로자 센터 진료 안내<br>විදේශීය කම්කරු මධ්‍යස්ථානයේ ප්‍රතිකාර තොරතුරු |
| | 28 | 통장을 만들려고 왔어요<br>බැංකු ගිණුමක් සාදාගැනීමට ආවේ. | 의도 말하기<br>අරමුණක් පැවසීම<br>방법 표현하기<br>යමක් සිදුකරන ක්‍රමය පැවසීම | 은행 බැංකුව<br>은행 업무/현금인출기<br>බැංකු කටයුතු/ මුදල් දමන, ආපසු ගන්නා යන්ත්‍රය | －(으)려고<br>－(으)면 되다 | 외국인 근로자 전용 금융 서비스<br>විදේශීය කම්කරුවන් සඳහා වන මූල්‍යමය සේවාවන් |
| | 29 | 필리핀으로 엽서를 보내고 싶은데요<br>පිලිපීනයට තැපැල් පතක් යවන්න ඕනේ | 편지 보내기 ලියුමක් යැවීම<br>요청하기<br>යෝජනා කිරීම | 우편물 ලියුම්<br>소포/택배<br>මේල් (පෙට්ටි) / පාර්සල් | (으)로<br>－(으)십시오 | 국제 특급 우편 서비스<br>තොරතුරු |
| | 30 | 거기에서 태권도를 배울 수 있어요?<br>ඔතනින් තෙක්වොන්දෝ පුහුණු වෙන්න පුළුවන්ද? | 이용 문의하기<br>අසා දැනගැනීම<br>교육 신청하기<br>අධ්‍යාපනය ලැබීමට අයදුම් කිරීම | 교육 및 서비스<br>අධ්‍යාපනය සහ සේවා<br>외국인력 지원 센터 이용<br>විදේශීය කම්කරු සහයෝගීතා මධ්‍යස්ථානය භාවිතය | －(으)ㄹ 수 있다/없다<br>－(으)려면 | 외국인 근로자를 위한 지원 기관<br>විදේශීය කම්කරුවන් සඳහා තිබෙන සහන මධ්‍යස්ථාන |

# 2권 교재 구성표

පෙළ පොතේ අන්තර්ගතය

| 주제<br>විශය | 과<br>පාඩම | 제목<br>මාතෘකාව | 기능/직무 구조<br>කාර්ය ව්‍යුහය | 어휘<br>වචන මාලාව | 문법<br>සංවාදය | 정보/문화<br>තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 한국에 대한 이해<br>කොරියාව පිළිබඳ දැනගැනීම | 31 | 우리 고향은 서울보다 공기가 맑아요<br>අපේ රටේ සෝවුල් වලට වඩා වාතය ගොඩක් පිරිසිදුයි | 날씨 표현하기<br>කාලගුණය වාර්තා කිරීම<br>비교하기<br>සංසන්ධනය කිරීම | 날씨<br>කාලගුණය<br>도시의 특성<br>නගර වල විශේෂ ලක්ෂණ | –지만<br>보다 | 한국의 행정구역<br>කොරියාවේ පරිපාලන දිස්ත්‍රික්ක |
| | 32 | 복날에는 삼계탕을 먹어요<br>බොක්නල් (උණුසුම වැඩිම දිනයට) දිනයට සම්ගේට්ටන් ආහාරයට ගන්නවා | 한국의 음식 문화 알기<br>කොරියාවේ ආහාරපාන හා සම්බන්ධ සංස්කෘතිය පිළිබඳ දැනගැනීම<br>조리법 설명하기 අහර පිලියෙල කරන ආකාරය | 계절 음식<br>ඍතු වලට ආවේනික අහර<br>재료 및 조리법<br>අමුද්‍රව්‍ය හා සාදන ආකාරය | –(으)ㄴ<br>–아서/어서 | 특별한 날 먹는 음식<br>විශේෂ දිනවලදී ආහාරයට ගන්න කෑම ජාති |
| | 33 | 송편을 만드는 체험도 할 수 있어요<br>සොංපෙයාන් හදන අත්දැකීමක් ලබා ගන්න පුළුවන් | 추측하기<br>අනුමත කිරීම<br>계획 말하기<br>සැලැස්ම ගැන කතා කිරීම | 설날<br>අලුත් අවුරුද්ද<br>추석<br>චුසොක් | –겠–<br>–는 | 한국의 명절<br>කොරියාවේ නිවාඩු |
| | 34 | 아기 옷을 선물하는 게 어때요?<br>දරුවාට ඇඳුම් තෑගි විදිහට දෙන එක කොහොමද? | 추천하기<br>අනුමත කිරීම<br>순서 말하기<br>පිළිවෙල ගැන කතා කිරීම | 특별한 날<br>විශේෂ දින<br>결혼 문화<br>විවාහ සංස්කෘතිය | –는 게 어때요<br>–고 나서 | 한국인의 경조사<br>කොරියානුවන්ගේ පවුල් වල වැදගත් සිදුවීම් |
| | 35 | 한국 드라마가 재미있잖아요<br>කොරියන් නාට්‍ය විනෝදජනකය | 이유 말하기<br>හේතුදැක්වීම<br>추측하기<br>අනුමාන කිරීම | 한류<br>කොරියන් නව කලාව<br>경제 및 산업<br>කර්මාන්ත සහ කොරියන් ආර්ථිකය | –잖아요<br>–는/(으)ㄴ 것 같다 | 한류 여행<br>හන්ල්‍යු සංචාර |
| 직장문화<br>වැඩපොළේ සංස්කෘතිය | 36 | 단정한 모습이 좋아 보여요<br>පිළිවෙලකට ඇඳලා ඉන්නකොට පෙනුම හොඳයි | 복장 설명하기<br>ඇඳුම පිළිබඳ විස්තර කිරීම<br>충고하기<br>උපදෙස් දීම | 복장<br>ඇඳුම<br>태도<br>ආකල්ප | –아/어 보이다<br>–게 | 작업 현장의 복장<br>වැඩකරන තැන අඳින ඇඳුම |
| | 37 | 출입문을 꼭 닫읍시다<br>ඇතුල් වීමේ / පිටවීමේ දොරටුව අනිවාර්යයෙන්ම වහමු | 기숙사 주의사항 알리기<br>නේවාසිකාගාරයේ දී අවධානය යොමු කළ යුතු කරුණු දැන්වීම | 기숙사<br>නේවාසිකාගාරය<br>냉난방기<br>වායු සමීකරණ,තාපකය | –(으)ㅂ시다<br>–는 동안 | 한국의 주거 형태<br>කොරියාවේ වාසස්ථාන ප්‍රභේද |
| | 38 | 일할 맛이 나요<br>වැඩකරන්න ආසා හිතෙනවා | 직장의 분위기 소개하기<br>වැඩපලේ පරිසරය<br>동료와의 갈등 표현하기<br>වටපිටාව හඳුන්වා දීම, සම සේවකය සමඟ ඇති ගැටුම් පැහැදිලි කර දීම | 직장의 분위기<br>වැඩපළේ පරිසරය<br>동료와의 갈등<br>වටපිටාව සම සේවකයන්ගේ ගැටුම් | –는/(으)ㄴ 편이다<br>–다고 하다 | 직장 내에서의 호칭<br>වැඩපලේ තනතුරු. |
| | 39 | 오늘 회식을 하자고 해요<br>අද භෝජන සංග්‍රහයක් පවත්වන්න අදහස් කරනවා | 회식 일정 공지하기<br>භෝජන සංග්‍රහ කාලසටහන නිවේදනය කිරීම<br>새 직원 소개하기 නව කාර්ය මණ්ඩලයක් හඳුන්වා දීම | 회식<br>භෝජන සංග්‍රහ<br>직장에서의 모임<br>වැඩ රැස්වීම් | –자고 하다<br>–(으)라고 하다 | 한국의 회식 문화<br>කොරියානු ආහාර සංස්කෘතිය |
| | 40 | 불쾌감을 느꼈다면 그건 성희롱이에요<br>අපහසුවක් දැනුනානම් එය ලිංගික හිංසනයක | 성희롱 예방 조언하기<br>ලිංගික හිංසනය වැලැක්වීම සඳහා වන උපදෙස්<br>성추행에 대한 강의 듣기<br>ලිංගික හිංසනය පිළිබඳව පන්තිවලට සවන්දීම | 성희롱<br>ලිංගික හිංසනය<br>성희롱 대처 방법<br>ලිංගික හිංසනය නවත්වන නීති | –냐고 하다<br>간접화법의 축약형 | 성희롱의 개념과 처벌<br>ලිංගික හිංසනයේ අර්ථදැක්වීම හා දඬුවම් |
| | 41 | 드라이버로 해 보세요<br>ඉස්කුරුප්පු නියනින් කරලා බලන්න | 작업 도구 제안하기<br>වැඩට භාවිතාකරන උපකරන යෝජනා කිරීම<br>작업 상황 설명하기<br>වැඩ විස්තර කිරීම | 제조업 수공구 නිෂ්පාදන කර්මාන්තයේ දී භාවිත කරන අත් උපකරණ<br>제조업 기계 නිෂ්පාදන කර්මාන්තයේ දී භාවිත කරන යන්ත්‍ර සූත්‍ර | (으)로<br>–고 있다 | 작업에 필요한 도구<br>වැඩකරන උපකරන යෝජනා කිරීම / වැඩ පරිසරය විස්තර කිරීම |
| | 42 | 이 기계 어떻게 작동하는지 알아요?<br>මෙම යන්ත්‍රය වැඩකරන්නේ කොහොමද කියල දන්නවා ද? | 기계 작동법 설명하기<br>යන්ත්‍රය වැඩකරන ආකාරය පැවසීම<br>작업 보고하기<br>වැඩ වාර්තා කිරීම | 기계 작동<br>යන්ත්‍රය වැඩකරන ආකාරය<br>포장 작업<br>ඇසිරීමේ වැඩ | –는지 알다/모르다<br>–(으)ㄹ 것 같다 | 안전한 도구 및 기계 사용법<br>ආරක්ෂා සහිත උපකරණ හා යන්ත්‍ර භාවිතා කරන අකාරය |



| 주제<br>විශය | 과<br>පාඩම | 제목<br>මාතෘකාව | 기능/직무 구조<br>කාර්ය ව්‍යුහය | 어휘<br>වචන මාලාව | 문법<br>සංවාදය | 정보/문화<br>තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 직장생활<br>වැඩපොළේ ජීවිතය | 43 | 철근을 옮겨 놓으세요<br>යකඩ කම්බි ගෙනත් තබන්න | 작업 지시하기<br>වැඩ අධීක්ෂණය<br>작업 확인하기<br>වැඩ අධීක්ෂණය / වැඩ පරීක්ෂා කිරීම | 건설 현장<br>ඉදිකිරීමේ වැඩපොළ<br>유통업 포장<br>පාර්සල් බෙදාහැරීම | –아/어 놓다<br>–지요 | 건설 현장의 중장비<br>ඉදිකිම් වැඩපොළේ තිබෙන බර යන්ත්‍ර |
| | 44 | 페인트 작업을 했거든요<br>තීන්ත ආලේප කරන වැඩය කලා | 작업장 환경 묘사하기<br>සේවා ස්ථානයේ පරිසරය විස්තර කිරීම<br>정리 정돈 말하기<br>අස්කරන ආකාරය පැවසීම | 작업장 환경<br>සේවා ස්ථානයේ පරිසරය<br>폐기물과 정리 도구<br>අපද්‍රව්‍ය හා අස්කරන උපකරණ | –거든요<br>–아지다/어지다 | 작업 도구 정리 정돈<br>වැඩට ගන්නා උපකරණ පිළිවෙලට තැබීම |
| | 45 | 호미를 챙겼는데요<br>අත්මුල්ලුවනෙ රැගෙන ආවේ | 작업 변경 요구하기<br>වැඩ වෙනස්කිරීමට ඉල්ලීම<br>작업 요청하기<br>වැඩ ඉල්ලීම | 농업 1<br>කෘෂිකර්මය 1<br>농업 2<br>කෘෂිකර්මය 2 | –는데요<br>–기 전에 | 한국 농촌의 사계절<br>කොරියාවේ ගොවිපොලවල්වල සෘතු හතර |
| | 46 | 더 신경 쓰도록 하자<br>තව හොඳට අවධානය යොමු කරමු | 문제 원인 찾기<br>ප්‍රශ්නයට හේතුව සෙවීම<br>해결 방안 말하기<br>විසඳන ආකාරය පැවසීම | 축산업<br>පශු සම්පත් කර්මාන්තය<br>어업<br>ධීවර කර්මාන්තය | –도록 하다<br>–게 되다 | 축산업과 어업 현장의 직업<br>පශු සම්පත් කර්මාන්තය හා ධීවර කර්මාන්තයෙදී කරන වැඩ |
| | 47 | 재고를 파악하는 것이 중요해요<br>භාණ්ඩ ලේඛනය අවබෝධ කරගැනීම වැදගත් | 업무 관리하기<br>වැඩ කළමනාකරණය කිරීම<br>업무 실수 말하기<br>අත් වැරදි පැවසීම | 창고 관리<br>ගබඩා කළමණාකරණය<br>가구 제조<br>භාණ්ඩ නිෂ්පාදනය | –는 것이 중요하다<br>–(으)ㄹ 것이다 | 직장에서의 칭찬 노하우<br>වැඩ පොළ තුල හොඳ පුරුදු |
| | 48 | 다치지 않도록 조심하세요<br>තුවාලයක් සිදු නොවන්න පරිස්සම් වෙන්න | 기계 작업 시 주의사항 말하기 උපකරණ වලින් වැඩ කරනවිට පරිස්සම් වියයුතු ආකාරය පැවසීම<br>위험 상황 대처하기<br>අවදානම් අවස්ථා මගහැරීම | 기계 작업<br>උපකරණ වලින් කරන වැඩ<br>재해<br>විනාශයන් | –(으)ㄴ 적이 있다/없다<br>–지 않도록 조심하다 | 작업장 사고<br>වැඩපොළේ අනතුරු |
| | 49 | 안전화를 안 신으면 다칠 수 있어요<br>ආරක්ෂිත සපත්තු පළඳින්නේ නැත්නම් තුවාල වෙන්න පුළුවන් | 위험 상황 예방하기<br>අනතුරුදායක තත්වයන්ගෙන් වැළකීම<br>위험 가능성 경고하기<br>අනතුරුගැන අනතුරු හැඟවීම | 보호구<br>ආරක්ෂක උපකරණ<br>작업장 사고<br>වැඩබිමේ සිදුවන අනතුරු | –(으)ㄹ 수 있다<br>–기 때문에 | 신체 기관과 보호구<br>ශරීර කොටස් සහ ආරක්ෂිත උපකරණ |
| | 50 | 열심히 해 준 덕분이에요<br>මහන්සියෙන් කරල දෙන නිසා | 업무 평가하기<br>වැඩ අගය කිරීම<br>건강 말하기<br>සෞඛ්‍ය ගැන කතා කිරීම | 안전 수칙<br>ආරක්ෂිත ක්‍රියාමාර්ග<br>건강 증진<br>සෞඛ්‍ය ප්‍රවර්ධනය | –(으)ㄴ 덕분에<br>–기로 하다 | 건강을 위한 스트레칭<br>සෞඛ්‍ය පවත්වා ගැනීම උදෙසා ඇදීමේ ව්‍යායාම |

| 주제<br>විශය | 과<br>පාඩම | 제목<br>මාතෘකාව | 기능/직무 구조<br>කාර්ය ව්‍යුහය | 어휘<br>වචන මාලාව | 활동<br>ක්‍රියාකාරකම් | 정보/문화<br>තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 법령 및 제도<br>නීති සහ රෙගුලාසි | 51 | 한국에 가서 일을 하고 싶은데요<br>කොරියාවට ගිහින් වැඩ කරන්න කැමතියි | 고용허가제에 대해 묻고 답하기 රැකියා බලපත්‍ර ක්‍රමය සම්බන්ධ ප්‍රශ්ණ සහ පිළිතුරු<br>EPS–TOPIK에 대해 문의하기<br>කොරියානු භාෂාව ප්‍රවීණතා විභාගය සම්බන්ධ විමසීම් | 고용허가제<br>සේවානියුක්ති අවසරපත් ක්‍රමය<br>한국어능력시험<br>කොරියානු භාෂාව ප්‍රවීණතා විභාගය | EPS – TOPIK 신청서 작성하기<br>EPS-TOPIK විභාගයට අයදුම්පත්‍ර පිරවීම | 고용허가제 이해하기<br>සේවානියුක්ති අවසරපත් ක්‍රමය තේරුම් ගැනීම |
| | 52 | 근로 조건이 좋은 편이에요<br>රැකියා කොන්දේසි හොඳයි වගේ | 근로계약서 내용 문의하기<br>වැඩ ගිවිසුමේ අඩංගු දෑ පිළිබඳව විමසීම<br>근로 계약 체결하기<br>වැඩ ගිවිසුමක් අත්සන් කිරීම | 근로 조건<br>වැඩ කොන්දේසි<br>취업 절차<br>රැකියාවට බඳවා ගැනීමේ පියවර | 표준근로계약서 작성하기<br>සාමාන්‍ය වැඩ ගිවිසුමක් සකස්කිරීම | 표준근로계약서<br>සාමාන්‍ය වැඩ ගිවිසුම |

# 2권 교재 구성표

පෙළ පොතේ අන්තර්ගතය



| 주제<br>විශය | 과<br>පාඩම | 제목<br>මාතෘකාව | 기능/직무 구조<br>කාර්ය ව්‍යුහය | 어휘<br>වචන මාලාව | 활동<br>ක්‍රියාකාරකම් | 정보/문화<br>තොරතුරු / සංස්කෘතිය |
|---|---|---|---|---|---|---|
| 법령 및 제도<br>නීති සහ රෙගුලාසි | 53 | 외국인 등록을 하러 가요<br>විදේශීය ලියාපදිංචිය කරගැනීම සඳහා යනවා | 입국 심사 받기<br>ආගමන සමාලෝචනය ලබා ගැනීම<br>외국인 등록하기<br>විදේශීය ලියාපදිංචි වීම | 입국 절차<br>ඇතුල්වීමේ ක්‍රියාවළිය<br>외국인 등록<br>විදේශීය ලියාපදිංචි වීම | 취업 교육 이해하기<br>සේවා පුහුණුව තේරුම් ගැනීම | 외국인 등록<br>විදේශිය ලියාපදිංචිය |
| | 54 | 보험금을 신청하려고요<br>රක්ෂණ වන්දි ඉල්ලුම් කරනවා | 보험 가입하기<br>රක්ෂණ සැලසුමක් ලබා ගැනීම (ලියාපදිංචි වෙනවා)<br>보험금 청구하기<br>රක්ෂණ වන්දි ඉල්ලුම් කිරීම | 보험 가입<br>රක්ෂණ සැලසුමක් ලබා ගන්නවා<br>보험금 청구<br>රක්ෂණ වන්දි ඉල්ලනවා | 보험 안내 이해하기<br>රක්ෂණ සැලසුම් තේරුම් ගැනීම | 외국인 근로자 보험<br>විදේශීය කම්කරු රක්ෂණ |
| | 55 | 급여 명세서를 확인해 보세요<br>කරුණාකර ඔබේ ගෙවීම් පත් පරික්ෂා කර බලන්න | 급여 명세서 확인하기<br>වැටුප් වාර්තාව පරික්ෂා කිරීම<br>수당 확인하기<br>අමතර ගෙවීම් පරික්ෂා කිරීම | 급여와 세금<br>වැටුප් සහ බදු<br>수당<br>අමතර දීමනා | 급여 명세서 읽기 වැටුප් වාර්තාවේ ඉතිරි කොටස කියවීම | 월급<br>මාසික වැටුප් |
| | 56 | 이번 여름 휴가 계획은 세웠어?<br>මෙවර ගිම්හාන නිවාඩුවට මොනවද කරන්නේ කියල සැලසුම් කලාද? | 휴가 알아보기<br>නිවාඩු ගැන දැනගැනීම<br>병가 신청하기<br>ලෙඩ නිවාඩු දැමීම | 휴가<br>නිවාඩු<br>병가<br>ලෙඩ නිවාඩු | 휴가 신청서 이해하기<br>නිවාඩු අයදුම් කරන ආකාරය අවබෝධ කරගැනීම | 휴가에 대한 근로 기준법의 이해<br>නිවාඩු පිලිබඳව කම්කරු නීතිය අවබෝධ කරගැනීම |
| | 57 | 사업장을 변경하고 싶은데<br>වැඩකරන ස්ථානය මාරුකරග න්න අවශ්‍ය වුනත් | 사업장 변경 절차 알아보기<br>වැඩකරන ස්ථානය මාරුකරන ක්‍රියාවලිය දැනගැනීම<br>일시 출국 절차 확인하기<br>තාවකාලිකව රටින් පිට වීමේ ක්‍රියාවලිය පරික්ෂා කිරීම | 사업장 변경<br>වැඩකරන ස්ථානය මාරුකිරීම<br>조기 귀국과 일시 출국<br>නියමිත කාලයට පෙර ආපසු යාම හා තාවකාලිකව රටින් පිටවීම | 재입국 허가 동의서 이해하기<br>නැවත කොරියාවට ඇතුල්වීමට අවසර දීමේ ලේඛනය අවබෝධ කරගැනීම | 사업장 변경<br>වැඩකරන ස්ථානය වෙනස් කිරීම |
| | 58 | 체류 기간을 연장한 후에 꼭 신고해야 해<br>රැඳී සිටීමේ කාලය දීර්ඝ කල පසු අනිවාර්යයෙන්ම වාර්තා කල යුතුයි | 체류 연장 절차 알아보기<br>රැඳී සිටීමේ කාලය දීර්ඝ කිරීමේ ක්‍රියා පටිපාටිය දැනගැනීම<br>체류 자격 변경 이해하기<br>රැඳී සිටීමේ යෝග්‍ය තාවය වෙනස්වීම අවබෝධ කරගැනීම | 체류 기간 연장<br>රැඳී සිටීමේ කාලය දීර්ඝ කිරීම<br>체류 자격<br>රැඳී සිටීමේ යෝග්‍ය තාවය | 체류 기간 연장 신청서 작성하기<br>රැඳී සිටීමේ කාලය දීර්ඝ කිරීමේ අයදුම්පත සම්පූර්ණ කිරීම | 체류 기간 연장 신청<br>රැඳී සිටීමේ කාලය දීර්ඝ කිරීමට අයදුම් කිරීම |
| 직장생활용어<br>රැකියාවේදී භාවිතා වන | 59 | 산업 안전 I<br>කාර්මික සුරක්ෂිතභාවය 01 | 산업 안전표지 익히기<br>කාර්මික ආරක්ෂණ සලකුණු හඳුනා ගන්න<br>제조업 관련 안전 수칙 익히기<br>නිෂ්පාදනයට සම්බන්ධ ආරක්ෂන උපදෙස් හඳුනා ගන්න | 산업 안전 표지<br>කාර්මික ආරක්ෂණ සලකුණු<br>제조업 관련 안전 수칙<br>නිෂ්පාදනයට සම්බන්ධ ආරක්ෂන උපදෙස් | | 직업병<br>වෘත්තිය නිසාවෙන් ඇතිවන රෝගාබාධ |
| | 60 | 산업 안전 II<br>කාර්මික සුරක්ෂිතභාවය 02 | 건축업 관련 안전 수칙 익히기 ගොඩනැගිලි ඉදිකිරීම් කර්මාන්තයට සම්බන්ධ ආරක්ෂක උපදෙස් හඳුනාග න්න | 건축업 관련 안전 수칙<br>ගොඩනැගිලි ඉදිකිරීම් කර්මාන්තයට සම්බන්ධ ආරක්ෂක උපදෙස් | | 직업병 예방<br>වෘත්තිය නිසාවෙන් ඇතිවන රෝගාබාධ වැලැක්වීම |





선생님 ගුරුතුමා


리한 රිහන්
පාකිස්ථානය


투안 තුඅන්
වියට්නාමය


바루 පරු
ඉන්දුනීසියාව


아딧 අදිත්
තායිලන්තය


카림 කරීම්
උස්බෙකිස්ථානය


바트 බාත්
මොන්ගෝලියාව


칸 කාන්
කාම්බෝජය


타타 තාතා
ඉන්දුනීසියාව


이반 ඉබාන්
උස්බෙකිස්ථානය


인디카 ඉන්දික
ශ්‍රී ලංකාව


리리 ලිලී
චීනය


수피카 සුපිකා
සුපිකා


흐엉 හඹන්
වියට්නාමය


모니카 මොනිකා
ශ්‍රී ලංකාව


수루 සුරු
චීනය


박지훈 පාක් ජි හුන්
කොරියාව


김건우 කිම් ගොන් වු
කොරියාව


이미영 ඉ මි යොන්
කොරියාව


정소희 ජොන් සොන් හේ
කොරියාව


이민우 ඉ මින් වු
කොරියාව

## 1 භාෂා පවුල

SK 2

සිංහල භාෂාව ඉන්දු යුරෝපිය භාෂා පවුලට අයත් වන අතර කොරියන් භාෂාව අල්තායි භාෂා පවුලට අයත්වේ.

| | භාෂා පවුල | භාෂා පවුලට අයත් භාෂා |
|---|---|---|
| සිංහල භාෂාව | ඉන්දු යුරෝපිය භාෂා පවුල | හින්දි, පන්ජාබි, බෙංගාලි සහ නේපාලි වැනි භාෂා |
| කොරියන් භාෂාව | අල්තායි භාෂා පවුල | තුර්කි, උස්බෙක් සහ කසාක් වැනි භාෂා |

## 2 උච්චාරණය

① සිංහල භාෂාවෙහි කෙටි ස්වර අ, ඉ, උ, එ, ඔ, ඇ, ඎ /a, i, u, e, o, æ, ə/ 7ක් වන අතර මෙම කෙටි ස්වර සියල්ලක්ම දීර්ගව උච්චාරණය කළහැකි දීර්ඝ ස්වරයන්ද ඇත. කොරියන් භාෂාවෙහි කෙටි ස්වර 7ක් වන අතරි (අී)ස්වරය සිංහල භාෂාවෙහි දක්නට නොලැබේ.

② සිංහල භාෂාවේ, උච්චාරණය අනුව වර්ග කෙරෙන ව්‍යංජන ගණන 24ක් වන අතර කොරියන් භාෂාවේ 21ක් වේ. සිංහලයෙහි ස්පර්ශ මූලික වශයෙන් ඝෝෂාක්ෂර සහ අඝෝෂාක්ෂර ලෙස වර්ග කෙරේ. කොරියන් භාෂාව ගත්කල ව්‍යංජන උච්චාරණය කරන විට පිටවන වාතයෙහි ප්‍රබලත්වය අනුව අල්පප්‍රාණ, මහාප්‍රාණ, උගුරට බර දී කරන ශබ්ද ලෙස වර්ග කරනු ලැබේ.

③ සිංහලයෙහි 'ෆ[f]' සහ මූර්ධජ 'ට[t]', 'ඩ[d]' ශබ්දයන් ඇති නමුත් කොරියන් භාෂාවේ මෙම ශබ්දයන් දක්නට නොලැබේ. සිංහලයෙහි [l] සහ [r] ශබ්දයන්ට 'ල' සහ 'ර' ලෙස වෙන්වෙන් වූ අක්ෂරයන් තිබුනද කොරියන් භාෂාවේ මෙම ශබ්දයන් දෙකටම එකම අක්ෂරය යොදාගැනේ. 'ㄹ'ව්‍යංජන ස්වර දෙකක් අතරට යෙදෙන විට [r] ලෙස උච්චාරණය කරන අතර හල්කිරීමක් ලෙස යෙදෙන විට [l] ලෙස උච්චාරණය කරනු ලැබේ.

④ සිංහල භාෂාවේ 'ෆ[f]' අක්ෂරය ශුද්ධ සිංහල ව්‍යංජනයක් නොවන අතර ඉංග්‍රීසි භාෂාවෙන් ණයට ගත් වචන කියවීමේදී ප්‍රධාන වශයෙන් භාවිතා කෙරේ.



## 3 ව්‍යාකරණ

### 1) පද ගැලපීම

කොරියන් භාෂාවේ වාක්‍යයක පද ගැලපීම සිංහල භාෂාවේ වාක්‍යයක පද ගැලපීම හා සමාන වේ.

① සිංහල සහ කොරියන් භාෂාවන්හි වාක්‍ය ව්‍යුහය 'උක්තය + කර්මය + අඛ්‍යාතය(S+O+V)' ස්වරූපය ගන්නා බැවින් අඛ්‍යාතය සෑම විටම වාක්‍යයක අවසානයේ යෙදේ. එනමුත් වාක්‍යයක් තුළ මෙම පද වර්ග සාපේක්ෂ වශයෙන් ස්ථාන මාරු කර ලිවීමට හැකි අතර අර්ථයෙහි වෙනසක් සිදු නොවනු ඇත.

| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | මම | මල්වලට | කැමතියි. |
| කොරියන් භාෂාව | 나는 | 꽃을 | 좋아한다. |

② භාෂාවන් දෙකෙහිම වාක්‍යයක නාම පදයක හෝ ක්‍රියා පදයක පවත්නා ගුණයක් විස්තර කිරීමට භාවිතා කරන විශේෂණ පද සෑම විටම නාම පදයට හෝ ක්‍රියා පදයට ඉදිරිපසින් ලියනු ලැබේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| සිංහල භාෂාව | ලස්සන | + | මල් | → | ලස්සන මල් |
| කොරියන් භාෂාව | 예쁘다 | + | 꽃 | → | 예쁜 꽃 |

③ භාෂාවන් දෙකෙහිම වාක්‍යයක නාම පදයක හෝ ක්‍රියා පදයක පවත්නා ගුණයක් විස්තර කිරීමට භාවිතා කරන විශේෂණ පද සෑම විටම නාම පදයට හෝ ක්‍රියා පදයට ඉදිරිපසින් ලියනු ලැබේ.

| | | | | | |
|---|---|---|---|---|---|
| සිංහල භාෂාව | ඇඳුම් මිලදී ගන්න | + | ඕනේ | → | ඇඳුම් මිලදී ගන්න ඕනේ |
| කොරියන් භාෂාව | 옷을 사다 | + | 싶다 | → | 옷을 사고 싶다 |

2) පහත වාක්‍යයෙහි ‘가다’ අර්ථය ගත් ‘යනවා’ යන්න වර්තමාන කාල ක්‍රියාපදයකි. මෙම පදයෙහි කුමන කොටසින් ක්‍රියාප්‍රකෘතිය පිළිබිඹු කරන්නේද කුමන කොටසින් වර්තමාන කාලය පිළිබිඹු කරන්නේද යන්න වෙන්කොට හඳුනාගැනීම අපහසුය. තවත් උදාහරණයක් සළකා බැලුවහොත්, ‘නෑවාය’ යන්න ‘목욕했다’ යන අර්ථය වන අතර මෙම පදය ස්ත්‍රීලිංග, ඒක වචන, ප්‍රථම පුරුෂ, අතීත කාල ක්‍රියාපදයකි. එහෙත් මෙම ක්‍රියාපදයේ කුමන කොටසින් ක්‍රියාප්‍රකෘතිය පිළිබිඹු කරන්නේද,කුමන කොටසින් ප්‍රථම පුරුෂ යන්න පිළිබිඹු කරන්නේද එසේත් නැතහොත් කුමන කොටසින් ඒක වචන යන්න අතීත කාලය යන්න පිළිබිඹු කරන්නේද වෙනකොට හඳුනා ගැනීම අපහසුය.




3) සිංහල භාෂාවෙහි නාමපද, ලිංගභේදය(ස්ත්‍රී/පුරුෂ/නපුංසක), වචනභේදය(ඒක වචන/බහුවචන), ප්‍රාණවාචී/අප්‍රාණවාචී ලෙස වර්ගීකරණය කරනු ලබන අතර මීට අනුකූලව අඛ්‍යාත්‍යයේ ස්වරූපය වෙනස්වනු ඇත.

① සිංහල භාෂාවෙහි කර්තෘ නාමපදයේ ලිංගභේදයට අනුව අඛ්‍යාතය වෙනස් වේ. එහෙත් කොරියාන් භාෂාවේ කර්තෘ නාමපදයේ ලිංගභේදයට අනුව අඛ්‍යාතයේ වෙනස්වීමක් සිදු නොවේ.

සිංහල භාෂාවෙහි කර්තෘ ‘엄마(අම්මා)’ වේද ‘아버지(තාත්තා)’ වේද යන්නට අනව ‘가다(යනවා)’ හි අතීත කාලය පිළිවෙලින් ‘ගියාය’ සහ ‘ගියේය’ ලෙස වෙනස්ව ප්‍රකාශ කරන නමුත් කොරියන් භාෂාවෙහි ලිංග භේදයක් නොමැතිව ‘갔다 (ගියා)’ ලෙස ප්‍රකාශ කරනු ලැබේ.

| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | අම්මා | මල්වලට | ගියායි. |
| | තාත්තා | | ගියේය. |
| කොරියන් භාෂාව | 엄마 | 집에 | 갔다. |
| | 아버지 | | |

② සිංහල භාෂාවෙහි කර්තෘ ඒකවචන ද බහුවචන ද යන්නට අනුව අඛ්‍යාතය වෙනස් වේ. උදහරණයක් ලෙස ‘하다’ අඛ්‍යාතය යෙදෙන අවස්ථාවකදී, කර්තෘ ඒකවචන නම් ‘කරයි’ ලෙසත් බහුවචන නම් ‘කරති’ ලෙසත් ලියනු ලැබේ. නමුත් කොරියාන් භාෂාවේ නාමපදය ඒක වචන වේද බහුවචන වේද යන්න පිළිබඳ නොසලකා එකම අඛ්‍යාත ක්‍රමයට ලියනු ලැබේ.

සිංහල භාෂාවෙහි කර්තෘ ‘엄마(අම්මා)’ වේද ‘아버지(තාත්තා)’ වේද යන්නට අනව ‘가다(යනවා)’ හි අතීත කාලය පිළිවෙලින් ‘ගියාය’ සහ ‘ගියේය’ ලෙස වෙනස්ව ප්‍රකාශ කරන නමුත් කොරියන් භාෂාවෙහි ලිංග භේදයක් නොමැතිව ‘갔다 (ගියා)’ ලෙස ප්‍රකාශ කරනු ලැබේ.



| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | ශිෂ්‍යයාව | පාඩම් | කරයි. |
| | ශිෂ්‍යාවෝ | | කරති. |
| කොරියන් භාෂාව | 학생이 | 공부를 | 한다. |
| | 학생들이 | | |

③ සිංහල භාෂාවේ කර්තෘ ප්‍රාණවාචී ද අප්‍රාණවාචී ද යන්න මත අඛ්‍යාතයේ ස්වරූපය වෙනස්වෙයි. '있다 (යමක්/යම්කෙනෙක් ඇත)' යන අර්ථය දෙන වාක්‍යයක කර්තෘ ප්‍රාණවාචීනම් 'තියෙනවා' ලෙසත් කර්තෘ අප්‍රාණවාචී නම් 'ඉන්නවා' ලෙසත් ලියනු ලැබේ. එහෙත් කොරියන් භාෂාවේ ප්‍රාණවාචී ද අප්‍රාණවාචී ද යන්න පිළිබඳ නොසලකා '있다' යනක්‍රියාපදය භාවිතා කරනු ඇත.

| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | පොත | කාමරය ඇතුළේ | කරයි. |
| | ශිෂ්‍යාවෝ | | කරති. |
| කොරියන් භාෂාව | 책 | 방 안에 | 있다. |
| | 학생 | | |

4) සිංහල භාෂාවේ වාක්‍යයක අඛ්‍යාතය ලෙස විශේෂණ පදයක් යෙදෙන විට ඈඳුමක්(ප්‍රදවමක්) නොමැතිව ලිවිය හැකි අතර ක්‍රියාපද හා සමානව අඛ්‍යාතයේ හැඩයේ වෙනසක් හට නොගනියි. එසේම අඛ්‍යානය ලෙස යෙදෙන විශේෂණ පදයක් අතීත කාලයට හරවා ලිවිය නොහැකිය.

| | | |
|---|---|---|
| සිංහල භාෂාව | ඒ ළමයා | ලස්සනට හිටියා. |
| කොරියන් භාෂාව | 그 아이는 | 예뻤다. |

5) සිංහල භාෂාවේ වාක්‍යයක කර්තෘ යන්න පෙන්නවා දීමට කර්තෘකාරක නිපාත ප්‍රත්‍ය යොදා නොගත්තද කොරියන් භාෂාවේ වාක්‍යයක කර්තෘ යන්න පෙන්නවා දීමට කර්තෘකාරක නිපාත ප්‍රත්‍යය භාවිතා කෙරේ. පහත දැක්වෙන උදහරණය දෙස අවධානය යොමුකර බැලුවහොත්, සිංහල වාක්‍යය ලියවී ඇති අයුරින් '나는 그를 좋아한다' ලෙස කර්තෘකාරක නිපාත ප්‍රත්‍යය භාවිතා නොකර ලිවිය නොහැකිය.

| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | මම | එයාට | කැමති. |
| කොරියන් භාෂාව | 나 + 는 | 그를 | 좋아한다. |

6) සිංහල භාෂාවේ සර්වනාම බහුලව භාවිතා කරනු ලැබුවත් කොරියන් භාෂාවෙහි සර්ව නාම බහුලව භාවිතා නොකරයි. පහත දැක්වෙන වාක්‍ය දෙස අවසානය යොමුකළහොත්, සිංහල උදාහරණයේ මුල් වාක්‍යයේ 'යාළුවා(친구)' යන නාමපදය භාවිතා කලද දෙවැනි වාක්‍යයේ යාළුවා වෙනුවට සර්ව නාම පදයක් වන 'ඇය' යොදා ගෙන ඇති අයුරු පෙනේ. නමුත් මීට වෙනස්ව කොරියන් භාෂාවෙහි දෙවැනි වර ප්‍රකාශ කිරීමේදී කර්තෘ ඉවත් කර ලිවීම හෝ '그 친구는' ලෙස ප්‍රකාශ කරනු ලැබේ.

| | |
|---|---|
| සිංහල භාෂාව | ඊයේ යාළුවා හම්බවුණා. එයා ලස්සන වෙලා. |
| කොරියන් භාෂාව | 어제 친구를 만났다. 그 친구는 예뻐졌다. |

7) සිංහල භාෂාවේ '이මේ', '그ඔය', '저අර' පමණක් නොව කතාබහා කරන අවස්ථාවේ දක්නට නැති කතා කරන්නා සහ සවන්දෙන්නා පොදුවේ දන්නා දෙයක් හෝ පුද්ගලයෙක් පිළිබඳ ප්‍රකාශ කරන විට යොදා ගන්නා 'ඒ' යන සර්වනාම පදයද තිබේ. කොරියන් භාෂාවෙහි 'ඔය' සහ 'ඒ' යන අර්ථයන් දෙකම එකම '그'සර්වනාමය භාවිතා කර ප්‍රකාශ කරනු තිබේ.

8) සිංහල භාෂාවේ '명사 + 이다 ('වෙමි', 'ය')' ස්වරූපයේ වාක්‍යකින් 'වෙමි' සහ 'ය' ඉවත්කර ද ලිවිය හැකි නමුත් කොරියන් භාෂාවෙහි '이다' ප්‍රත්‍ය ඉවත්කර ලිවිය නොහැකිය.

| | |
|---|---|
| සිංහල භාෂාව | මෙය මලක්වේ. (◯)<br>මෙය මලක්. (◯) |
| කොරියන් භාෂාව | 이것은 꽃이다. (○)<br>이것은 꽃. (X) |



9) සිංහල භාෂාවේ ගෞරවාර්ථ, බහු වචන නාම පද යොදා ගනිමින් ප්‍රකාශ කරනු ඇත. බහු වචන ක්‍රියාපද අඛ්‍යාතය වශයෙන් ලිවීමෙන් ද ගෞරව ලැබිය යුතු උසස් පුද්ගලයෙක් යන්න පෙන්වා දිය හැකිය. කොරියන් භාෂාවෙහි විවිධාකාරයෙන් ගෞරවාර්ථය ප්‍රකාශ කළ හැක. මාතෘකාවට ලක් වෙන්නාව උසස් කිරීමට නාම පදයට පිටුපසින් '께' ප්‍රත්‍ය එකතු කර, අඛ්‍යාතයට '-시-' සම්බන්ධ කර ලියනු ඇත. ඒවගෙ ʼම කොරියානු වාග් මාලාවේ සමහර වචනවල ගෞරවාර්ථ පද ද වෙනම දක්නට ලැබේ. සිංහල භාෂාවේ සවන්දෙන්නා උසස් කර දක්වන ගෞරවාර්ථ ක්‍රම නොමැති නමුත් කොරියන් භාෂාව ගත්කල වාක්‍ය අවසාන නිපාත ප්‍රත්‍යයෙන් සවන්දෙන්නා කෙතරම් ප්‍රමාණයකින් උසස් කොට සලකන්නේද යන්න පිළිබිඹු කරනු ලැබේ.

| | | | |
|---|---|---|---|
| සිංහල භාෂාව | අක්කා | ගෙදර | ගියාය. |
| | අම්මා | | |
| කොරියන් භාෂාව | 언니 | 집에 | 갔다. |
| | 어머니 | | 가셨다. |

# 01 한글 익히기 I

## කොරියානු හෝඩිය ඉගෙන ගැනීම I

### 1 한글 소개 කොරියානු හෝඩිය හැඳින්වීම. K-1

කොරියානු හෝඩිය ජොසොන් රාජවංශයේ සෙජොං රජතුමා විසින් වර්ෂ 1443 දී නිර්මාණය කරන ලදී. ඊට පෙර කොරියානු භාෂාව ලිවීම සඳහා චීන රූපාක්ෂර වන 'හන්ජා' භාවිතා විය. එහෙත් චීන රූපාක්ෂර ලිවීමේ කාර්යය අධ්‍යාපනය නොලැබූ සාමාන්‍ය මිනිසුන්ට ඉතා අපහසු විය. එබැවින් සෙජොං රජතුමා විසින් සාමාන්‍ය මිනිසුන්ටද පහසුවෙන් ලිවිය හැකි කොරියානු අක්ෂර හෝඩිය නිර්මාණය කරන ලදී.

**(1) ස්වරාක්ෂර මේ ආකාරයට නිර්මාණය කරන ලදී.**



| | |
|---|---|
| • | අහස |
| ㅡ | පොළොව |
| ㅣ | මිනිසා |

| | |
|---|---|
| ㅣ+ • = | ㅏ [a] |
| ㅣ + • • = | ㅑ [ja] |
| • + ㅡ = | ㅗ [o] |
| • • + ㅡ = | ㅛ [jo] |

අහස( • ), පොළොව(ㅡ) සහ මිනිසා ( ㅣ ) ගේ හැඩය ගන්නා මූලික ස්වරාක්ෂර 3 ආශ්‍රය කොටගෙන ㅏ, ㅑ, ㅓ, ㅕ, ㅗ, ㅛ, ㅜ, ㅠ නිර්මාණය කොට ඇත. ඉතිරි ස්වරාක්ෂර ද මූලික අක්ෂර එකට සම්බන්ධ කර නිර්මාණය කර ඇත.

**(2) ව්‍යංජන අක්ෂර මේ ආකාරයට නිර්මාණය වී ඇත.**




උච්චාරණය කරන විට උපයෝගී වන ශරීර ඉන්ද්‍රියෙහි හැඩයට අනුව මූලික ව්‍යංජන අක්ෂර වන ㄱ, ㄴ, ㅁ, ㅅ, ㅇ සෑදී ඇත.

| | | |
|---|---|---|
| ㄱ [k/g] | → ㅋ [kʰ] | වාතයේ ප්‍රබලතාවය වැඩි ශබ්ද ලිවීම සඳහා මූලික අක්ෂරයට තවත් එක ඉරි කැබැල්ලක් එකතු කර ㅋ, ㅌ, ㅍ, ㅊ නිර්මාණය වී ඇත. |
| ㄷ [t/d] | → ㅌ [tʰ] | |
| ㅂ [p/b] | → ㅍ [pʰ] | |
| ㅈ [ʧ/ʤ] | → ㅊ [ʧʰ] | |

| | | |
|---|---|---|
| ㄱ [k/g] | → ㄲ [k´] | උගුරට බර දී ශබ්ද කරන ද්විත්ව අක්ෂර එකම මූලික අක්ෂරය දෙවරක් ලිවීමෙන් නිර්මාණය කළ අතර ඒවා ㄲ, ㄸ, ㅃ, ㅆ, ㅉ වේ. |
| ㄷ [t/d] | → ㄸ [t´] | |
| ㅂ [p/b] | → ㅃ [p´] | |
| ㅅ [s] | → ㅆ [s´] | |
| ㅈ [ʧ/ʤ] | → ㅉ [ʧ´] | |

### (3) අක්ෂරාණු මෙලෙස ලිවිය හැකි වේ.

ව්‍යංජනයක් සමඟ ස්වරයක් සම්බන්ධ වී අක්ෂරාණුවක් නිර්මාණය වේ. කොරියානු අක්ෂරාණු ලිවීමේදී සැමවිටම ව්‍යංජනයක් සහ ස්වරයක් තිබිය යුතුය. ස්වරය ඉදිරියෙන් ව්‍යංජනයක් නොපැමිණියහොත් නිතරම ‘ㅇ’ ලියනු ලබයි. ‘ㅇ’ ව්‍යංජන ස්වරයකට ඉදිරියෙන් පැමිණියහොත් ශබ්ද කර කියවනු නොලබයි. ස්වරයකට පසුව යෙදෙන ‘ㅇ’ පමණක් ශබ්ද කර කියවයි. අක්ෂරාණු ලිවීමේදී ව්‍යංජන සහ ස්වර වෙන වෙනම ලිවිය නොහැකි අතර හුදෙක් ව්‍යංජනය අක්ෂරාණුවට ඉදිරියෙන් සහ අවසානයේදී යෙදිය හැකි වේ.

| | | | |
|---|---|---|---|
| ① | ව්‍යංජනය + ස්වරය (සිරස්) | CV | 나 |
| | ව්‍යංජනය<br>+<br>ස්වරය (තිරස්) | C<br>V | 노 |
| ② | (‘ㅇ’ නො කියවයි) ව්‍යංජනය + ස්වරය (සිරස්) | CV | 아 |
| | (‘ㅇ’ නො කියවයි ) ව්‍යංජනය<br>+<br>ස්වරය (තිරස්) | C<br>V | 오 |
| ③ | ව්‍යංජනය + ස්වරය (සිරස්)<br>+<br>ව්‍යංජනය (හල් කිරීම) | CV<br>C | 밥 |
| | ව්‍යංජනය<br>+<br>ස්වරය (තිරස්)<br>+<br>ව්‍යංජනය (හල් කිරීම) | C<br>V<br>C | 문 |
| ④ | (‘ㅇ’ නො කියවයි ) ව්‍යංජනය + ස්වරය(සිරස්)<br>+<br>ව්‍යංජනය(හල් කිරීම) | CV<br>C | 안 |
| | (‘ㅇ’ නො කියවයි ) ව්‍යංජනය<br>+<br>ස්වරය(තිරස්)<br>+<br>ව්‍යංජනය (හල් කිරීම) | C<br>V<br>C | 웅 |

## 2 모음 1 ස්වර 1

K-2

කොරියානු භාෂාවෙහි සියලුම ස්වර 21කි. ස්වර අක්ෂර, සිරස් අතට ලියන ස්වර ㅣ, ㅏ, ㅑ, ㅓ, ㅕ ලෙසද, තිරස් අතට ලියනු ලබන ස්වර ㅡ, ㅗ, ㅛ, ㅜ, ㅠ ලෙසද වේ.

### 1. ස්වර අක්ෂර උච්චාරණය.



මෙතැන් පටන් ස්වර අක්ෂර උච්චාරණය ගැන ඉගෙන ගනිමුද? මුලින්ම කණ්ණාඩියක් සුදානම් කර ගන්න. ස්වරයට සවන් දී කණ්ණාඩිය දෙස බලමින් පින්තූරයේ දිස් වන තොල් පිහිටීමේ ආකාරයට පුනුරුච්චාරණය කර බලන්න. සිරස් අතට පිහිටි ස්වර සහ තිරස් අතට පිහිටි ස්වර ලෙස වෙනකොට අභ්‍යාස කරමු.

| සිරස් අතට පිහිටි ස්වර. | | තිරස් අතට පිහිටි ස්වර. | |
|---|---|---|---|
| ㅣ [i] |  | ㅡ [ɨ] |  |
| ㅏ [a] |  | ㅗ [o] |  |
| ㅑ [ja] |  [i] + [a] | ㅛ [jo] |  [i] + [o] |
| ㅓ [ʌ] |  | ㅜ [u] |  |
| ㅕ [jʌ] |  [i] + [ʌ] | ㅠ [ju] |  [i] + [u] |



නැවත වරක් අභ්‍යාස කර බලමුද?

**(1)** ‘ㅏ’ උච්චාරණය කර බලන්න. ‘ㅓ’ උච්චාරණය කර බලන්න. ‘ㅏ’ සහ ඔ ‘ㅓ’ අක්ෂර වල තොලේ හැඩය කෙසේ වෙනස් වන්නේද?

මුඛය විශාල ලෙස විවෘත කර ‘ㅏ’ උච්චාරණය කර මුඛය මඳක් වසා ‘ㅓ’ උච්චාරණය කර බලන්න. මුඛයේ හැඩය පිළිබඳව අවදානය යොමු කරමින් ‘ㅏ’ සහ ‘ㅓ’ අක්ෂර කිහිපවරක් උච්චාරණය කර බලන්න.

| | | | |
|---|---|---|---|
| ㅏ [a] |  | ㅓ [ʌ] |  |

**(2)** ‘ㅜ’ අක්ෂරය උච්චාරණය කර බලන්න. ‘ㅗ’ උච්චාරණය කර බලන්න. ‘ㅜ’ සහ ‘ㅗ’ උච්චාරණයේදී තොල් වල හැඩය කෙසේ වෙනස් වන්නේද?

‘ㅜ’ අක්ෂරය උච්චාරණයේදී තොල් ඉදිරියට රවුම් කර, ‘ㅗ’ උච්චාරණයේදී තොල් වල හැඩය රවුම් ආකාරයට මඳක් විවෘත කර උච්චාරණය කළ යුතුයි. තොල් වල හැඩය පිළිබඳව අවධානය යොමු කරමින් ‘ㅜ’ සහ ‘ㅗ’ අක්ෂර කිහිපවරක් උච්චාරණය කරන්න.

| | | | |
|---|---|---|---|
| ㅜ [u] |  | ㅗ [o] |  |

**(3)** ‘ㅣ’ අක්ෂරය උච්චාරණය කර බලන්න. ‘ㅡ’ අක්ෂරය උච්චාරණය කර බලන්න. ‘ㅣ’ සහ ‘ㅡ’ අක්ෂරය උච්චාරණය කරන විට මුඛයේ හැඩය කෙසේ වෙනස් වන්නේද?

‘ㅣ’ උච්චාරණය කරන විට ‘ㅡ’ උච්චාරණය කරනවාට වඩා දිව තවත් ඉදිරියට පැමිණේ. ‘ㅡ’ උච්චාරණයේ දී දිව ඉදිරියට නොදැම්ම ද තොල් රවුම් නොකළ ද මුඛය විශාල ලෙස විවෘත නොකළ ද ගැටළුවක් නොමැත. ස්වභාවික ලෙස වාතය පිටවන ආකාරයට පමණක් මුඛය ටිකක් විවෘත කර උච්චාරණය කර බලන්න. මුඛයේ හැඩය ගැන අවධානය යොමු කරමින් ‘ㅣ’ සහ ‘ㅡ’ උච්චාරණය කර බලන්න.

| | | | |
|---|---|---|---|
| ㅣ [i] |  | ㅡ [ɨ] |  |



මෙතැන් පටන් ස්වර දෙකකින් සංයෝජිත වූ සංයුක්ත ස්වර අභ්‍යාස කර බලමුද? සිරස් අතට ලියනු ලබන ස්වර අක්ෂර අතරින් 'ㅑ, ㅕ' වැනි කෙටි තිරස් රේඛා දෙකක් ඇති ස්වර සහ තිරස් ස්වර අතරින් 'ㅛ, ㅠ' වැනි කෙටි සිරස් රේඛා දෙකකින් සමන්විත ස්වර සංයුක්ත ස්වර වේ.

**(1)** 'ㅑ' අක්ෂරය උච්චාරණය කර බලන්න. 'ㅕ' අක්ෂරය උච්චාරණය කර බලන්න.
'ㅑ' අක්ෂරය උච්චාරණය කරන විට 'ㅣ' අක්ෂරය කෙටිව ද, 'ㅏ' අක්ෂරය දීර්ඝව ද ශබ්ද කරන්න. 'ㅕ' අක්ෂරය උච්චාරණය කිරීමේ දී 'ㅣ' අක්ෂර කෙටිව ද, 'ㅓ' අක්ෂරය දීර්ඝව ද ශබ්ද කරන්න. මෙවිට ස්වර දෙකම එක සමාන ප්‍රමාණයට උච්චාරණය කළ යුතු අතර වෙන් වෙන් වූ කෙටි ස්වර ලෙස උච්චාරණය කිරීම නොකළ යුතුය.

| | | | |
|---|---|---|---|
| ㅑ [ja] |  [i] + [a] | ㅕ [jʌ] |  [i] + [ʌ] |

**(2)** 'ㅛ' උච්චාරණය කර බලන්න. 'ㅠ' උච්චාරණය කර බලන්න.
'ㅛ' උච්චාරණයේ 'ㅣ' කෙටියෙන් ද, 'ㅗ' දීර්ඝව ද උච්චාරණය කරන්න. 'ㅠ' උච්චාරණය කිරීමේ දී 'ㅣ' කෙටිව ද, 'ㅜ' දීර්ඝ ලෙස ද ශබ්ද කරන්න. මෙවිට ස්වර දෙකම එක සමාන ප්‍රමාණයට උච්චාරණය කළ යුතු අතර වෙන් වෙන් වූ කෙටි ස්වර ලෙස උච්චාරණය කිරීම නොකළ යුතුය.

| | | | |
|---|---|---|---|
| ㅛ [jo] |  [i] + [o] | ㅠ [ju] |  [i] + [u] |

## 2. ස්වර ලිවීම

එසේ නම් ස්වර කෙසේ ලියන්නේ ද? සිරස් අතට අක්ෂර ලිවීමේ දී උඩ සිට පහලටත්, තිරස් අතට ලිවීමේ දී වම් පස සිට දකුණු පසට ද ලිවීම කළ යුතුයි.

| සිරස් අතට ලියන ස්වර | | | තිරස් අතට ලියන ස්වර | | |
|---|---|---|---|---|---|
| ㅣ [i] |  (○) |  (X) | ㅡ [ɨ] |  (○) |  (X) |



එසේනම්, එක්වරක් ලියා බලමුද? 'හිටගෙන සිටින මිනිසා' පාදක කරගෙන නිර්මාණය වූ ස්වරයෙහි සිරස් රේඛාව දීර්ඝව ලියා තිරස් රේඛා කෙටිව ලිවිය යුතුයි. 'පැතලි පොළොව' පාදක කරගෙන නිර්මාණය වූ ස්වරයෙහි තිරස් ස්වර වල තිරස් රේඛා දීර්ඝ ලෙස ලියා සිරස් රේඛා කෙටිව ද ලිවිය යුතුය. ස්වර වලට සවන් දෙමින් නැවත පුනරුච්චාරණය කරමින් ලියන්න.

| ස්වර | උච්චාරණය | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅣ [i] | ㅣ ① | | | | | | |
| ㅏ [a] | ㅏ ① ② | | | | | | |
| ㅑ [ja] | ㅑ ① ② ③ | | | | | | |
| ㅓ [ʌ] | ㅓ ① ② | | | | | | |
| ㅕ [jʌ] | ㅕ ① ② ③ | | | | | | |
| ㅡ [ɨ] | ㅡ ① | | | | | | |
| ㅗ [o] | ㅗ ① ② | | | | | | |
| ㅛ [jo] | ㅛ ① ② ③ | | | | | | |
| ㅜ [u] | ㅜ ① ② | | | | | | |
| ㅠ [ju] | ㅠ ① ② ③ | | | | | | |



සියල්ලම ලිව්වාද? මෙවර නැවත වරක් ස්වර වලට සවන් දෙමින් පුනරුච්චාරණය කරන්න.

අක්ෂරයන්හි ව්‍යංජන සහ ස්වර අනිවාර්යෙන්ම එකට සම්බන්ධ විය යුතුයි. එම නිසා මුල් ව්‍යංජන අක්ෂරයක් නොමැති වුවහොත් ශබ්දයක් නොමැති ‘ㅇ’ (ඉයං) ලියනු ලබයි. සිරස් ස්වරයක් නම් ‘ㅇ’ වම් පැත්තේ ලියා තිරස් ස්වරයක් නම් ‘ㅇ’ උඩින් ලියයි.

| | | |
|---|---|---|
| ㅇ | ㅏ | [a] |

| | |
|---|---|
| ㅇ<br>ㅗ | [o] |



සවන් දී නැවත පුනරුච්චාරණය කරමින් ලියා බලන්න.

| ස්වර | උච්චාරණය | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅣ | [i] | 이 | 이 | 이 | | | |
| ㅏ | [a] | 아 | 아 | 아 | | | |
| ㅑ | [ja] | 야 | 야 | 야 | | | |
| ㅓ | [ʌ] | 어 | 어 | 어 | | | |
| ㅕ | [jʌ] | 여 | 여 | 여 | | | |
| ㅡ | [ɨ] | 으 | 으 | 으 | | | |
| ㅗ | [o] | 오 | 오 | 오 | | | |
| ㅛ | [jo] | 요 | 요 | 요 | | | |
| ㅜ | [u] | 우 | 우 | 우 | | | |
| ㅠ | [ju] | 유 | 유 | 유 | | | |

## 연습 අභ්‍යාසය

1. පහත ස්වර එක බැගින් උච්චාරණය කර බලන්න. සියල්ල කළාද? එසේ නම් ඝ තැටියට සවන් දී නිවැරදි ලෙස උච්චාරණය කළේ දැයි පරීක්ෂා කර බලන්න. වැරදි ස්වර පරෙස්සමෙන් නැවත වරක් අසා පුනරුච්චාරණය කරන්න.

(1) 아 어 오 우 으　　(2) 오 아 어 우 이
(3) 야 여 요 유　　(4) 요 야 여 유

2. සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

(1) 아 오　　(2) 우 으　　(3) 어 오
(4) 야 아　　(5) 오 요　　(6) 여 유

3. සවන් දී අක්ෂර පිළිවෙලට යා කරන්න. මොන වගේ පින්තූරයක් ද පෙනෙන්නේ?

이 •　　• 우

아 •　　• 여

으 •

정답 2. (1) 아 (2) 우 (3) 오 (4) 야 (5) 요 (6) 유 3. ☆

4. හොඳින් සවන් දී ඇසුනු දේ කොරියානු අක්ෂර වලින් ලියා බලන්න.

| | | | | |
|---|---|---|---|---|
| (1) 2 | | | | |
| (2) 5 | | | | |
| (3)  | | | | |
| (4)  | | | | |
| (5)  | | | | |
| (6)  | | | | |



සියල්ල ලිව්වාද? ඉන් අනතුරුව උච්චාරණය කරමින් තවත් තුන් වරක් ලියන්න.

정답 (1) 이 (2) 오 (3) 아이 (4) 오이 (5) 우유 (6) 여우

## 3 모음 2 ස්වර 2

K-3



මෙතැන් සිට වෙනත් ස්වර ඉගෙන ගනිමුද? ඝ තැටියට සවන් දෙමින් නැවත පුනරුච්චාරණය කර බලන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| ㅐ [ɛ] | ㅏ + ㅣ | ㅘ [wa] | ㅗ + ㅏ | ㅚ [ø/we] | ㅗ + ㅣ |
| ㅔ [e] | ㅓ + ㅣ | ㅝ [wʌ] | ㅜ + ㅓ | ㅙ [wɛ] | ㅗ + ㅐ |
| ㅒ [jɛ] | ㅑ + ㅣ | ㅟ [y/wi] | ㅜ + ㅣ | ㅞ [we] | ㅜ + ㅔ |
| ㅖ [je] | ㅕ + ㅣ | ㅢ [ɨi] | ㅡ + ㅣ | | |

තිරස් අතට ලියනු ලබන ස්වර අතුරින් 'ㅒ, ㅖ' ආකාරයේ කෙටි තිරස් රේඛා දෙකකින් සමන්විත ස්වර සහ 'ㅘ, ㅝ' ආකාරයේ තිරස් ස්වර සහ සිරස් ස්වර සම්බන්ධ වී ඇති ස්වර සංයුක්ත ස්වර වේ.



නැවත වරක් තවත් අභ්‍යාස කර බලමුද?

**(1)** 'ㅐ' සහ 'ㅔ' උච්චාරණය කරන්න. එක වගේ නේද?

අතීතයේ මෙම ස්වර දෙකෙහි උච්චාරණය එකිනෙකට වෙනස් ලෙස හඳුනාගත හැකි වුවද, නූතන යුගයේ ස්වර අක්ෂර දෙකෙහිම උච්චාරණය සමාන ලෙස කරනු ලැබේ. ස්වර දෙකෙහි උච්චාරණ වෙනස හඳුනාගැනීමට අපහසු තරම්ය. එහෙත් එම උච්චාරණ වෙනස හඳුනාගත නොහැකි යැයි කනස්සල්ලට පත් නොවන්න. මන්ද, මෙම සවර ද්විත්වය බොහෝ කොරියානු ජාතිකයන්ටද හරි හැටි උච්චාරණය කළ නොහැකි බැවිනි.

| | |
|---|---|
| ㅐ [ɛ] | ㅔ [e] |

(2) ‘ㅒ’ සහ ‘ㅖ’ උච්චාරණය කර බලන්න.

ස්වර ද්විත්වයෙහි සිරස් අතට ලියන ස්වරයට කෙටි රේඛා දෙකක් එකතු වී සංයුක්ත ස්වර සෑදී තිබේ. මෙම ස්වර ද්විත්වයෙහිම උච්චාරණය සමාන වේ. ස්වර ද්විතවයෙහි උච්චාරණය වෙන් කර හඳුනා ගැනීම අපහසුය. එහෙත් වෙන් කර හඳුනා ගන්නට නොහැකි යැයි සිතා පසුතැවිලි නොවන්න. මෙය ඉහත ‘ㅐ’ සහ ‘ㅔ’ ආකාරයටම බොහෝ කොරියානුවන්ට ද වෙන් කොට හඳුනාගැනීම අපහසු බැවිනි.

| ㅒ | ㅖ |
|---|---|
| [jɛ] | [je] |

(3) ‘ㅚ’ සහ ‘ㅙ, ㅞ’ උච්චාරණය කර බලන්න. මෙම ස්වර ත්‍රිත්වයෙහිම උච්චාරණය සමාන වේ. ස්වර ත්‍රිත්වයම සිරස් අතට ලියන ස්වර හා තිරස් අතට ලියන ස්වර එකට එක් වූ සංයුක්ත ස්වර වේ.

| ㅚ | ㅙ | ㅞ |
|---|---|---|
| [we] | [wɛ] | [we] |

(4) ‘ㅘ’ උච්චාරණය කර බලන්න. ‘ㅝ’ උච්චාරණය කර බලන්න. නැවත එකින් එක උච්චාරණය කර බලන්න. මෙම ස්වර දෙකම තිරස් ස්වර සහ සිරස් ස්වර එකට එක් වූ සංයුක්ත ස්වර වේ.

| ㅘ | ㅝ |
|---|---|
| [wa] | [wʌ] |

(5) ‘ㅟ’ සහ ‘ㅚ’ එකින් එක උච්චාරණය කර බලන්න. ස්වර ද්විත්වයම තිරස් අතට ලියන ස්වර සහ සිරස් අතට ලියන ස්වර එකට එක් වූ සංයුක්ත ස්වර වේ.

| ㅟ | ㅚ |
|---|---|
| [y/wi] | [ø/we] |

(6) ‘ㅢ’ නැවත වරක් කියවා බලන්න. ‘ㅡ’ කෙටියෙන් හඬ නංවනවාත් සමග ඉක්මණින් ‘ㅣ’ශබ්ද නගා කියවා බලන්න. ස්වර ද්විත්වයම තිරස් සහ තිරස් ස්වර වලින් එකට සෑදුම් ලත් සංයුක්ත ස්වර වේ.

| ㅢ |
|---|
| [ɨi] |



එසේ නම් එක් වරක් ලියා බලමුද? CD තැටියට සවන් දෙන ගමන් නැවත හඬනගා පුනුරුච්චාරණය කරමින් ලියන්න.

| ස්වර | අනුපිළිවෙල | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅐ [ɛ] |  | | | | | | |
| ㅔ [e] |  | | | | | | |
| ㅒ [jɛ] |  | | | | | | |
| ㅖ [je] |  | | | | | | |
| ㅘ [wa] |  | | | | | | |
| ㅝ [wʌ] |  | | | | | | |
| ㅟ [y/wi] |  | | | | | | |
| ㅚ [ø/we] |  | | | | | | |
| ㅙ [wɛ] |  | | | | | | |
| ㅞ [we] |  | | | | | | |
| ㅢ [ɨi] |  | | | | | | |



සියල්ල ලිව්වාද? මෙවර නැවත එක්වරක් ස්වර වලට සවන් දී නැවත පුනුරුච්චාරණය කරන්න.



පහත ආකාරයට ලියන්න එපා. ඔබගේ අවධානය යොමු කරන්න.

| | | | |
|---|---|---|---|
| ㅘ (○) | ㅝ (○) | ㅟ (○) | ㅞ (○) |
| ㅗㅓ (X) | ㅜㅏ (X) | ㅣㅜ (X) | ㅞ (X) |



අක්ෂර ලිවීමේ දී ව්‍යංජන හා ස්වර අනිවර්යයෙන්ම එකට පැමිණිය යුතුය. එබැවින් පළමුව ව්‍යංජනයක් නොයෙදේ නම් ශබ්දයක් නොමැති ‘ㅇ’ ලියයි. සිරස් අතට ලියන ස්වර සඳහා ‘ㅇ’ වම්පසින් ද ලියන අතර, තිරස් අතට ලියන ස්වර වලට ‘ㅇ’ ඉහලින් ලියයි.



සවන් දී නැවත කියවමින් ‘ㅇ’ සමඟ සංයුක්ත ස්වර ලියා බලන්න.

| ස්වර | උච්චාරණය | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅐ | [ɛ] | 애 | 애 | 애 | | | |
| ㅔ | [e] | 에 | 에 | 에 | | | |
| ㅒ | [jɛ] | 얘 | 얘 | 얘 | | | |
| ㅖ | [je] | 예 | 예 | 예 | | | |
| ㅘ | [wa] | 와 | 와 | 와 | | | |
| ㅝ | [wʌ] | 워 | 워 | 워 | | | |
| ㅟ | [y/wi] | 위 | 위 | 위 | | | |
| ㅚ | [ø/we] | 외 | 외 | 외 | | | |
| ㅙ | [wɛ] | 왜 | 왜 | 왜 | | | |
| ㅞ | [we] | 웨 | 웨 | 웨 | | | |
| ㅢ | [ɨi] | 의 | 의 | 의 | | | |

## 연습 අභ්‍යාස

1. පහත ස්වර එක බැගින් උච්චාරණය කර බලන්න. සියල්ල උච්චාරණය කළා ද? එහෙනම්, CD තැටියට සවන් දී නිවැරදි ලෙස උච්චාරණය කළ ඒවාට ‘o’ ලකුණ දමන්න. වැරදුන උච්චාරණය පිළිබඳව අවධානය යොමු කරමින් නැවත වරක් සවන් දි නැවත පුනරුච්චාරණය කර බලන්න.

(1) 애　예　와　워　　　(2) 위　의　와　웨
(3) 워　에　예　의　　　(4) 왜　와　에　예

2. හොඳින් සවන් දී නිවැරදි ඒවා තෝරන්න.

(1) 애　예　　　(2) 웨　워
(3) 위　의　　　(4) 와　왜

3. හොඳින් සවන් දී අනුපිළිවෙලට අක්ෂර යා කරන්න.

아이　　　　얘
와　　위
여우　　에　　의
왜　　오이　　우유

정답 2. (1) 애 (2) 웨 (3) 위 (4) 와 3. ☆ (위 → 여우 → 에 → 의 → 와 → 오이 → 위)

4. මේ පින්තූර වලින් දැක්වෙන්නේ කුමක් ද? හොඳින් අසා ඇසූ දේ කොරියානු භාෂාවෙන් ලියා බලන්න.

| | | | | |
|---|---|---|---|---|
| (1)  | | | | |
| (2)  | | | | |
| (3)  | | | | |
| (4)  | | | | |
| (5)  | | | | |
| (6)  | | | | |



සියල්ලම ලිව්වාද? ඉන් අනතුරුව උච්චාරණය කරමින් තුන්වරක් තව ලියා බලන්න.

정답 (1) 예 (2) 와 (3) 왜 (4) 와요 (5) 위에 (6) 외워요

# 02 한글 익히기 II
## කොරියානු හෝඩිය ඉගෙන ගැනීම II

### 4 자음 1 ව්‍යංජන 1

K-4

කොරියානු භාෂාවේ ව්‍යංජන 19 ක් ඇත. ව්‍යංජන අක්ෂර උච්චාරණ ඉන්ද්‍රියේ හැඩයට අනුව නිර්මාණය කර ඇත. 'ㄱ' අක්ෂරය දිවමුල උගුරු කුහරය අවහිර කරන හැඩය ගන්නා අතර, 'ㄴ' අක්ෂරය දිව, උඩ තල්ලේ වැදීමේදී නිර්මාණය වන හැඩය ගනියි. 'ㅁ' අක්ෂරය තොලේ හැඩය අනුව සැකැසී ඇති අතර 'ㅅ' අක්ෂරය දත් වල හැඩයටත්, 'ㅇ' එකී උච්චාරණය, උගුරු කුහරයේ හැඩයට අනුව නිර්මාණය වී ඇත.






එහෙනම්, මීළඟට ව්‍යංජන ඉගෙන ගනිමුද? CD තැටියට සවන් දෙන අතර පිළිවෙලින් නැවත පුනරුච්චාරණය කරන්න.

| 자음 1 ව්‍යංජන 1 | | | | |
|---|---|---|---|---|
| ㄱ<br>[k/g] | ㄴ<br>[n] | ㄷ<br>[t/d] | ㄹ<br>[r/l] | ㅁ<br>[m] |
| ㅂ<br>[p/b] | ㅅ<br>[s/ʃ] | ㅇ<br>[ŋ] | ㅈ<br>[ʧ/ʤ] | ㅎ<br>[h] |



සියල්ලම කළාද? මෙවර නැවත වරක් සවන් දෙමින් ව්‍යංජන ලියා බලන්න.

| ව්‍යංජන | අනුපිළිවෙල | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㄱ [k/g] | ①ㄱ | | | | | | |
| ㄴ [n] | ①ㄴ | | | | | | |
| ㄷ [t/d] | ①②ㄷ | | | | | | |
| ㄹ [r/l] | ①②③ㄹ | | | | | | |
| ㅁ [m] | ①②③ㅁ | | | | | | |
| ㅂ [p/b] | ①②③④ㅂ | | | | | | |
| ㅅ [s/ʃ] | ①②ㅅ | | | | | | |
| ㅇ [ŋ] | ①ㅇ | | | | | | |
| ㅈ [ʧ/ʤ] | ①②ㅈ | | | | | | |
| ㅎ [h] | ①②③ㅎ | | | | | | |



සියල්ලම ලිව්වාද? මෙවර නැවත වරක ව්‍යංජන වලට සවන් දී ශබ්ද නගා කියවන්න.

‘ㅇ’ පළමු ව්‍යංජනය ලෙස යෙදෙන විට හඬක් නිෂ්පාදනය නොවන අතර අවසාන ව්‍යංජනය ලෙස යෙදෙන විට පමණක් [ŋ] ශබ්දය නැගේ. කොරියානු භාෂාවේ ව්‍යංජන අනිවාර්යයෙන් ස්වර සමඟ එකට ලියයි. ව්‍යංජන සිරස් අතට ලියනු ලබන ස්වර සමඟ ලියන විට වම් පසින් ලියන අතර තිරස් අතට ලියනු ලබන ස්වර සමඟ ලියන විට ඉහළින් ලියයි.









එහෙනම් සවන්දී නැවත හඬ නගා පවසමින් ව්‍යංජන, ස්වර එකට ලියා බලමුද?

| | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| (1) | ㄱ | | | → | 가 | | (6) | ㅂ | | | → | 보 |
| (2) | ㄴ | | | → | | | (7) | ㅅ | | | → | |
| (3) | ㄷ | + | ㅏ | → | | | (8) | ㅇ | + | ㅗ | → | |
| (4) | ㄹ | | | → | | | (9) | ㅈ | | | → | |
| (5) | ㅁ | | | → | | | (10) | ㅎ | | | → | |



මෙවර ව්‍යංජන හා ස්වර එකට එකතු කර ලියා බලමු. ව්‍යංජන, සිරස් අතට ලියන ස්වරයේ වම්පසින් ලියා තිරස් ස්වර වල ඉහළින් ලියයි. හොඳින් බලා ලියා බලමු.

| ස්වර / ව්‍යංජන | ㅏ | ㅑ | ㅓ | ㅕ | ㅗ | ㅛ | ㅜ | ㅠ | ㅡ | ㅣ |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| ㄱ | 가 | | | | 고 | | | | | |
| ㄴ | | 냐 | | | | | | | | |
| ㄷ | | | 더 | | | | | | | |
| ㄹ | | | | 려 | | | | | | |
| ㅁ | | | | | 모 | | | | | |
| ㅂ | | | | | | | | | | |
| ㅅ | | | | | | | | | | |
| ㅇ | | | | | | | | | | |
| ㅈ | | | | | | | | | | |
| ㅎ | | | | | | | | | | |



සවන් දී නැවත හඬ නගා ශබ්ද කරමුද? කෙටි ස්වර සහ ව්‍යංජන එකතු වූ ඒවා පමණක් උච්චාරණය කර බලන්න. මුලින්ම තිරස් රේඛාවේ ඇති ස්වර නැවත වරක් කියවා බලන්න. හොඳින් සවන් දුන්නාද?



මේ පාර සිරස් ලෙස කියවා බලන්න.

가　　고

'ㄱ' අක්ෂරය සිරස් ස්වර සමඟ එකට ලියන විට සහ තිරස් ස්වර සමඟ එකට ලියන විට අක්ෂර වල හැඩය වෙනස් වේ. අවධානය යොමු කරමින් ලියන්න.

## 연습 අභ්‍යාසය

1. පහත වචන එකින් එක උච්චාරණය කර බලන්න. සියල්ලම කළාද? එහෙනම් CD තැටියට සවන් දී නිවැරදි ලෙස උච්චාරණය කළේ නම් ㅇ යොදන්න. වැරදි උච්චාරණය පිළිබඳව අවධානය යොමු කරමින් නැවත වරක් සවන් දී හඬනගා කියවන්න.

(1) 가 다 마 사　(2) 바 나 라 자　(3) 후 주 수 부　(4) 로 도 노 고
(5) 너 러 저 허　(6) 규 류 슈 쥬　(7) 드 므 브 스　(8) 기 리 지 히

2. සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

(1) 노래　모래　(2) 가수　다수　(3) 사요　자요
(4) 고리　도리　(5) 머리　허리　(6) 비누　부누

3. පහත වචන වලට සවන් දී නැවත වරක් හඬ නගා කියවන්න.

(1) 가수
ගායකයා


(2) 아기
ළමයා


(3) 네모
කොටුව


(4) 다리
කකුල


(5) 소리
ශබ්දය


(6) 모자
තොප්පිය


(7) 아버지
තාත්තා


(8) 사자
සිංහයා


(9) 새우
ඉස්සා


4. මෙවර සවන් දී ලියා බලන්න.

(1)

(2)

(3)

(4)

(5)

(6)



සියල්ලම ලිව්වාද? නැවත වරක් සවන් දී බලන්න.



මෙවර සවන් දී නැවත වරක් හඬ නගා කියවන්න. තුන්වරක් නැවත නැවත හඬ නගා කියවන්න.

정답 1. (1) 마 (2) 자 (3) 부 (4) 도 (5) 너 (6) 류 (7) 스 (8) 히
2. (1) 노래 (2) 가수 (3) 자요 (4) 고리 (5) 허리 (6) 비누
4. (1) 고기 (2) 나무 (3) 도로 (4) 모자 (5) 버스 (6) 바지

## 5 자음 2 ව්‍යංජන 2

🎧 K-5

'ㅋ, ㅌ, ㅍ, ㅊ' යනාදී අක්ෂර 'ㄱ, ㄷ, ㅂ, ㅈ' වලට තවත් එක් රේඛාවක් එක් වීමෙන් නිර්මාණය වී ඇත. 'ㄱ, ㄷ, ㅂ, ㅈ' අක්ෂරවලට තවත් එක් රේඛාවක් එකතුවීමෙන් සෑදෙන 'ㅋ, ㅌ, ㅍ, ㅊ' අක්ෂර, වඩා ශක්තිමත් වන අතර මුඛය තුළින් වාතය  බොහෝ පිටවන ශබ්ද වේ. මුඛය තුළ තිබෙන වාතය ඉතා වේගයෙන් සහ පීඩනයෙන් පිටතට යොමු කර උච්චාරණය කළ යුතුය. CD තැටියට සවන් දෙමින් පිළිවෙළට ශබ්ද නගා නැවත පවසන්න.

| | | |
|---|---|---|
| ㄱ<br>[k/g] | | ㅋ<br>[$k^h$] |
| ㄷ<br>[t/d] | | ㅌ<br>[$t^h$] |
| ㅂ<br>[p/b] | → | ㅍ<br>[$p^h$] |
| ㅈ<br>[ʧ/ʤ] | | ㅊ<br>[$tʃ^h$] |



නැවත වරක් අභ්‍යාස කර බලමුද?

(1) 'ㄱ' සහ 'ㅋ' එකින් එක නැවත හඬ නගා කියන්න.

(2) 'ㄷ' සහ 'ㅌ' එකින් එක නැවත හඬ නගා කියන්න.

(3) 'ㅂ' සහ 'ㅍ' එකින් එක නැවත හඬ නගා කියන්න.

(4) 'ㅈ' සහ 'ㅊ' එකින් එක නැවත හඬ නගා කියන්න.



මුඛයෙන් වාතය පිටවීමේ වෙනස දැනෙනවාද?



එහෙනම්, මෙවර නැවත වරක් අහන ගමන් ව්‍යංජන ලියා බලන්න.

| ව්‍යංජන | අනුපිළිවෙල | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅋ [kʰ] | ①②ㅋ | | | | | | |
| ㅌ [tʰ] | ①②③ㅌ | | | | | | |
| ㅍ [pʰ] | ①②③④ㅍ | | | | | | |
| ㅊ [tʃʰ] | ①②③ㅊ | | | | | | |



සියල්ලම ලිව්වාද? මෙවර නැවත වරක් අහන ගමන් ව්‍යංජන ලියා බලන්න.



එහෙනම් මහප්‍රාණ ව්‍යංජනවලට ස්වර එක්කොට අක්ෂර හදමුද? නැවත වරක් සවන් දී පුනරුච්චාරණය කරමින් ව්‍යංජන සහ ස්වර ලියා බලමුද?

| | | | | | |
|---|---|---|---|---|---|
| (1) | ㅋ | + ㅏ | → | 카 |
| (2) | ㅌ | + ㅏ | → | |
| (3) | ㅍ | + ㅏ | → | |
| (4) | ㅊ | + ㅏ | → | |
| (5) | ㅋ | + ㅗ | → | 코 |
| (6) | ㅌ | + ㅗ | → | |
| (7) | ㅍ | + ㅗ | → | |
| (8) | ㅊ | + ㅗ | → | |

මෙවර ස්වර සමඟ එකට ලියා බලන්න. ව්‍යංජන සිරස් අතට ලියන ස්වර වල වම්පසින් ලියා තිරස් අතට ලියන ස්වර වලට ඉහළින් ලියන බව පැවසුවා මතකද? හොඳින් නිරීක්ෂණය කරමින් ලියා බලමු.

| ස්වර / ව්‍යංජන | ㅏ | ㅓ | ㅗ | ㅜ | ㅡ | ㅣ | ㅐ | ㅔ |
|---|---|---|---|---|---|---|---|---|
| ㅋ | 카 | | 코 | | | 키 | | |
| ㅌ | | 터 | | | | | 태 | |
| ㅍ | | | 포 | | | 피 | | |
| ㅊ | | | | 추 | | | | |

සියල්ල කළාද? නැවත වරක් සවන් දෙමින් පුනරුච්චාරණය කර බලන්න. මුලින්ම තිරස් අතට ලියන ස්වර නැවත පුනරුච්චාරණය කරමින් කියවා බලන්න. හොඳින් ඇසුවාද?

මෙවර සිරස් අතට කියවා බලන්න.

## 연습 අභ්‍යාසය

1. පහත වචන එකින් එක උච්චාරණය කර බලන්න. සියල්ලම කළාද? එහෙනම් CD තැටියට සවන් දෙමින් නිවැරදිව උච්චාරණය කළේ නම් ○ ලකුණ යොදන්න. වැරදි උච්චාරණය පිළිබඳව අවධානය යොමු කරමින් නැවත වරක් සවන් දෙමින් උච්චාරණය කර බලන්න.

(1) 차 카 타 파 (2) 초 코 토 포 (3) 쿠 투 푸 추 (4) 티 치 키 피

2. සවන් දෙමින් නිවැරදි පිළිතුර තෝරන්න.

(1) 보도 포도 (2) 기자 기차 (3) 고 코
(4) 타요 다요 (5) 치마 지마 (6) 스키 수키

3. මීළඟ වචන වලට සවන් දෙමින් පුනරුච්චාරණය කරන්න.

(1) 치마
සාය


(2) 코
නාසය


(3) 타조
පැස්බරා


(4) 포도
මිදි


(5) 카메라
කැමරාව


(6) 스키
ස්කී ක්‍රීඩාව


(7) 커피
කෝපි


(8) 기차
කෝච්චිය


(9) 피아노
පියානෝව


4. මෙවර සවන් දෙමින් ලියා බලන්න.

(1)

| | |
|---|---|
| | |

(2)

| | |
|---|---|
| | |

(3)

| | |
|---|---|
| | |

(4)

| | |
|---|---|
| | |

(5)

| | |
|---|---|
| | |

(6)

| | |
|---|---|
| | |



සියල්ලම ලිව්වාද? තවත් එක්වරක් අසා බලන්න.



මෙවර සවන් දෙමින් පුනරුච්චාරණය කරන්න. තුන්වරක් පුනරුච්චාරණය කරන්න.

정답 1. (1) 차 (2) 코 (3) 푸 (4) 티
2. (1) 포도 (2) 기차 (3) 코 (4) 타요 (5) 치마 (6) 스키
4. (1) 치즈 (2) 커피 (3) 기타 (4) 포크 (5) 고추 (6) 쿠키

## 6 자음 3 ව්‍යංජන 3

K-6

‘ㄱ, ㄷ, ㅂ, ㅅ, ㅈ’ අක්ෂර දෙපාරක් ලිවීමෙන් රේඛාවක් එකතු වී ‘ㄲ, ㄸ, ㅃ, ㅆ, ㅉ’ ව්‍යංජන සෑදී ඇත. ‘ㄲ, ㄸ, ㅃ, ㅆ, ㅉ’ අක්ෂර උගුරට බලය දී ස්වර තන්තු උච්චාරණය කළ යුතුය.



CD තැටියට සවන් දෙමින් අනුපිළිවෙලින් නැවත පුනරුච්චාරණය කරන්න.

| | | |
|---|---|---|
| ㄱ [k/g] | | ㄲ [k˙] |
| ㄷ [t/d] | | ㄸ [t˙] |
| ㅂ [p/b] | → | ㅃ [p˙] |
| ㅅ [s] | | ㅆ [s˙] |
| ㅈ [ʧ/ʤ] | | ㅉ [ʧ˙] |

සියල්ල කළාද? එහෙනම් මූලක ව්‍යංජන ‘ㄱ, ㄷ, ㅂ, ㅅ, ㅈ’ සහ මහප්‍රාණ ව්‍යංජන ‘ㅋ, ㅌ, ㅍ, ㅊ’ ද්විත්ව ව්‍යංජන ‘ㄲ, ㄸ, ㅃ, ㅆ, ㅉ’ වෙන් වෙන් වශයෙන් උච්චාරණය කර බලන්න. ‘ㄲ, ㄸ, ㅃ, ㅆ, ㅉ’ බලය දී උච්චාරණය කළ යුතුයි.



එක් එක් ව්‍යංජනය උච්චාරණය කරන විට මුඛය දෙසට අල්ල ළං කර වාතයේ බලය කොතරම් දැයි පිරික්සා බලන්න.

(1) ‘ㅋ’ සහ ‘ㄱ’, ‘ㄲ’ අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.

(2) ‘ㅌ’ සහ ‘ㄷ’, ‘ㄸ’ අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.

(3) ‘ㅍ’ සහ ‘ㅂ’, ‘ㅃ’ අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.

(4) ‘ㅅ’ සහ ‘ㅆ’ අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.

(5) ‘ㅊ’ සහ ‘ㅈ’, ‘ㅉ’ අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.



එහෙනම් නැවත වරක් සවන් දෙමින් ව්‍යංජන ලියා බලන්න.

| ව්‍යංජන | අනුපිළිවෙල | ලිවීම | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㄲ [k´] | ①② ㄲ | | | | | | |
| ㄸ [t´] | ①③ ② ㄸ ④ | | | | | | |
| ㅃ [p´] | ①② ③ ㅃ ⑦ ⑧ ④⑤⑥ | | | | | | |
| ㅆ [s´] | ③ ① ㅆ ④ ② | | | | | | |
| ㅉ [ʧ´] | ①③ ㅉ ② ④ | | | | | | |



සියල්ලම කළාද? මෙවර නැවත වරක් ව්‍යංජන වලට සවන් දී පුනරුච්චාරණය කරන්න.



එසේනම් සවන් දී පුනරුච්චාරණය කරමින් ව්‍යංජන සහ ස්වර එකට ලියා බලමුද?

| | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| (1) | ㄲ | | | → | 까 | | (6) | ㄲ | | | → | 꼬 |
| (2) | ㄸ | | | → | | | (7) | ㄸ | | | → | |
| (3) | ㅃ | + | ㅏ | → | | | (8) | ㅃ | + | ㅗ | → | |
| (4) | ㅆ | | | → | | | (9) | ㅆ | | | → | |
| (5) | ㅉ | | | → | | | (10) | ㅉ | | | → | |



මෙවර ස්වර සමග මුසුකොට ලියා බලන්න.

| ස්වර / ව්‍යංජන | ㅏ | ㅓ | ㅗ | ㅜ | ㅡ | ㅣ | ㅐ | ㅔ |
|---|---|---|---|---|---|---|---|---|
| ㄲ | 까 | | | | | | | 께 |
| ㄸ | | 떠 | | | | | 때 | |
| ㅃ | | | 뽀 | | | 삐 | | |
| ㅆ | | 써 | | | 쓰 | | | |
| ㅉ | | | | 쭈 | | | 째 | |



සියල්ලම කළාද? නැවත වරක් සවන් දී පුනරුච්චාරණය කරන්න. මුලින්ම තිරස් අතට ලියන ස්වර පුනරුච්චාරණය කරමින් කියවා බලන්න.



හොඳින් සවන් දුන්නාද? මෙවර සිරස් අතට ලියන ස්වර කියවා බලන්න.

## 연습 අභ්‍යාසය

1. පහත වචන එකින් එක උච්චාරණ කර බලන්න. සියල්ල කළාද? එසේ නම් CD තැටියට සවන් දී නිවැරදි ලෙස උච්චාරණය කළේ නම් 'O' සළකුණ යොදන්න, වැරදි උච්චාරණය පිළිබඳව අවධානය යොමු කරමින් නැවත වරක් සවන් දෙමින් උච්චාරණය කර බලන්න.

(1) 까 따 빠 싸 짜　(2) 꼬 또 뽀 쏘 쪼　(3) 꾸 뚜 뿌 쑤 쭈　(4) 끼 띠 삐 씨 찌

2. සවන් දී නිවැරදි ඒවා තෝරන්න.

(1) 가요　까요　(2) 차요　짜요　(3) 커요　꺼요
(4) 사요　싸요　(5) 부리　뿌리　(6) 아파요　바빠요

3. පහත වචන වලට සවන් දී පුනරුච්චාරණය කරන්න.

(1) **까치**
පොල්කිච්චා



(2) **어깨**
උරහිස



(3) **귀뚜라미**
පළගැටියා



(4) **뿌리**
මුල්



(5) **아저씨**
මාමා



(6) **찌개**
සුප් වැනි ආහාරයකි



4. මෙවර සවන් දී ලියා බලන්න.

(1)

(2)

(3)

(4)

(5)

(6)



සියල්ලම ලිව්වාද? නැවත වරක් සවන් දෙමින් පුනරුච්චාරණය කරන්න.

정답
1. (1) 까 (2) 뽀 (3) 수 (4) 찌
2. (1) 가요 (2) 짜요 (3) 커요 (4) 싸요 (5) 뿌리 (6) 아파요
4. (1) 꼬리 (2) 토끼 (3) 짜다 (4) 뿌리 (5) 어깨 (6) 쓰다

## 7 받침 හල් කිරීම්

K-7

සිංහල භාෂාවෙහි අක්ෂරයක් හල් කිරීමේදී ව්‍යංජන අක්ෂරයට ඉහළින් හල් කිරීමේ සලකුණ යොදන අතර කොරියානු භාෂාවෙහි 공, 밥 ආකාරයට ස්වරයට පහළින් ලියනු ලබයි.

공 밥

හල් කිරීම්

හල්කිරීම් ව්‍යංජනයක් සමග සම්බන්ධ වන අතර ව්‍යංජන 19 ක් අතරින් ‘ㄸ, ㅃ, ㅉ’ හල්කිරීම් ලෙස නො යෙදේ. හල් කිරීම් ‘ㄱ, ㄴ, ㄷ, ㄹ, ㅁ, ㅂ, ㅇ’ යනාදී හඬවල් හතකින් පමණක් සමන්විත වේ.

| අක්ෂර | වාග් විද්‍යාත්මක උච්චාරණය | සුදානම් වීම |
|---|---|---|
| ㄴ | [n] | 안: [안] |
| ㅁ | [m] | 암: [암] |
| ㅇ | [ŋ] | 앙: [앙] |
| ㄹ | [l] | 알: [알] |
| ㅂ, ㅍ | [p] | 압, 앞: [압] |
| ㄱ, ㄲ, ㅋ | [k] | 악, 앆, 앜: [악] |
| ㄷ, ㅌ, ㅅ, ㅆ, ㅈ, ㅊ, ㅎ | [t] | 앋, 앝, 앗, 았, 앚, 앛, 앟: [앋] |



එසේනම්, හල්කිරීම් යොදා උච්චාරණ අභ්‍යාස කරමුද? හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

| 나 [na] | 마 [ma] | x | 라 [ra] | 바 [pa] | 가 [ka] | 다 [ta] |
|---|---|---|---|---|---|---|
| 은 [ɨn] | 음 [ɨm] | 응 [ɨŋ] | 을 [ɨl] | 읍 [ɨp] | 윽 [ɨk] | 읃 [ɨt] |



කොහොමද? අමාරුයිද?

'밥' කියන වචනය පිරික්සා බලමුද? මුලින්ම යෙදෙන 'ㅂ', 'ㅂ' උච්චාරණයට ආසන්න වන අතර පෙනහලුවල සිට නැගෙන හුස්ම පිට කරමින් උච්චාරණය කරන ශබ්දයකි. එහෙත් හල් කිරීම් ලෙස යොදන 'ㅂ' අක්ෂරය 'ㅂ' උච්චාරණයට ආසන්න වන අතර වාතය මුඛයෙන් පිටතට නොයන සේ හුස්ම තද කර ගනිමින් උච්චාරණය කරයි. එකම ව්‍යංජන අක්ෂරය වුව ද යෙදෙන ස්ථානය අනුව ශබ්දය වෙනස් වේ.



සියල්ලම ලිව්වාද? නැවත වරක් සවන් දෙමින් පුනරුච්චාරණය කරන්න.

| CV<br>C | 이<br>ㅂ | 아<br>ㄴ |
|---|---|---|

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| 아 + ㄴ | 안 | | | | | | |
| 야 + ㅁ | 얌 | | | | | | |
| 어 + ㅇ | 엉 | | | | | | |
| 여 + ㅂ | 엽 | | | | | | |
| 이 + ㄱ | 익 | | | | | | |



සියලු අභ්‍යාසයන් හොඳින් කළාද? එසේනම් CD තැටියට සවන් දී අනුපිළිවෙලින් ශබ්ද නගා උච්චාරණය කර බලන්න.



එහෙනම් මෙවර, ප්‍රාරම්භක ස්ථානයේ ව්‍යංජන නොයෙදෙන, සිරස් අතට ලියන ස්වර සමඟ එකට සැදී තිබෙන අක්ෂරාණු යටින් හල්කිරීම් ලියා බලන්න.

| C<br>V<br>C | 요<br>ㅇ | 우<br>ㄴ |
|---|---|---|

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| 오 + ㄱ | 옥 | | | | | | |
| 요 + ㅁ | 욤 | | | | | | |
| 우 + ㅇ | 웅 | | | | | | |
| 유 + ㄴ | 윤 | | | | | | |
| 으 + ㅂ | 읍 | | | | | | |



සියලු අභ්‍යාස කළාද? මෙවරත් CD තැටියට සවන් දී පිළිවෙළින් ශබ්ද නගා උච්චාරණය කර බලන්න.



මෙවර ප්‍රාරම්භක ස්ථානයේ යෙදෙන ව්‍යංජන සහ සිරස් අතට ලියන ස්වර එකට එක් වූ අක්ෂරාණු යටින් හල්කිරීම් යොදා අභ්‍යාස කර බලන්න.

| | | |
|---|---|---|
| CV | ㅅ ㅏ | ㅈ ㅣ |
| C | ㄴ | ㅂ |

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㅅ + ㅏ + ㄴ | 산 | | | | | | |
| ㅈ + ㅣ + ㅂ | 집 | | | | | | |
| ㅂ + ㅏ + ㅁ | 밤 | | | | | | |
| ㄴ + ㅓ + ㅁ | 넘 | | | | | | |
| ㄱ + ㅕ + ㅇ | 경 | | | | | | |



මෙවර ප්‍රාරම්භක ස්ථානයේ යෙදෙන ව්‍යංජන සහ තිරස් අතට ලියන ස්වර එකට එක් වූ අක්ෂරාණු යටින් හල්කිරීම් යොදා අභ්‍යාස කර බලන්න.

| | | |
|---|---|---|
| C | ㄱ | ㅁ |
| V | ㅗ | ㅜ |
| C | ㅁ | ㄹ |

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ㄱ + ㅗ + ㅁ | 곰 | | | | | | |
| ㅁ + ㅜ + ㄹ | 물 | | | | | | |
| ㄱ + ㅜ + ㄱ | 국 | | | | | | |
| ㅈ + ㅡ + ㅂ | 즙 | | | | | | |
| ㅂ + ㅗ + ㄴ | 본 | | | | | | |



සියල්ල කළාද? CD තැටියට සවන් දී අනුපිළිවෙලින් ශබ්ද නගා උච්චාරණය කර බලන්න

හල්කිරීම් ලෙස ව්‍යංජන දෙකක් යෙදෙන අවස්ථා තිබේ. නමුත්, එම ශබ්ද ද්විත්වය අතරින් එකක් පමණක් උච්චාරණය කරයි.

값
[kap]



එසේ නම් පහත වචන උච්චාරණය කර බලමුද? CD තැටියට සවන් දෙමින් අනුපිළිවෙලින් පුනරුච්චාරණය කරන්න.

| | | |
|---|---|---|
| 여덟<br>[yʌdʌl] | 닭<br>[tak] | 몫<br>[mok] |

| | | | | |
|---|---|---|---|---|
| 삶다<br>[samt´a] | 앉다<br>[ant´a] | 넓다<br>[nʌlt´a] | 맑다<br>[makt'a] | 젊다<br>[ʧʌmt'a] |



කොහොමද? අමාරුයිද? නැවත එක්වරක් උච්චාරණය ගැන අවධානය යොමු කරමින් නැවත පුනරුච්චාරණය කරන්න.

## 연습 අභ්‍යාසය

1. හොඳින් සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

| | | |
|---|---|---|
| (1) 곰　공 | (2) 달　답 | (3) 목　몸 |
| (4) 방　발 | (5) 삼　산 | (6) 일　입 |

2. පහත ඒවාට සවන් දී පුනරුච්චාරණය කරන්න.

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| (1) | 눈 | 산 | 편지 | (2) | 밤 | 마음 | 몸무게 |
| (3) | 공 | 양 | 강아지 | (4) | 달 | 딸 | 일 |
| (5) | 집 | 잎 | 수업 | (6) | 국 | 밖 | 부엌 |
| (7) | 옷 | 낮 | 꽃 | (8) | 책 | 붓 | 아홉 |

3. පහත ඒවාට සවන් දී හඬ නැගෙන ව්‍යංජනයට ‘○’ ලකුණ යොදන්න.

(1) 닭 (ㄹ, ㄱ)　　(2) 몫 (ㄱ, ㅅ)　　(3) 값 (ㅂ, ㅅ)

(4) 앉다 (ㄴ, ㅈ)　　(5) 삶 (ㄹ, ㅁ)　　(6) 넓다 (ㄹ, ㅂ)

4. හොඳින් අසා සවන් දුන් දේ කොරියන් බසින් ලියා බලන්න.

| | | | | |
|---|---|---|---|---|
| (1)  | | | | |
| (2)  | | | | |
| (3)  | | | | |
| (4)  | | | | |

| | | | | |
|---|---|---|---|---|
| (5)  | | | | |
| (6)  | | | | |
| (7)  | | | | |
| (8)  | | | | |
| (9)  | | | | |
| (10)  | | | | |
| (11)  | | | | |
| (12)  | | | | |
| (13)  | | | | |
| (14)  | | | | |

정답 1. (1) 곰 (2) 달 (3) 목 (4) 방 (5) 산 (6) 입
3. (1) ㄱ (2) ㄱ (3) ㅂ (4) ㄴ (5) ㅁ (6) ㄹ
4. (1) 옷 (2) 양 (3) 집 (4) 입 (5) 일 (6) 잎 (7) 책 (8) 밖 (9) 구름 (10) 산 (11) 꽃 (12) 별 (13) 말 (14) 삼



සියල්ලම ලිව්වාද? ඉන් අනතුරුව උච්චාරණය කරමින් තෙවරක් නැවත ලියා බලන්න.

## 8 이어 읽기 එක දිගට කියවීම

K-8

හල් කිරීමට පසුව ස්වරයක් පැමිණියහොත් හල් කිරීමට පිටුපස අක්ෂරයෙහි පළමු හඬට සම්බන්ධ කර උච්චාරණය කරයි.

| | |
|---|---|
| 밥 을 → 밥 을 | [바블] |
| 먹 어 요 → 먹 어 요 | [머거요] |



CD තැටියට සවන් දී පුනරුච්චාරණය කරන්න. හල්කිරීමට ව්‍යංජන දෙකක් තිබේ නම් පළමු ව්‍යංජනය ඉදිරියෙන් තිබෙන අක්ෂරාණුවේ හල් කිරීම ලෙස උච්චාරණය කරන අතර දෙවන ව්‍යංජනය පසුව යෙදෙන අක්ෂරාණුවේ පළමු හඬට සම්බන්ධ කර උච්චාරණය කරයි. හල්කිරීම ලෙස 'ㄹ' යෙදේ නම් පසුව යෙදෙන අක්ෂරාණුවේ පළමු හඬට සම්බන්ධ කර [r] ලෙස උච්චාරණය කරනු ලැබේ.

| | | |
|---|---|---|
| 음악[으막] | 한국어[한구거] | 할아버지[하라버지] |
| 집에[지베] | 꽃이[꼬치] | 이름이[이르미] |
| 걸어요[거러요] | 앉아요[안자요] | 읽어요[일거요] |



නැවත වරක් තනිවම කියවා බලන්න. සවන් දෙමින් නැවත පිරික්සා බලන්න.

### 연습 අභ්‍යාසය

1. පහත දැක්වෙන වචන කියවන්න.

(1) 물이　(2) 문을　(3) 앞에
(4) 닫아요　(5) 싫어요　(6) 있어요
(7) 깎아요　(8) 읽어요　(9) 앉아요

2. පහත වාක්‍ය කියවන්න.

(1) 창문을 닫으세요.　(2) 사진을 찍었어요.
(3) 책에 이름을 쓰세요.　(4) 물을 마시고 싶어요.
(5) 아침에 병원에 갔어요.



අක්ෂරාණු ලියා අභ්‍යාස කරන්න.

| ස්වර / ව්‍යංජන | ㅏ | ㅣ | ㅜ | ㅔ | ㅗ | ㅐ | ㅓ | ㅡ |
|---|---|---|---|---|---|---|---|---|
| ㄱ | 가 | | | | | | | |
| ㄴ | | 니 | | | | | | |
| ㄷ | | | 두 | | | | | |
| ㄹ | | | | 레 | | | | |
| ㅁ | | | | | 모 | | | |
| ㅂ | | | | | | 배 | | |
| ㅅ | | | | | | | 서 | |
| ㅇ | | | | | | | | 으 |
| ㅈ | | | | | | | | |
| ㅊ | | | | | | | | |
| ㅋ | | | | | | | | |
| ㅌ | | | | | | | | |
| ㅍ | | | | | | | | |
| ㅎ | | | | | | | | |
| ㄲ | | | | | | | | |
| ㄸ | | | | | | | | |
| ㅃ | | | | | | | | |
| ㅆ | | | | | | | | |
| ㅉ | | | | | | | | |

03

# 교실 한국어

## පන්ති කාමරයේ කොරියන් භාෂාව

මෙම කොටසින් පන්ති කාමරයේ තිබෙන භාණ්ඩ, පන්ති කාමරයේ නිතර භාවිතා වන යෙදුම් සහ වචන ආදිය පිළිබඳ අධ්‍යයනය කරයි.

Track 18



පන්ති කාමරයේ කවුද ඉන්නේ? පන්ති කාමරයේ දකින්න තියෙන දේවල් මොනවාද?



선생님
ගුරුතුමා



학생
ශිෂ්‍යයා



반 친구
පන්තියේ යාලුවා



칠판
කලු ලෑල්ල/වයිට් බෝඩ්



책상
පොත් මේසය



의자
පුටුව




책
පොත



공책
අභ්‍යාස පොත



연필
පැන්සල



볼펜
පෑන



지우개
මකනය



필통
පැන්සල් පෙට්ටිය



시계
ඔරලෝසුව



달력
දින දර්ශනය



창문
ජනේලය



문
දොර

Track 19



ගුරුතුමා පන්ති කාමරයේ නිතර භාවිතා කරන වචන මොනවාද? පන්ති කාමරයේ නිතර භාවිතා වන යෙදුම් මොනවාද සොයා බලන්න.



책을 펴세요.
පොත දිග අරින්න.



책을 덮으세요.
පොත වහන්න.




보세요.
බලන්න.




들으세요.
සවන් දෙන්න.



따라하세요.
මා කියවූ පසු කියවන්න.



읽으세요.
කියවන්න.



쓰세요.
ලියන්න.




이야기하세요.
කථා කරන්න.




대답하세요.
පිළිතුරු දෙන්න.




알겠어요?
තේරෙනවද?




네, 알겠습니다.
ඔව්, තේරෙනවා.




아니요, 모르겠습니다.
නැහැ, තේරෙන්නේ නැහැ




질문 있어요?
ප්‍රශ්න තියෙනවද?




네, 질문 있습니다.
ඔව්, ප්‍රශ්න තියෙනවා.




아니요, 질문 없습니다.
නැහැ, ප්‍රශ්න නැහැ.

# 04 안녕하세요
## ආයුබෝවන්

මෙම කොටසින් විවිධ අවස්ථාවන්හීදී භාවිතා වන කොරියානු භාෂාවේ ආචාර විධි පිළිබඳ විස්තරාත්මකව දැන ගනිමු.

Track 20

මුල් වරට හමුවන පුද්ගලයන් සඳහා ආචාර කරන්නේ කොහොමද කියලා විමසා බලමුද?








සමුගන්නා විටදී ආචාර කරන්නේ කොහොමද කියලා විමසා බලමුද?






යම් කෙනෙකුට ස්තුති කරන විටදී සහ සමාව අයැද සිටින විට කුමන යෙදුම් භාවිතා කරන්නේ දැයි විමසා බලමු.






# 05 주말 잘 보내세요

## සති අන්තය හොඳින් ගත කරන්න

මෙම පාඩමෙන් කොරියාවේ විවිධ ආචාර විධි ඉගෙන ගනිමු. 4 වන පාඩමෙන් ඉගෙන ගත් ආචාර විධි වලට අමතරව විවිධ අවස්ථා වලදී භාවිතා කරන ආචාර විධි ඉගෙන ගෙන බලමු.

Track 21

උදේට නැගිටින විට සහ නිදාගන්න යන අවස්ථාවේදී ආචාර කරන්නේ කොහොමද කියලා විමසා බලමු.







ආහාර ගන්නා අවස්ථාවේ ආචාර කරන්නේ කොහොමද කියලා දැන ගනිමු.








සති අන්තය හොඳින් ගත කරන්න යැයි පැවසිය හැකි ආචාර විධි මොනවා දැයි විමසා බලමු.






සුභ පතන විටදී භාවිතා කරන යෙදුම් මොනවා දැයි විමසා බලමු.



# 06 저는 투안입니다

මම තුවාන්

## 학습 안내

අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

- අධ්‍යයන අරමුණු — තමන්ව හඳුන්වාදීම
- ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් — 입니다, 입니까
- වචන භාවිතය සඳහා උපදෙස් — රටවල්, රැකියා
- සංස්කෘතික තොරතුරු — ආචාර කිරීමේ පුරුදු

## 대화 1 සංවාදය 1

Track 22



පහත දැක්වෙන්නේ මින්සු මහතා සහ තුවාන් මහතා අතර සංවාදයයි, ඔවුන් එකිනෙකා තමන්ව හඳුන්වා දෙමින් සිටියි. මුලින්ම දෙවරක් සංවාදයට සවන්දී අනුග මනය කරන්න.

민수 안녕하세요.
ආයුබෝවන්.
저는 이민수입니다.
මම ඉමින්සු.

투안 안녕하세요.
ආයුබෝවන්.
저는 투안입니다.
මම තුවාන්.
저는 베트남 사람입니다.
මම වියට්නාම් ජාතිකයෙක්.

**저** මම

කතා කරන පුද්ගලයා අනිකා අභිබවා කතා නොකොට ගෞරව කරමින් කතා කිරීමේදී භාවිතා කරන භාෂා විලාශය

- 저는 이영진입니다.
  මම ඉයොන්ජින්.
- 저는 스리랑카 사람입니다.
  මම ශ්‍රී ලාංකික ජාතිකයෙක්.

**안녕하세요** ආයුබෝවන්.

- 안녕하세요. 저는 이민수입니다.
  ආයුබෝවන්. මම ඉමින්සු.
- 안녕하세요. 만나서 반갑습니다.
  ආයුබෝවන්. හමුවීම සතුටක්.



පහත දක්වා ඇති ධජයන් වැඩ කිරීමට කොරියාවට පැමිණෙන රටවල ධජයන් වේ. කුමන රටවල් තිබේදැයි විමසා බලමුද?

1. 투안 씨는 누구와 인사를 했어요? තුවාන් මහත්මයා ආචාර කලේ කා සමග ද?
2. 투안 씨는 어느 나라 사람이에요? තුවාන් මහත්මයා කුමන ජාතිකයෙක් ද?

정답 1. 민수 씨와 인사를 했어요. 2. 베트남 사람입니다.



## 어휘 1 වචන මාලාව 1 나라 රට



පහත දක්වා ඇති ධජයන් වැඩ කිරීමට කොරියාවට පැමිණෙන රටවල ධජයන් වේ. කුමන රටවල් තිබේදැයි විමසා බලමුද?


스리랑카
ශ්‍රී ලංකාව


네팔
නේපාලය


동티모르
නැගෙනහිර තිමෝරය


필리핀
පිලිපීනය


라오스
ලාඕසය


몽골
මොන්ගෝලියාව


미얀마
මියන්මාරය


방글라데시
බංගලාදේශය


베트남
වියට්නාමය


태국
තායිලන්තය


우즈베키스탄
උස්බෙකිස්ථානය


인도네시아
ඉන්දුනීසියාව


중국
චීනය


캄보디아
කාම්බෝජය


키르기스스탄
කිර්ගිස්ථානය


파키스탄
පාකිස්ථානය

### Tip 입니다 වේ

'입니다' යන්න [임니다] ලෙස උච්චාරණය කරයි.

- 투안입니다 [투아님니다]
- 사람입니까? [사라밈니까]
- 사람입니다 [사라밈니다]
- 학생입니까? [학쌩임니까]
- 회사원입니다 [회사워님니다]

## 문법 1 සංවාදය 1 입니다

G06-1

'입니다(වේ)' යන්න කර්තෘ ලෙස යෙදෙන පුද්ගලයා හෝ වස්තුව හඳුන්වාදීමේදී යොදා ගනු ලබන අතර ප්‍රධාන වශයෙන් විධිමත් ව්‍යවහාරයේදී භාවිතා වේ. නාම පදයක් සමඟ එකට යොදනු ලබන අතර ශ්‍රවණය කරන පුද්ගලයාව උසස් කර දක්වද්දී භාවිතා කරයි.

- 가: 저는 한국 사람**입니다**. මම කොරියානු ජාතිකයෙක් වෙමි.　　나: 저는 민수**입니다**. මම මින්සු වෙමි.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ '입니다' හා '이/가 아닙니다'**

'입니다' යන්න නාම පදයක් හා සම්බන්ධ කර එම නාම පදය කර්තෘගේ ගුණාංගයක් විස්තර කිරීමට භාවිතා වේ, '아닙니다' යනු '입니다' යන්නෙහි සෘණාත්මක ප්‍රකාශනය ලෙසත් '이/가' යන්න '아닙니다' යන්නෙහි සංයුතිය ලෙසත් භාවිතා වේ, '아닙니다' යන්න ආඛ්‍යාතය ලෙස යෙදෙන බැවින් ඉදිරියෙන් ඇති වචනයෙන් වෙන් කොට ලියනු ලැබේ.

- 저는 한국 사람**입니다**.(O)
- 저는 한국 사람아닙니다.(X)
- 저는 한국 사람**이 아닙니다**.(O)



'입니다' ව්‍යාකරණය තේරුණා නේද? එහෙනම් උදාහරණ දෙස බලා දෙබස සම්පූර්ණ කරන්න.

1. 〈보기〉처럼 문장을 완성하세요. උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

보기



투안

저는 투안입니다. මම තුවාන්.

1) 

리한

________________.

2) 

수피카

________________.

2. 〈보기〉처럼 문장을 완성하세요. උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

보기



베트남

저는 베트남 사람입니다. මම වියට්නාම් ජාතිකයෙක්.

1) 

파키스탄

________________.

2) 

태국

________________.

정답 1. 1) 저는 리한입니다 2) 저는 수피카입니다 2. 1) 저는 파키스탄 사람입니다 2) 저는 태국 사람입니다

## 대화 2 සංවාදය 2

Track 23



තුවාන් මහතා සහ චුන්ගු මහත්මිය තම තමන්ව හඳුන්වා දෙමින් සිටියි. තමන්ගේ රට සහ ජාතිකත්වය හා තමන්ගේ රැකියාව ගැන කතා කරමින් සිටියි. මෙම පුද්ගලයන් දෙදෙනා කොහේ සිට පැමිණියේද? මුලින්ම දෙවරක් සංවාදයට සවන්දී අනුගමනය කරන්න.

투안 저는 투안입니다.
මම තුවාන්.

준구 어느 나라 사람입니까?
කුමන රටක ජාතිකයෙක්ද?

투안 베트남 사람입니다.
වියට්නාම් ජාතිකයෙක්.

준구 학생입니까?
ඔබ ශිෂ්‍යයෙක්ද?

투안 아니요, 회사원입니다.
නැහැ, කාර්යාල සේවකයෙක්.

> **어느** කුමන
> N. නාමපද කිහිපයක් අතර කුමක් අරමුණු වන්නේද යන්න විමසීමේදී භාවිතා කරයි.
> 가: 어느 나라 사람입니까?
> කුමන රටක ජාතිකයෙක්ද?
> 나: 한국 사람입니다.
> කොරියානු ජාතිකයෙක්.

> **아니요** නැත
> සෘණාත්මක ප්‍රතිචාරයක් ලබා දීමේදී හෝ යම් කාරණයක් ප්‍රතික්ෂේප කිරීමේදී යොදා ගැනේ. එකඟ වීමක් හෝ ධනාත්මක ප්‍රතිචාරයක් ලබා දීමේදී '네' යන්න භාවිතා කරනු ලැබේ.
> 가: 러시아 사람입니까?
> රුසියානු ජාතිකයෙක්ද?
> 나: 아니요, 미얀마 사람입니다.
> නැහැ, තායිලන්ත ජාතිකයෙක්.



මෙවර තුවාන් මහතා සහ චුන්ගු මහත්මිය අතර සංවාදය අනුගමනය කරන්න, හොඳින් සවන් දී අනුගමනය කළාද? එහෙනම් පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න, තුවාන් මහතා සහ චුන්ගු මහත්මිය කුමන රටකට අයත් ජාතිකයන්ද?

1. 투안 씨는 어느 나라 사람이에요? තුවාන් මහතා කුමන ජාතිකයෙක්ද?
2. 투안 씨의 직업은 뭐예요? තුවාන් මහතාගේ රැකියාව කුමක්ද?

정답 1. 베트남 사람입니다. 2. 회사원입니다.

# 어휘 2 වචන මාලාව 2 직업 රැකියා



රැකියා වලට සම්බන්ධ වචන දැන ගනිමුද?



학생
ශිෂ්‍යයා



선생님
ගුරුතුමා



회사원
කාර්යාල සේවකයා



주부
ගෘහණිය



경찰관
පොලිස් නිලධාරියා



소방관
ගිනි නිවන භටයා



공무원
රජයේ සේවකයා



점원
ලිපිකරු



의사
වෛද්‍යවරයා



간호사
හෙදිය



요리사
සූපවේදියා



운전기사
රියදුරු



기술자
ඉංජිනේරුවා



목수
වඩු කාර්මිකයා



농부
ගොවියා



어부
ධීවරයා



ඔබ ඉහතදී ඉගෙන ගත්ත වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයා බලන්න.

1. 그림을 보고 〈보기〉처럼 알맞은 말을 연결하세요.
   පින්තූරය දෙස බලා උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් වචනය සමඟ යා කරන්න.

보기 

① 

② 

③ 

④ 

㉠ 주부 ㉡ 의사 ㉢ 학생 ㉣ 경찰관 ㉤ 회사원

정답 ① ㉢ ② ㉠ ③ ㉤ ④ ㉣

## 문법 2 සංවාදය 2 입니까

G06-2

‘입니까?’ ‘වේද?’ යන්න ‘입니다’ (වේ) යන්නෙහි ප්‍රශ්නාර්ථය ස්වරූපයයි. ‘입니다’ හා සමානව නිල විධිමත් අවස්ථාවන්හිදී ශ්‍රවණය කරන පාර්ශවය උසස් කොට දැක්වීමේදී යොදා ගනී.

- 가: 어느 나라 사람**입니까**? මොන රටේ ජාතිකයෙක්ද?
  나: 저는 스리랑카 사람입니다. මම ශ්‍රී ලාංකිකයෙක් වෙමි.
- 가: 회사원**입니까**? සමාගම් සේවකයෙක්ද?
  나: 네, 회사원입니다. ඔව්, සමාගම් සේවකයෙක් වෙමි.



‘입니까?’ ඔබ තේරුම් ගත්තාද? පින්තූරයේ ඇති උදාහරණය බලා සංවාදය සම්පූර්ණ කරන්න.

2. 〈보기〉처럼 문장을 완성하세요. උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

보기 학생 → 학생입니까? ඔබ ශිෂ්‍යයෙක්ද?

1) 회사원 → ____________________?

2) 소방관 → ____________________?

3) 간호사 → ____________________?

4) 기술자 → ____________________?

정답 1) 회사원입니까 2) 소방관입니까 3) 간호사입니까 4) 기술자입니까



තව දුරටත් ඉගෙනගෙන බලමුද? පින්තූර දිහා බලලා ‘입니까?’ භාවිතා කරමින් වාක්‍යය සම්පූර්ණ කරන්න.

1. 

가: 중국 사람입니까?

나: 아니요, ____________________.

2. 

가: 간호사 ____________________?

나: 아니요, ____________________.

3. 

가: 요리사 ____________________?

나: 아니요, ____________________.

정답 1. 태국 사람입니다 2. 입니까, 의사입니다 3. 입니까, 기술자입니다

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 친구들과 이름, 국적, 직업을 묻고 대답해 보세요.
උදාහරණ දෙස බලා මිතුරන් සමග නම, ජාතිය, රැකියාව විමසා පිළිතුරු සපයන්න.

**보기**

투안 : 이름이 무엇입니까? නම කුමක්ද?
리한 : 리한입니다. රිහාන්.
투안 : 어느 나라 사람입니까? කුමන ජාතිකයෙක්ද?
리한 : 파키스탄 사람입니다. පාකිස්ථාන ජාතිකයෙක්.
투안 : 회사원입니까? කාර්යාල සේවකයෙක්ද?
리한 : 네, 회사원입니다. ඔව්, කාර්යාල සේවකයෙක්.

| | 이름 නම | 국적 ජාතිය | 직업 රැකියාව |
|---|---|---|---|
| 보기 | 수분<br>සුපුන් | 스리랑카 사람<br>ශ්‍රී ලාංකික පුද්ගලයෙක් | 회사원<br>කාර්යාල සේවකයා |
| 1 | | | |
| 2 | | | |
| 3 | | | |
| 4 | | | |
| 5 | | | |

### 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**처음 뵙겠습니다.** ඔබව හමුවන පළමු වතාවයි.

가: 만나서 반가워요. හමුවීම සතුටක්.
나: 투안이라고 합니다. **처음 뵙겠습니다.** මම තුවාන්, ඔබව හමුවන පළමු වතාවයි.

# 문화 සංස්කෘතිය

## 인사 예절 ආචාර කිරීමේ පුරුදු

### 자신보다 나이가 많거나 지위가 높은 사람과 인사할 때

තමාට වඩා වයසින් වැඩි කෙනෙකුට හෝ තමාට වඩා උසස් තත්ත්වයක සිටින පුද්ගලයෙකුට ඔබ ආචාර කරන විට



### 처음 만나는 사람과 인사할 때

ඔබ ප්‍රථම වරට මුණගැසෙන පුද්ගලයෙකුට ආචාර කරන විට



### 직장 동료나 아는 사람과 인사할 때

එකට වැඩ කරන හෝ අඳුනන පුද්ගලයෙකුට ආචාර කරන විට



### 자신보다 나이가 어리거나 친한 사람과 인사할 때

තමාට වඩා වයසින් අඩු හෝ හිතවත් පුද්ගලයෙකු සමඟ ආචාර කරන විට



### 내용 확인 අර්ථය තහවුරු කිරීම

✚ 빈칸에 알맞은 말을 쓰세요. හිස් තැනට සුදුසු වචනය ලියන්න.

(1) 어른을 만나면 '□□□□□'라고 인사합니다.
වැඩිහිටියෙකු හමු වන විට (□□□□□) කියා ආචාර කරනවා.

(2) 처음 만나는 사람에게는 '□□ □□□□□'라고 인사합니다.
ඔබ පළමු වරට මුණගැසෙන පුද්ගලයෙකුට (□□ □□□□□) කියා ආචාර කරනවා.

(3) 친구를 만나면 '□□'이라고 인사합니다.
ඔබ මිතුරෙකු හමු වූ විට (□□) කියා ආචාර කරනවා.

정답 (1) 안녕하세요 (2) 만나서 반갑습니다 (3) 안녕

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

1 සිට 3 දක්වා වචන වලට සවන් දී කුමන ජාතිය ද යන්න තෝරන්න. හොඳින් ඇහුම්කන් දී නිවැරදි වචන තෝරන්න.

[1~3] 들은 것을 고르십시오. ඔබට ඇසුණ වචන තෝරන්න.

Track 24

1. ① 중국　② 네팔　③ 한국　④ 몽골

2. ① 태국　② 미얀마　③ 베트남　④ 필리핀

3. ① 동티모르　② 스리랑카　③ 캄보디아　④ 파키스탄

ප්‍රශ්න 4 සහ 5 පින්තූර දෙස බලා නිවැරදි රැකියාව තෝරන ප්‍රශ්න වේ.

[4~5] 다음 그림을 보고 알맞은 것을 고르십시오.
පහත දැක්වෙන පින්තූර බලා නිවැරදි පිළිතුරු තෝරන්න.

4. 
① ② ③ ④

5. 
① ② ③ ④



### 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 여: 한국 කොරියාව
2. 남: 태국 තායිලන්තය
3. 여: 동티모르 නැගෙනහිර තිමෝරය
4. ① 남: 의사 වෛද්‍යවරයා　② 남: 목수 වඩු කාර්මිකයා
   ③ 남: 학생 ශිෂ්‍යයා　④ 남: 주부 ගෘහණිය
5. ① 여: 회사원 කාර්යාල සේවකයා　② 여: 소방관 ගිනි නිවන භටයා
   ③ 여: 요리사 සූපවේදියා　④ 여: 기술자 ඉංජිනේරුවා

정답 1. ③ 2. ① 3. ① 4. ① 5. ③

## 확장 연습 වැඩිදුර අභ්‍යාස　L-06

1. 들은 것을 고르십시오. සවන් දුන් දේ තෝරන්න.

   ① 태국　② 라오스　③ 미얀마　④ 스리랑카

2. 질문을 듣고 알맞은 대답을 고르십시오. ප්‍රශ්නයට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

   ① 네, 학생입니다.　② 네, 회사원입니다.
   ③ 아니요, 한국 사람입니다.　④ 아니요, 태국 사람입니다.

3. 다음 그림을 보고 알맞은 것을 고르십시오.
   පහත දැක්වෙන පින්තූර බලා නිවැරදි පිළිතුරු තෝරන්න.



①　②　③　④

### 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 스리랑카 ශ්‍රී ලංකාව
2. 남: 한국 사람입니까? කොරියානු ජාතිකයෙක්ද?
3. ① 남: 기술자 ඉංජිනේරුවා　② 남: 요리사 සූපවේදියා
   ③ 남: 경찰관 පොලිස් නිලධාරියා　④ 남: 회사원 කාර්යාල සේවකයා

정답 1. ④ 2. ④ 3. ④

## EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



අංක 1 සහ අංක 2න් දැක්වෙන්නේ රැකියා සම්බන්ධ වචනයි. පින්තූරය දෙස බලා නිවැරදි රැකියාව තෝරන්න.

[1~2] 다음 그림을 보고 맞는 단어를 고르십시오. පහත පින්තූර දෙස බලා ගැළපෙන වචනය තෝරන්න.

1. 

① 회사원　② 선생님
③ 경찰관　④ 공무원

2. 

① 점원　② 어부
③ 목수　④ 농부



අංක 3 ජාතිකත්වය පිළිබඳ කථා කරද්දී භාවිතා වන වචන තෝරන ප්‍රශ්නයක් වන අතර අංක 4 නම විමසා බලන ප්‍රශ්නයකි. අංක 5 (ඔව්/නැහැ) යන්නෙහි අර්ථය තේරුම් ගත හැකි දැයි විමසා බලන ප්‍රශ්නයකි. අද ඉගෙන ගත්ත දේවල් මතක් කරන ගමන් පහත ගැටළු විසඳා බලන්න.

[3~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오.
හිස්තැනට වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

3. 저는 베트남 ______________입니다. මම වියට්නාම් ජාතික පුද්ගලයෙක් වෙමි.

① 몽골　② 사람　③ 인사　④ 나라

4. 가: ______________이 무엇입니까? නම කුමක්ද?
나: 리한입니다. රිහාන් වෙමි.

① 한국　② 직업　③ 이름　④ 점원

5. 가: 학생입니까? ශිෂ්‍යාවක් ද?
나: ______________, 회사원입니다. නැහැ, කාර්යාල සේවකයෙකි.

① 네　② 아니요　③ 괜찮아요　④ 감사합니다

정답 1. ② 2. ④ 3. ② 4. ③ 5. ②



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~2] 다음 그림을 보고 맞는 문장을 고르십시오. පහත රූපය දෙස බලා නිවැරදි වචනය තෝරන්න.

1.  

① 태국 사람입니다. ② 라오스 사람입니다
③ 미얀마 사람입니다. ④ 스리랑카 사람입니다.

2. 

① 장화 ② 양말
③ 베개 ④ 구두

[3~4] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

3.
가: ______________________?
나: 아니요, 농부입니다. නැහැ, ගොවියෙකි.

① 농부입니까 ② 목수입니까
③ 투안 씨입니까 ④ 어느 나라 사람입니까

4.
가: 축하합니다. මගේ සුභ පැතුම්.
나: ______________________.

① 감사합니다 ② 잘 먹겠습니다
③ 안녕히 주무세요 ④ 주말 잘 보내세요

정답 1. ④ 2. ② 3. ② 4. ①

## 발음 උච්චාරණය P01

හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

කොරියානු භාෂාවෙහි 아, 이, 우, 애, 오, 에, 어, 으 ආදී ඒකල ස්වර 8 ක් ඇත. එහෙත් තරුණ පිරිස් මෙම ස්වර අතරින් '에[e]' සහ '애[ɛ] ' වල වෙනස හඳුනාගෙන උච්චාරණය කිරීමේදී අපහසුතාවයන්ට මුහුණදෙති.

(1) 이, 에, 애, 아
(2) 우, 오, 어, 아
(3) 우, 으
(4) 아이, 오이, 아우, 우애

# 07 여기가 사무실이에요

මෙතන කාර්යාලයයි

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| □ අධ්‍යයන අරමුණු | ස්ථාන සහ භාණ්ඩ පිළිබඳ විමසීම සහ පිළිතුරු දීම |
| □ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | 이/가, 이에요/예요 |
| □ වචන භාවිතය සඳහා උපදෙස් | ස්ථාන, භාණ්ඩ |
| □ සංස්කෘතික තොරතුරු | කොරියානු බිම වාඩි වීමේ සංස්කෘතිය, දෛනික ජීවිතයේ අත්‍යාවශ්‍ය භාණ්ඩ (නාන කාමරයෙහි තිබෙන භාණ්ඩ) |

## 대화 1 සංවාදය 1

Track 25



පහත දැක්වෙන්නේ මින්සු මහතා සහ තුවාන් මහතා අතර සංවාදයයි. මින්සු මහතා තුවාන් මහතාට කාර්යාලය ගැන සහ කාර්යාලය වැසිකිළිය ගැන විස්තර කරයි. පළමුව දෙවරක් සංවාදයට සවන්දී අනුගමනය කරන්න.

투안 여기가 사무실입니까?
කාර්යාලය මෙතනද?

민수 네, 사무실입니다.
ඔව්, මේ කාර්යාලයයි.

투안 화장실이 어디입니까?
වැසිකිළිය කොහේද?

민수 저기입니다.
අතනයි.

**여기** මෙතන
- 여기가 사무실입니다.
  මෙතන කාර්යාලයයි.
- 여기가 집입니다.
  මෙතන නිවසයි.

**어디** කොහෙද
- 사무실이 어디입니까?
  කාර්යාලය කොහෙද?
- 저기가 어디입니까?
  අතන කොතනද?



හොඳින් සවන් දී අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 민수 씨는 무엇을 하고 있어요? මින්සු මහතා කුමක් කරමින් සිටින්නේද?
2. 두 사람은 지금 어디에 있어요? දෙදෙනා දැන් කොහේ සිටින්නේද?

정답 1. 회사를 소개하고 있어요. 2. 사무실에 있어요.



## 어휘 1 වචන මාලාව 1    장소 ස්ථාන



විවිධ ස්ථාන කීපයක් පහත දැක්වේ. පළමුව ඔබ දන්නා වචන ඇත්දැයි පරීක්ෂා කරලා බලන්න. ඉන්පසු පින්තූර දෙස බලමින් ඒවා කොරියානු භාෂාවෙන් පවසන්නේ කෙසේ දැයි බලන්න.


여기
මෙතන


저기
අතන


거기
ඔතන


어디
කොහෙද



회사
ආයතනය


사무실
කාර්යාලය


화장실
වැසිකිළිය



식당
ආපන ශාලාව


집
නිවස


기숙사
නවාතැන


세탁소
රෙදි සෝදන ස්ථානය



미용실
බාබර් සාප්පුව



시장
පොළ



마트
වෙළඳසැල



편의점
කුඩා වෙළඳසැල



슈퍼마켓
සුපිරි වෙළඳසැල



ඉහත දැක්වෙන වචන මාලාව නොබලා ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූර දෙස බලා අදාළ වචන යා කරන්න.

① 
② 
③ 
④ 

㉠ 회사   ㉡ 사무실   ㉢ 집   ㉣ 화장실

정답 ① ㉢ ② ㉠ ③ ㉡ ④ ㉣

## 문법 1 සංවාදය 1 이/가

G07-1

이/가(ඉ/ගා) යන්න නාම පදයක පිටුපසින් යෙදෙන අතර එම නාම පදය වාක්‍යයෙහි කර්තෘ බව දැක්වීමට භාවිතා කරයි. 저(මම), 나(මම), 너(ඔබ) වැනි නාමපද පිටුපසින් '가' සම්බන්ධ වූ විට 제가(මම), 내가(මම), 네가(ඔබ) බවට පත් වේ.

| 자음 (ව්‍යඤ්ජන) + **이** | 모음 (ස්වර) + **가** |
|---|---|
| 사무실**이** | 여기**가** |

- 여기**가** 사무실입니다. මෙතන කාර්යාලය වේ.
- 시장**이** 어디입니까? පොළ කොහෙද තියෙන්නේ?

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ '이/가' සහ '은/는'**

'이/가' සහ '은/는' ප්‍රධාන වශයෙන් වාක්‍යයේ කර්තෘ යන්න දක්වන්න භාවිතා කෙරේ. '이/가' කර්තෘ යන්න පමණක් දක්වන්න යොදන අතර '은/는' කර්මය සහ ක්‍රියාවිශේෂණයක් යන්න දක්වන්නත් යෙදිය හැක. එමෙන්ම '은/는' විචල්‍යය හෝ තේමාවක් පිළිඹිබු කිරීමට හැකි නමුත්, '이/가' යොදා එසේ කිරීමට නොහැකි වන අතර නව මාතෘකා ඉදිරිපත් කිරීමට හැකියාව ඇත.

- 제 이름이 김민수입니다.(X)
- 제 이름**은** 김민수입니다.(O)
- 어떤 사람**이** 길을 물었습니다.(O)
- 어떤 사람은 길을 물었습니다.(X)



'이/가' ව්‍යාකරණය තේරුණා නේද? එහෙනම් උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

2. <보기>처럼 '이/가'를 사용해서 문장을 완성하세요.
'이/가' යොදමින් වාක්‍යය සම්පූර්ණ කරන්න.

보기 화장실(이) 어디입니까? වැසිකිළිය කොහේද?

1) 식당(　　) 어디입니까?
ආපන ශාලාව කොහේද?

2) 세탁소(　　) 어디입니까?
රෙදි සෝදන ස්ථානය කොහේද?

3) 여기(　　) 시장입니다.
මෙතන පොළයි.

4) 편의점(　　) 저기입니다.
කුඩා වෙළඳසැල අතනයි.

정답 1) 이 2) 가 3) 가 4) 이



තව ටිකක් පාඩම් කරමුද? පින්තූර දෙස බලා '이/가' භාවිතා කරමින් වාක්‍යය සම්පූර්ණ කරන්න.

1. 

________이/가 어디입니까?

2. 

________이/가 어디입니까?

정답 1. 시장이 2. 슈퍼마켓이

## 대화 2 සංවාදය 2

Track 26



රිහාන් මහතා සහ තුවාන් මහතා නවාතැන් කාමරයේ ඇති භාණ්ඩ දෙස බලමින් සංවාදයක යෙදී සිටියි. පළමුව සංවාදය දෙවරක් සවන් දී සිටින්න.

리한　**여기가 기숙사예요.**
මෙතන නවාතැනයි.
**이건 기숙사 열쇠예요.**
මේ නවතැනේ යතුරයි.

투안　**감사합니다.**
ස්තූතියි.
**그런데 저게 뭐예요?**
නමුත් අරක කුමක්ද?

리한　**가족사진이에요.**
පවුලේ පින්තූරයකි.

**그런데** ඒ උනත්

ඉදිරිපස අන්තර්ගතය පසුපස අන්තර්ගතය සමග සම්බන්ධ කර බලන විට වෙනත් දිශාවකට යොමුවන අවස්ථාවන්හිදී ලියා ඉදිරිපස වාක්‍ය පසුපස වාක්‍ය එකතු කල හැකි පදයයි.

- 가: 사무실이 어디예요?
  කාර්යාලය කොහෙද?

  나: 저기예요. 그런데 사무실에 왜 가요?
  අතනයි, ඒ උනත් ඇයි කාර්යාලයට යන්නේ?

**뭐**

무엇 යන වචනයේ කෙටි යෙදුම, සාමාන්‍යයෙන් කථා කරන භාෂාවෙදි භාවිතා කරයි.

- 이름이 뭐예요?
  ඔබේ නම කුමක්ද?
- 이게 뭐예요?
  මෙය කුමක්ද?



ඉදිරිපස අන්තර්ගතය පසුපස අන්තර්ගතය සමග සම්බන්ධ කර බලන විට කතාබහේ මාතෘකාව වෙනත් දිශාවකට යොමුවන අවස්ථාවන්හිදී යොදා ගනියි.

1. 리한 씨와 투안 씨는 어디에 있어요? රිහාන් මහතා සහ තුවාන් මහතා කොහෙද සිටින්නේ?
2. 기숙사에 뭐가 있어요? නවාතැනේ මොනවද තියෙන්නෙ?

정답　1. 기숙사　2. 열쇠, 가족사진

**Tip 줄임말** කෙටි යෙදුම්

**말하기에서는 줄임말을 많이 사용합니다.**
කතා කිරීමේ දී කෙටි යෙදුම් සුලභව භාවිතා කරයි

| | |
|---|---|
| · 이것은 → 이건 | 이것이 → 이게 |
| · 저것은 → 저건 | 저것이 → 저게 |
| · 그것은 → 그건 | 그것이 → 그게 |

## 어휘 2 වචන මාලාව 2 물건 භාණ්ඩ



භාණ්ඩ පිළිබඳ කථා කිරීමේදී කිනම් වචන භාවිතා කරන්නේ දැයි දැනගනිමුද?



열쇠
යතුර



가족사진
පවුලේ පින්තූරය



가방
බෑගය



지갑
පසුම්බිය




여권
විදේශ ගමන් බලපත්‍රය



우산
කුඩය



거울
කණ්ණාඩිය




화장품
රූපලාවන්‍ය භාණ්ඩ



빗
පනාව



헤어드라이어
කෙස් වියලුම් යන්ත්‍රය



베개
කොට්ටය



이불
ඇඳ ඇතිරිල්ල



ඔබ ඉහතදී ඉගෙන ගත් වචන මාලාව නැවත මතක් කරමින් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූර දෙස බලා අදාළ වචන සමග යා කරන්න.

① 

② 

③ 

④ 

㉠ 가방　㉡ 여권　㉢ 이불　㉣ 우산

정답 ① ㉢　② ㉡　③ ㉣　④ ㉠

## 문법 2 සංවාදය 2 이에요/예요

G07-2

'이에요/예요' යන්න '입니다' මෙන් කතෘ ලෙස යෙදෙන පුද්ගලයා හෝ වස්තුව හඳුන්වාදීමේදී යොදා ගනු ලබයි. ඉදිරියෙන් පැමිණෙන නාම පදයේ පිටුපසින් සම්බන්ධ වී වාක්‍යයෙහි ක්‍රියා වාචිකය හෙවත් ආඛ්‍යාතයේ කාර්යය ඉටු කරන අතර ප්‍රධාන වශයෙන් අවිධිමත් ප්‍රකාශනයේදී යොදා ගැනේ.

| 자음 (ව්‍යඤ්ජන) + **이에요** | 모음 (ස්වර) + **예요** |
| --- | --- |
| 가방**이에요** | 베개**예요** |

- 가: 여기가 어디**예요**? මේ කොහේද? 나: 기숙사**예요**. මේ නේවාසිකාගාරය.
- 가: 어느 나라 사람**이에요**? මොන රටේ ජාතිකයෙක්ද? 나: 스리랑카 사람**이에요**. මම ලාංකිකයෙක්.

### 대조적 정보 වෙනත් තොරතුරු

සිංහල භාෂාවේ '이것은 책이에요(මෙය පොතක් වේ).' යන්න '이것 + 책මෙය පොතක්)' ලෙසද ලිවිය හැකි නමුත් කොරියානු භාෂාවෙහි නාම පදයට පසුව '이에요/예요(වේ)' යෙදීම අනිවාර්යය වේ.

· 이것은 책**이에요**. මෙය පොතක් වේ.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ '이에요/예요' සහ '입니다'**

'이에요/예요' විධිමත්/හෝ ඉතාමත් ගෞරවනීය ලෙස කථා කිරීමට අවශ්‍ය නොවන තැන්හීදී මිත්‍රශීලීව කථා කරන විට භාවිතා කරයි. '입니다' රැස්වීම් සහ ඉදිරිපත් කිරීම් වැනි විධිමත් හෝ ඉතාමත් ගෞරවනීය ලෙස කථා කිරීමට අවශ්‍ය  තැන්හී දී භාවිතා කරයි.

· 저는 이민수**예요**. · 저는 이민수**입니다**.
· 저는 이영진**이에요**. · 저는 이영진**입니다**.



'이에요/예요' ව්‍යාකරණය තේරුණා නේද? එසේනම් උදාහරණ දෙස බලා වාක්‍ය සම්පූර්ණ කරන්න.

2. <보기>처럼 '이에요/예요'를 사용해서 대화를 완성하세요.
'이에요/예요' යොදා ගනිමින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

보기




가: 이게 뭐예요? මේ කුමක්ද?
나: <u>화장품이에요</u>. රූපලාවන්‍ය භාණ්ඩයක්.

1)  가: 이게 뭐예요?
나: ______________________.

2)  가: 이게 뭐예요?
나: ______________________.

3)  가: 저게 뭐예요?
나: ______________________.

4)  가: 저게 뭐예요?
나: ______________________.

정답 1) 여권이에요 2) 지갑이에요 3) 열쇠예요 4) 베개예요

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 친구와 이야기해 보세요.
උදාහරණයෙන් පෙන්වා දී ඇති ආකාරයට මිතුරා සමඟ කථා කර බලන්න.

**보기**

가: 여기가 어디예요? මේ කොහෙද?
나: 교실이에요. පන්ති කාමරය.
가: 이게 뭐예요? මේ කුමක්ද?
나: 컴퓨터예요. පරිගණකයක්.

(1)



(2)





අංක 1 පංති කාමරයක පින්තූරයක් වන අතර අංක 2 කාමරයක පින්තූරයකි. මේ කාමර දෙකේ මොනවාද තියෙන්නේ? උදාහරණය කියවා පහත දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයන්න.

### 퀴즈 ප්‍රහේලිකාව

✚ 알맞은 말에 ✓하세요. නිවැරදි වචනයට ඉදිරියෙන් ✓ ලෙස ලකුණු කරන්න.



- ☐ 시계예요.
- ☐ 텔레비전이에요.



- ☐ 책상이에요.
- ☐ 침대예요.

정답 1. 시계예요. 2. 침대예요.

## 문화 සංස්කෘතිය

# 한국의 좌식 문화 කොරියානු බිම වාඩිවීමේ සංස්කෘතිය

한국은 바닥에 앉아서 생활하는 좌식 문화가 발달했습니다. 그래서 한국 사람들은 대부분 집에서 신발을 벗고 생활합니다. 그리고 신발을 벗고 들어가서 식사를 하는 식당도 있습니다.

කොරියාවේ බිම වාඩිවී එදිනෙදා කටයුතු කිරීමේ සංස්කෘතිය කෙමෙන් වර්ධනය වී තිබේ.එමනිසා බොහෝ කොරියානු වැසියන් ඔවුන්ගේ නිවස තුලදී පාවහන් පැළඳීම සිදු නොකරයි. එමෙන්ම පාවහන් ගලවා ඇතුලු විය යුතු අවන්හල්ද තිබේ.





생활필수품(세면도구) දෛනික ජීවිතයේ අත්‍යාවශ්‍යය භාණ්ඩ (නාන කාමරයෙහි තිබෙන භාණ්ඩ)



| | | |
|---|---|---|
| 린스 කන්ඩිශනර් | 샴푸 ෂැම්පු | 비누 සබන් |
| 칫솔 දත් බුරුසු | 치약 දන්තාලේප | 수건 තුවාය |
| 면도기 ෂවර් එක | 휴지 ටිෂු කඩදාසි | 컵 කෝප්පය |

## EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

අංක 1 සහ අංක 2 ස්ථාන පිළිබඳ කියැවෙන වචන වන අතර අංක 3 භාණ්ඩ පිළිබඳ කියැවෙන වචනයි. හොඳින් සවන් දී ඔබට ඇසුනු වචන තෝරන්න.

[1~3] 들은 것을 고르십시오. ඔබ සවන් දුන් දේ තෝරන්න.

Track 27

1. ① 여기 ② 저기 ③ 어디 ④ 거기

2. ① 회사 ② 식당 ③ 시장 ④ 마트

3. ① 열쇠 ② 가방 ③ 우산 ④ 베개

පහත දැක්වෙන්නේ පින්තූරය බලා ඊට ගැලපෙන වචන තේරීමේ ප්‍රශ්නයි. සංවාදය සවන් දීමට පෙර ප්‍රශ්නයේ අන්තර්ගතය හොඳින් විමසා බලන්න.

[4~5] 다음 그림을 보고 알맞은 대답을 고르십시오.
පහත පින්තූර දෙස බලා ගැලපෙන පිළිතුර තෝරන්න.

4. 
① ② ③ ④

5. 

① ② ③ ④



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 여: 여기 මෙතන
2. 남: 시장 පොළ
3. 여: 베개 කොට්ටය
4. ① 여: 사무실 කාර්යාලය ② 여: 세탁소 රෙදි සෝදන ස්ථානය
   ③ 여: 화장실 වැසිකිළිය ④ 여: 기숙사 නවාතැන
5. ① 남: 지갑 පසුම්බිය ② 남: 여권 විදේශ ගමන් බලපත්‍රය
   ③ 남: 이불 ඇඳ ඇතිරිල්ල ④ 남: 거울 කණ්ණාඩිය

정답 1. ① 2. ③ 3. ④ 4. ③ 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස L-07

1. 들은 것을 고르십시오. සවන් දුන් දේ තෝරන්න.

① 우산 ② 가방 ③ 지갑 ④ 베개

2. 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන්දී ගැලපෙන පිළිතුර තෝරන්න.




① 빗이에요. ② 열쇠예요.
③ 거울이에요. ④ 화장품이에요.

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 가방 බෑගය
2. 남: 이게 뭐예요? මෙය කුමක්ද?

정답 1. ② 2. ④

## 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**잘 부탁드립니다.** කරුණාවෙන් මට උදව් කරන මෙන් ඉල්ලා සිටිමි.

가: 안녕하세요? 처음 뵙겠습니다. ආයුබෝවන්, පළමු වතාවටයි හමුවන්නේ.
나: 안녕하세요? **잘 부탁드립니다.** ආයුබෝවන්, **කරුණාවෙන් මට උදව් කරන මෙන් ඉල්ලා සිටිමි.**

## EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



අංක 1 සහ අංක 2 පින්තූරය බලා නිවැරදි ස්ථානය තෝරන ප්‍රශ්න වන අතර අංක 3 නිවැරදි භාණ්ඩය තෝරන ප්‍රශ්නයි. පින්තූරට ගැලපෙන වචනය තෝරන්න.

[1~3] 다음 그림을 보고 맞는 단어를 고르십시오.
පින්තූර බලා ඊට ගැලපෙන වචනය තෝරන්න.

1. 

① 집 ② 시장
③ 회사 ④ 마트

2. 

① 미용실 ② 편의점
③ 세탁소 ④ 슈퍼마켓

3. 

① 이불 ② 우산
③ 열쇠 ④ 가방



පහත සංවාදයට සවන් දී හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න. ඉගෙන ගත් දෑ මතක් කරමින් පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

[4~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오.
හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

4.
가: 여기가 ______________입니까? මේ කුමන ස්ථානය ද?
나: 사무실입니다. මේ කාර්යාලයයි.

① 언제 ② 누구 ③ 어디 ④ 무슨

5.
가: 저게 ______________예요? අරක කුමක්ද?
나: 가족사진이에요. පවුලේ පින්තූරයකි.

① 왜 ② 뭐 ③ 장소 ④ 나라

정답 1. ① 2. ③ 3. ② 4. ③ 5. ②



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 다음 그림을 보고 알맞은 단어를 고르십시오. පහත පින්තූර බලා ගැළපෙන වචනය තෝරන්න.

1.



① 기숙사예요　② 세탁소예요
③ 미용실이에요　④ 화장실이에요

2.




① 마트예요　② 회사예요
③ 사무실이에요　④ 편의점이에요

3.



① 베개예요　② 이불이에요
③ 가족사진이에요　④ 헤어드라이어예요

[4~6] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

4.

가: ______________________?
나: 네, 사무실입니다. ඔව්, කාර්යාලයයි.

① 이게 뭐예요　② 여기가 기숙사예요
③ 식당이 어디예요　④ 저기가 사무실이에요

5.

가: 여기가 __________입니까? මේ කුමන ස්ථානයද?
나: 세탁소입니다. රෙදි සෝදන ස්ථානයයි.

① 누구　② 무엇
③ 어디　④ 회사

6.

내일은 월급날입니다. 주말에 친구들과 영화를 보러 __________에 갈 겁니다.
හෙට වැටුප් ලැබෙන දිනයයි. මිතුරන් සමඟ චිත්‍රපටයක් බලන්න සිනමා ශාලාවට යන්නයි ඉන්නේ.

① 서점　② 은행
③ 식당　④ 극장

정답 1. ④　2. ①　3. ③　4. ④　5. ③　6. ④

# 08 12시 30분에 점심을 먹어요

12.30 ට දිවා ආහාරය ගන්නවා

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | දින චර්යාව සහ වෙලාවන් විමසා ප්‍රශ්න වලට පිළිතුරු දීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | -아요/어요, 에(시간) |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | දින චර්යාව, කාලය |
| ▫ සංස්කෘතික තොරතුරු | වෙලාවට වැඩට යමු |

## 대화 1 සංවාදය 1

Track 28

පහත දැක්වෙන්නේ සුරු මහත්මිය සහ තුවාන් මහතා අතර සංවාදයයි. දැන් ඔවුන් දෙදෙනා කුමක් කරයිද යන්න එකිනෙකාගෙන් විමසමින් සිටියි. මුලින්ම සංවාදයට දෙවරක් සවන් දී අනුගමනය කරන්න.

수루 투안 씨, 지금 뭐 해요?
තුවාන් මහත්මයා, දැන් මොකද කරන්නේ?

투안 텔레비전을 봐요.
රූපවාහිනිය නරඹනවා.

수루 씨는 뭐 해요?
සුරු මහත්මිය මොකද කරන්නෙ?

수루 저는 지금 요리해요.
මම දැන් ආහාර පිසිනවා.

**씨 මහත්මයා / මහත්මිය**
නම හෝ වාසගම පිටුපසින් යොදා එම පුද්ගලයාව ගෞරවාන්විතව ආමන්ත්‍රණය කිරීමේදී භාවිතා කරයි.
- 이분은 수분 씨예요. 스리랑카 사람이에요.
  මෙම පුද්ගලයා සුපුන් මහතායි. ශ්‍රී ලාංකික ජාතිකයෙකි.
- 민수 씨, 지금 뭐 해요?
  මින්සු මහත්මිය දැන් මොකද කරන්නේ?

**을/를**
නාමපද සමග එකට භාවිතා කරයි. සකර්මක ක්‍රියාපදයේ ඉදිරියෙන් ස්ථානගත වන අතර වාක්‍යයේ කර්මය නියෝජනය කරයි. නාමපදය ව්‍යංජනයකින් අවසන් වේනම් '을' ද, ස්වරයකින් අවසන් වේනම් '를' ද, යොදනු ලැබේ. ක්‍රියාපදය '하다' ලෙස අවසන් වන අවස්ථාවන්හිදී '을/를' ඉවත්කර භාවිතාකල හැක.
- 저는 점심을 먹어요.
  මම දිවා ආහාරය ගන්නවා.
- 수루 씨는 요리를 해요/요리해요.
  සුරු මහත්මිය ආහාර පිළියෙල කරනවා.

හොඳින් සවන් දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයන්න.

1. 투안 씨는 지금 뭐 해요? තුවාන් මහත්මයා දැන් මොකද කරන්නේ?
2. 수루 씨는 지금 뭐 해요? සුරු මහත්මිය දැන් මොකද කරන්නේ?

정답 1. 텔레비전을 봐요. 2. 요리해요.



## 어휘 1 වචන මාලාව 1 **일과** දින චර්යාව

පහත දැක්වෙන්නේ කොරියානු භාෂාවේ විවිධ ක්‍රියාපද කිහිපයකි, ඒවා මොනවාදැයි දැන ගනිමුද?



텔레비전을 보다
රූපවාහිනී නරඹනවා



장을 보다
පොළේ යනවා



일어나다
උදෑසන අවදි වෙනවා



자다
නින්දට යනවා



쉬다
විවේක ගන්නවා



씻다
සෝදනවා



커피를 마시다
කෝපි පානය කරනවා



아침/점심/저녁을 먹다
උදේ / දිවා / රාත්‍රී ආහාර ගැනීම



일하다
වැඩ කරනවා



요리하다
ආහාර පිසිනවා



운동하다
ක්‍රීඩා කරනවා



전화하다
දුරකතන ඇමතුම් දෙනවා



회사에 가다
ආයතනයට යනවා



집에 오다
නිවසට එනවා

ඉහත වචන දෙස නොබලා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූරය දෙස බලා අදාළ වචනය යා කරන්න.

① 

② 

③ 12:40p.m 

④ 

㉠ 자다 ㉡ 운동하다 ㉢ 요리하다 ㉣ 점심을 먹다

정답 ①㉡ ②㉢ ③㉣ ④㉠

## 문법 1 සංවාදය 1 -아요/어요

G08-1

'–아요/어요' යන්න ක්‍රියාපදයක හෝ ක්‍රියා විශේෂණයක පිටුපසින් සම්බන්ධ වී යම් තත්වයක් හෝ ක්‍රියාවක් විස්තර කිරීම සඳහා හෝ ප්‍රශ්න ඇසීම සඳහා යොදාගනු ලබයි. අවිධිමත් ප්‍රකාශනයෙහි ගෞරවාර්ථය හඟවයි.

| ㅏ, ㅗ → **-아요** | ㅓ, ㅜ, ㅣ ආදී → **-어요** | 하다 → **해요** |
|---|---|---|
| 가다 → 가요<br>보다 → 봐요 | 먹다 → 먹어요<br>읽다 → 읽어요 | 공부하다 → 공부해요<br>운동하다 → 운동해요 |

- 투안 씨는 커피를 **마셔요**. තුවාන් මහතා කෝපි බොනවා.
- 저는 지금 점심을 **먹어요**. මම දැන් දවල් කෑම කනවා.
- 투안 씨는 텔레비전을 **봐요**. තුවාන් මහතා රූපවාහිනිය බලනවා.
- 아침에 **운동해요**. උදෑසන ව්‍යායාම කරනවා.



'–아요/어요' ව්‍යාකරණය ගැන අවබෝධ වුණා නේද? එසේනම් උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 대화를 완성하세요.
පින්තූර බලා උදාහරණය පරිදි සංවාදය සම්පූර්ණ කරන්න.

보기


씻다

가: 지금 뭐 해요? දැන් මොනවද කරන්නේ?
나: 씻어요. සෝදනවා.

1) 
텔레비전을 보다

가: 지금 뭐 해요?
나: ________________.

2) 
커피를 마시다

가: 지금 뭐 해요?
나: ________________.

3) 
일하다

가: 지금 뭐 해요?
나: ________________.

4) 
운동하다

가: 지금 뭐 해요?
나: ________________.

정답 1) 텔레비전을 봐요 2) 커피를 마셔요 3) 일해요 4) 운동해요



තව ටිකක් අභ්‍යාස කරමුද? පින්තූර දෙස බලා '–아요/어요' භාවිතා කරමින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

1. 

가: 지금 뭐 해요?
나: ________________.

2. 

가: 지금 뭐 해요?
나: ________________.

정답 1. 전화해요 2. 장을 봐요

## 대화 2 සංවාදය 2

Track 29



රිහාන් මහතා සහ තුවාන් මහතා වැඩපලේ සිට ඔරලෝසුව දෙස බලමින් කතා කරමින් සිටියි. ඔවුන් කුමක් ගැන කතා කරමින් සිටියිද? මුලින්ම, සංවාදය දෙවරක් සවන් දෙන්න.

> **몇**
> කීයටද /කොයි වෙලාවෙද?
> · 몇 시예요?
> කීයටද?
> · 몇 시에 회사에 가요?
> කීයටද ආයතනයට යන්නේ?

투안 **지금 몇 시예요?**
දැන් වෙලාව කීයද?

리한 **11시예요.**
11 යි.

투안 **몇 시에 점심을 먹어요?**
කීයටද දිවා ආහාරය ගන්නේ?

리한 **12시 30분에 먹어요.**
12.30 ට ගන්නවා.

> **시, 분** පැය , විනාඩි
> කාලය සඳහන් කිරීමේදී භාවිතා කරයි
> · 지금 12시예요.
> දැන් වෙලාව දොළහයි.
> · 6시 30분에 집에 가요.
> හයයි තිහට ගෙදර යනවා.



මෙවර රිහාන් මහතා දැන් රිහාන් මහතා සහ තුවාන් මහතා ලෙස සංවාදය අනුගමනය කරමින් කියවන්න. හොඳට සවන් දී අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 지금 몇 시예요? දැන් වෙලාව කීයද?
2. 리한 씨는 몇 시에 점심을 먹어요? රිහාන් මහතා කීයටද දවල්ට කන්නේ?

정답 1. 11시예요. 2. 12시 30분에 먹어요.

### Tip ○시 ○분 0පැය 0විනාඩි

| ○시 | | |
|---|---|---|
| 01:00 | 1시 | 한 시 |
| 02:00 | 2시 | 두 시 |
| 03:00 | 3시 | 세 시 |
| 04:00 | 4시 | 네 시 |
| 05:00 | 5시 | 다섯 시 |
| 06:00 | 6시 | 여섯 시 |
| 07:00 | 7시 | 일곱 시 |
| 08:00 | 8시 | 여덟 시 |
| 09:00 | 9시 | 아홉 시 |
| 10:00 | 10시 | 열 시 |
| 11:00 | 11시 | 열한 시 |
| 12:00 | 12시 | 열두 시 |

| ○분 | | |
|---|---|---|
| 00:01 | 1분 | 일 분 |
| 00:02 | 2분 | 이 분 |
| 00:03 | 3분 | 삼 분 |
| 00:04 | 4분 | 사 분 |
| 00:05 | 5분 | 오 분 |
| 00:06 | 6분 | 육 분 |
| 00:07 | 7분 | 칠 분 |
| 00:08 | 8분 | 팔 분 |
| 00:09 | 9분 | 구 분 |
| 00:10 | 10분 | 십 분 |
| 00:20 | 20분 | 이십 분 |
| 00:30 | 30분 | 삼십 분 |
| 00:40 | 40분 | 사십 분 |
| 00:50 | 50분 | 오십 분 |
| ※ 1시간 = 60분(육십 분) | | |

# 어휘 1 වචන මාලාව 1 시간 වේලාව



වේලාව/කාලය ප්‍රකාශ කර හැකි වචන මොනවාදැයි දැන ගනිමුද?



지금
දැන්



오늘
අද



어제
ඊයේ



내일
හෙට




오전
පෙරවරු




오후
පස්වරු



낮
දිවාකාලය



밤
රාත්‍රිකාලය



새벽
අලුයම



아침
උදෑසන



점심
දහවල




저녁
රාත්‍රිය



ඔබ ඉහතදී ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 〈보기〉처럼 시계를 보고 문장이 맞으면 ○, 틀리면 ×로 표시하세요.

උදාහරණයෙන් දක්වා ඇති අයුරින් ඔරලෝසු දෙස බලා ඊට ඉදිරියෙන් ඇති වාක්‍යය නිවැරදි නම් ◯ වැරදි නම් X ලෙස ලකුණු කරන්න.

보기




지금은 밤입니다. ( × ) දැන් රාත්‍රී කාලයයි.

1) 

지금은 아침입니다. (　　)

2) 

지금은 오후입니다. (　　)

3) 

지금은 한 시입니다. (　　)

4) 

지금은 오전 열 시입니다. (　　)

정답 1) O 2) X 3) X 4) X

## 문법 2 සංවාදය 2 에

G08-2

'에' යන්න යම් සිදුවීමක් හෝ ක්‍රියාවක් සිදුවන කාලය හෝ අවස්ථාව පිළිබිඹු කරයි. '에' වලට ඉදිරියෙන් කාලය හඟවන නාමපදයක් යෙදේ.

- 가: 몇 시**에** 점심을 먹어요? කීයටද දවල් කෑම කන්නේ?
  나: 12시**에** 먹어요. 12 ට කනවා.
- 가: 언제 운동해요? කවද්ද(කීයටද) ව්‍යායාම කරන්නේ?
  나: 저녁**에** 운동해요. හවසට ව්‍යායාම කරනවා.

※ '언제' වේලාව, දිනය, සහ දවස විමසන විට භාවිතා වේ.



'에' ව්‍යාකරණය ගැන අවබෝධ වුණා නේද? එසේනම් උදාහරණය දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 대화를 완성하세요.
පින්තූරය බලා උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් සංවාදය සම්පූර්ණ කරන්න.

보기



가: 언제 운동해요? ව්‍යායාම කරන්නේ කීයටද?
나: <u>아침에 운동해요</u>. උදෑසන ව්‍යායාම කරනවා.

1) 

가: 언제 운동해요?
나: ______________________.

2) 

가: 언제 커피를 마셔요?
나: ______________________.

3) 


가: 몇 시에 저녁을 먹어요?
나: ______________________.

4) 


가: 몇 시에 자요?
나: ______________________.

정답 1) 저녁에 운동해요 2) 오후에 커피를 마셔요 3) 7시에 저녁을 먹어요 4) 11시에 자요

### 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**안부 전해 주세요.** මම මතක් කළා කියන්න.

가: 오랜만에 수피카 씨를 만나기로 했어요.
ගොඩ කාලෙකින් සුපිකා මහත්මියව මුණ ගැසෙන්නයි හදන්නේ.
나: **안부 전해 주세요. මම මතක් කළා කියන්න.**

## 활동 ක්‍රියාකාරකම්

**몇 시에 무엇을 해요? 〈보기〉처럼 이야기해 보세요.**
කීයට කුමක් කරන්නේද? උදාහරණය බලා කථා කර බලන්න.

보기



가: 몇 시에 일어나요? අවදිවන්නේ කුමන වේලාවටද?
나: 7시에 일어나요. 7ට අවදි වෙනවා.

| | 일과 දින චර්යාව | 시간 කාලය |
|---|---|---|
| 1 | 일어나다 අවදිවෙනවා | |
| 2 | 아침을 먹다 උදෑසන ආහාරය ගන්නවා | |
| 3 | 점심을 먹다 දිවා ආහාරය ගන්නවා | |
| 4 | 저녁을 먹다 රාත්‍රී ආහාරය ගන්නවා | |
| 5 | 자다 නිදාගන්නවා | |



7:00a.m



12:40p.m



8:00p.m





## 문화 සංස්කෘතිය

# 출근 시간을 지킵시다

නිවැරදි වේලාවට රැකියාවට යමු

출근 시간 10분 전에는 직장에 도착해야 합니다. 출근 시간이 9시라면 8시 50분쯤 도착해야 합니다. 그리고 일할 준비를 하는 것이 좋습니다.

රැකියාවට වාර්ථා කිරීමට තිබෙන වේලාවට වඩා විනාඩි 10ක් කලින් රැකියා ස්ථානයට යා යුතුයි. රැකියාවට වාර්ථා කිරීමට තිබෙන වේලාව පෙ. ව 9 නම් පෙ.ව 8.50ට පමණ රැකියා ස්ථානයට යා යුතුවේ. එවිට ඔබට සූදානම් වීමට අමතර කාලයක් ඇත.



대부분의 회사원들은 9시에 일을 시작합니다. 점심은 보통 12시에서 1시 사이에 먹습니다. 퇴근은 대부분 6시에 하지만, 야근을 하는 경우도 있습니다.

බොහෝ කාර්යාල සේවකයන් පෙ.ව. 9 ට වැඩ කිරීමට පටන් ගනී. දිවා ආහාරය සාමාන්‍යයෙන් ප.ව. 12 සහ ප.ව. 1 අතර අනුභව කරයි. රැකියාව අවසන් කරන වේලාව බොහෝ විට ප.ව. 6 වන නමුත්, රාත්‍රියේ වැඩ කරන අවස්ථාද තිබේ.

### 내용 확인 අර්ථය තහවුරු කිරීම

✚ 빈칸에 알맞은 말을 쓰세요. හිස් තැනට සුදුසු වචනය ලියන්න.

(1) 회사에 일하러 가는 것을 ☐☐이라고 합니다.

රැකියා ස්ථානයට වැඩ කිරීම සඳහා යෑම (වැඩට පටන් ගැනීම) ලෙස හැඳින්වේ.

(2) 회사에서 일이 끝나고 집으로 돌아가는 것을 ☐☐이라고 합니다.

රැකියාවේ වැඩ අවසන් කර නිවස් වෙත නැවත යෑම (වැඩ නිමාකිරීම) ලෙස හැඳින්වේ.

(3) 회사에 일이 많으면 늦게까지 ☐☐을 하기도 합니다.

රැකියා ස්ථානයේ වැඩ අධික වුවහොත් පමා වනතුරු රාත්‍රී කාලයේද වැඩ (රාත්‍රී වැඩමුරය) කරන අවස්ථාද තිබේ.

정답 (1) 출근 (2) 퇴근 (3) 야근

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK



1 සිට 3 දක්වා ඇත්තේ වචන වලට සවන්දී වේලාව තෝරන ප්‍රශ්නයි. හොඳින් සවන් දී නිවැරදි වේලාව තෝරන්න.

[1~3] 들은 것을 고르십시오. ඔබ සවන් දුන් දේ තෝරන්න.

Track 30

1. ① 06:00 ② 07:00 ③ 08:00 ④ 09:00

2. ① 10:40 ② 11:30 ③ 12:40 ④ 01:30

3. ① 03:15 a.m. ② 03:25 p.m. ③ 04:15 p.m. ④ 04:25 p.m.



පහත දැක්වෙන ප්‍රශ්න, හොඳින් සවන් දී ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්න වේ. සංවාදය සවන් දීමට පෙර ප්‍රශ්න හොඳින් කියවා බලන්න.

[4~5] 질문을 듣고 알맞은 대답을 고르십시오.
ප්‍රශ්නයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

4. ① 씻어요. ② 회사예요.
③ 오늘이에요. ④ 오전 10시예요.

5. ① 오늘 먹어요. ② 많이 먹어요.
③ 아침을 먹어요. ④ 12시에 먹어요.



### 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 여: 아홉 시 නවයයි
2. 남: 열한 시 삼십 분 එකොළහයි විනාඩි තිහයි
3. 여: 오후 네 시 십오 분 සවස හතරයි විනාඩි පහළොවයි
4. 남: 지금 뭐 해요? දැන් මොනවද කරන්නේ?
5. 여: 몇 시에 점심을 먹어요? කීයටද දිවා ආහාරය ගන්නේ?

정답 1. ④ 2. ② 3. ③ 4. ① 5. ④

## 확장 연습 වැඩිදුර අභ්‍යාස L-08

1. 들은 것을 고르십시오. සවන් දුන් දේ තෝරන්න.

① 3:10 ② 3:20 ③ 4:10 ④ 4:20

2. 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන්දී ගැළපෙන පිළිතුර තෝරන්න.

① 잠을 자요. ② 이건 열쇠예요.
③ 12시에 먹어요. ④ 네, 운동을 해요.

### 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 세 시 이십 분입니다. පැය තුනයි විනාඩි විස්සකි.
2. 남: 지금 뭐 해요? දැන් මොකද කරන්නේ?

정답 1. ② 2. ①

## 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**통화 괜찮으세요?** දුරකථනයෙන් කථා කලත් කමක් නැද්ද?

가: 여보세요? 과장님, 지금 **통화 괜찮으세요?**
හෙලෝ? ප්‍රධානිතුමණි, දැන් **දුරකථනයෙන් කථා කලත් කමක් නැද්ද?**
나: 네, 괜찮아요. ඔව්, කමක් නෑ.

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



අංක 1-3 දක්වා ඇත්තේ නිවැරදි ක්‍රියාපදය තෝරන ප්‍රශ්න වේ. පින්තූරයට ගැළපෙන යෙදුම තෝරන්න.

**[1~3] 다음 그림을 보고 맞는 문장을 고르십시오.**
පහත පින්තූර දෙස බලා ගැළපෙන වාක්‍යය තෝරන්න.

1.



① 자요. ② 와요.
③ 일어나요. ④ 운동해요.

2.



① 쉬어요. ② 전화해요.
③ 회사에 가요. ④ 아침을 먹어요.

3.



① 장을 봐요. ② 커피를 마셔요.
③ 저녁을 먹어요. ④ 텔레비전을 봐요.



පහත දැක්වෙන්නේ කාලය හා සම්බන්ධ ප්‍රශ්නයි. ඉගෙන ගත් දෑ සිහියට නගමින් පහත ප්‍රශ්න විසඳා බලන්න.

**[4~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오.**
හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

4.
가: 지금 ______________ 시예요? දැන් වේලාව කීයද?
나: 오후 두 시예요. පස්වරු දෙකයි.

① 몇 ② 왜 ③ 누구 ④ 무슨

5.
가: ______________ 운동해요? කුමන වේලාවටද ව්‍යායාම කරන්නේ?
나: 아침에 운동해요. උදේටයි ව්‍යායාම කරන්නේ.

① 어디 ② 언제 ③ 무엇 ④ 시간

정답 1. ① 2. ③ 3. ④ 4. ① 5. ②



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 다음 그림을 보고 알맞은 단어를 고르십시오.

පහත පින්තූර බලා ඊට ගැලපෙන වාක්‍ය තෝරන්න.

1. 

① 여섯 시 삼십 분이에요.　② 여섯 시 사십 분이에요.
③ 여덟 시 삼십 분이에요.　④ 여덟 시 사십 분이에요.

2. 

① 쉬어요.　② 운동해요.
③ 전화해요.　④ 일어나요.

3. 

① 일을 해요.　② 장을 봐요.
③ 요리를 해요.　④ 커피를 마셔요.

[4~6] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

4. 제 친구는 ____________을/를 잘합니다. 친구가 만들어 주는 고향음식은 언제나 맛있습니다.

මගේ යහළුවා උයන පිහින වැඩ හොඳට කරනවා. යහළුවා හදලා දෙන එරට කෑම කොයි වෙලාවෙත් රසයි.

① 공부　② 요리　③ 노래　④ 운동

5. 다음 달에 근로계약이 끝납니다. 계약 기간을 연장할 수 있으면 여기에서 계속 ____________ 싶습니다.

ලබන මාසෙන් සේවක කොන්ත්‍රාත්තුව අවසන් වෙනවා. කොන්ත්‍රාත්තු කාලය දිගු කර ගැනීමට හැකි වුනොත් මෙහි සිට දිගටම සේවය කිරීමට යි කැමති.

① 사귀고　② 만들고　③ 일하고　④ 빠지고

6. 다음 달에 한국어능력시험이 있습니다. 한국어를 ____________ 지 얼마 되지 않았지만 시험을 치고 싶습니다.

ලබන මාසයේ කොරියානු භාෂා කුසලතා විභාගය පැවැත් වෙනවා. කොරියානු භාෂාව ඉගෙන ගෙන වැඩි කාලයත් ගත නොවූවත් විභාගය ලිවීමටයි අවශ්‍ය/කැමති.

① 가르친　② 물어본　③ 예습한　④ 공부한

정답 1. ②　2. ①　3. ④　4. ②　5. ③　6. ④

# 09 가족이 몇 명이에요?

## පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටියිද?

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

- අධ්‍යයන අරමුණු — පවුල පිළිබඳ විමසා පිළිතුරු ලබා දීම
- ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් — 하고, 에(장소)
- වචන භාවිතය සඳහා උපදෙස් — පවුල, පෙනුම සහ පෞරුෂත්වය
- සංස්කෘතික තොරතුරු — උසස්/ගෞරවනීය භාෂාව සහ සාමාන්‍ය කථා කරන භාෂාව

## 대화 1 සංවාදය 1

Track 31



පහත දැක්වෙන්නේ තුවාන් මහතා සහ රිහාන් මහතා අතර සංවාදයයි. දෙදෙනාගේ පවුලේ කී දෙනෙක් සිටීදැයි විමසමින් සහ පිළිතුරු දෙමින් සිටියි. පළමුව දෙවරක් සංවාදයට සවන්දී ඉන්පසුව අනුගමනය කරලා කියවන්න.

리한 투안 씨는 가족이 몇 명이에요?
තුවාන් මහතාගේ පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටියිද?

투안 어머니하고 형하고 저, 세 명이에요. 리한 씨는 가족이 몇 명이에요?
අම්මයි අයියායි මමයි තුන්දෙනයි.
රිහාන් මහතාගේ පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටියිද?

리한 네 명이에요. 저는 아버지하고 어머니하고 여동생이 있어요.
හතර දෙනෙක් සිටියි. මමයි තාත්තායි, අම්මා සහ නංගී සිටියි.

> **명**
> මිනිසුන් ගණන් කිරීමට භාවිතා කරන ඒකකයක්
> · 우리 가족은 세 명이에요.
> අපේ පවුලේ තුන් දෙනෙක් සිටියි.

> **있다** තිබෙනවා/ සිටිනවා
> **있다 ↔ 없다** නොතිබේ ↔ නොසිටී
> 'හිමිකම' යන අර්ථයෙන් '(නාමපද) 이/가 있다' ස්වරූපයෙන් භාවිතා වේ, ව්‍යඤ්ජනාක්ෂරයෙන් අවසන් වන නාමපදයක් පිටුපසින් '이' යොදලා ස්වරයකින් අවසන් වන නාමපදයක් පිටුපසින් '가'යොදනවා.
> · 저는 우산이 있어요.
> මට කුඩයක් තිබෙනවා.
> · 사무실 열쇠가 있어요?
> කාර්යාලයේ යතුර තිබෙනවද?



හොඳින් සවන් දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 투안 씨 가족이 몇 명이에요? තුවාන් මහතාගේ පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටීද?
2. 리한 씨는 동생이 있어요? රිහාන් මහතාට බාල සහෝදරියක්/ බාල සහෝදරයෙක් සිටීද?

정답 1. 세 명이에요. 2. 네, 여동생이 있어요.



## 어휘 1 වචන මාලාව 1 — 가족 පවුල



කොරියාවේ විවිධ පවුල් නාමයන් ඇත. මම ස්ත්‍රියක් වන අවස්ථාවන්හිදී සහ පුරුෂයකු වන අවස්ථාවන්හිදී එම නාමයන් කෙසේ වෙනස් වන්නේ දැයි විමසා බලමුද?



**있다** ඇත / සිටියි
**없다** නැත / නොසිටියි

- 저는 여동생이 **있어요.** මට බාල සහෝදරියක් සිටියි.
- 저는 여동생이 **없어요.** 누나가 **있어요.**
  මට බාල සහෝදරියක් නොසිටියි.
  වැඩිමහල් සහෝදරියක් සිටියි.



**많다** බොහෝ

- 저는 가족이 **많아요.**
  මට පවුලේ සාමාජිකයන් ගොඩක් ඉන්නවා.

**살다** ජීවත් වෙනවා

- 우리 가족은 베트남에 **살아요.**
  මගේ පවුල වියට්නාමයේ ජීවත් වෙනවා.






ඉහත පවුලේ සාමාජිකයන්ගේ නාමයන් දෙස නොබලා ප්‍රශ්නයට පිළිතුරු සපයන්න උත්සාහ කරන්න.

1. 그림에 맞는 단어를 〈보기〉에서 골라 넣으세요.
   පින්තූරයට බලා ඊට ගැලපෙන වචනය උදාහරණයෙන් තෝරා ලියන්න.




**보기** 아버지 어머니 할머니 할아버지

**정답** 1) 할아버지 2) 할머니 3) 아버지 4) 어머니

# 문법 1 සංවාදය 1 하고

G09-1

'하고' යන්න නාමපද දෙකකට වඩා යෙදෙන විට එම නාම පද පෙළගැස්වා  සම්බන්ධ කර ප්‍රකාශ කිරීමේදී භාවිතා කරයි. එමෙන්ම යම් ක්‍රියාවක් එකට සිදු කරන බව ප්‍රකාශ කිරීම සඳහාත් යොදාගනී. '하고' යන්න ප්‍රධාන වශයෙන් භාෂණයේදී යොදා ගනී. සමානාර්ථයෙන් '와/과' ලේඛනයේදී භාවිතා කරයි.

- 가: 지금 뭐 해요? දැන් මොනවද කරන්නේ?
  나: 아침을 먹어요. 빵**하고** 과일을 먹어요. උදේ කෑම කනවා. පාන් සහ පළතුරු කනවා.
- 가: 지금 혼자 살아요? දැන් තනිවමද ජීවත් වෙන්නේ?
  나: 아니요, 부모님**하고** 같이 살아요. නැහැ, දෙමව්පියන් සමග එකට ජීවත් වෙනවා.

## 비교해 보세요 සංසන්දනය කර බලන්න

### ✓ '하고' සහ '와/과'

'하고' සහ '와/과' නාමපදයක් තවත් නාමපදයක් සමග සම්බන්ධ වීමකදී හෝ කිසියම් වැඩක් එකතුවී කරන බවක් හගවයි '하고' ප්‍රධාන වශයෙන් වාචික භාෂාවේදී භාවිතා කරන අතර '와/과' බොහෝ විට ලිඛිත භාෂාවේදී භාවිතා කරයි. කථාවක් පවත්වන විට හෝ ඉදිරිපත් කිරීමක් කරන විට වැනි නිල අවස්ථාවකදී විධිමත් ලෙස කථාකල යුතු විට දී '와/과' භාවිතා කරයි.



'하고' ව්‍යාකරණය ගැන අවබෝධ වුණා නේද? එසේනම් උදාහරණ දෙස බලා වාක්‍යය සම්පූර්ණ කරන්න.

2. 〈보기〉처럼 대화를 완성하세요. උදාහරණය දෙස බලා දෙබස සම්පූර්ණ කරන්න.

보기



남편, 딸

가: 가족이 몇 명이에요? පවුලේ සාමාජිකයන් කී දෙනෙක් සිටියිද?
나: 세 명이에요. 남편하고 딸이 있어요.
තුන් දෙනෙක් සිටියි. ස්වාමිපුරුෂයා සහ දුවෙක් සිටියි.

1) 
아내, 아들
가: 가족이 몇 명이에요?
나: 세 명이에요. ______________.

2) 
아버지, 어머니
가: 가족이 몇 명이에요?
나: 세 명이에요. ______________.

3) 
할머니, 형
가: 가족이 몇 명이에요?
나: 세 명이에요. ______________.

4) 
아버지, 어머니, 누나
가: 가족이 몇 명이에요?
나: 네 명이에요. ______________.

정답 1) 아내하고 아들이 있어요 2) 아버지하고 어머니가 있어요 3) 할머니하고 형이 있어요 4) 아버지하고 어머니하고 누나가 있어요



තව ටිකක් පාඩම් කරමුද? පින්තූර දෙස බලා '하고' භාවිතා කරමින් වාක්‍යය සම්පූර්ණ කරන්න.

1.   ______________.

2. 



______________.

정답 1. 열쇠하고 지갑이 있어요 2. 오빠하고 언니가 있어요

## 대화 2 සංවාදය 2

Track 32

තුවාන් මහතා සහ රිහාන් මහතා පවුලේ ඡායාරූපයක් දෙස බලමින් සංවාදයක යෙදී සිටියි. තුවාන් මහතා රිහාන් මහතාගේ නංගී ගැන ප්‍රශ්න කරයි. පළමුව සංවාදය දෙවරක් සවන් දී අනුගමනය කරමින් නැවත කියවන්න.

투안 **이** 사람이 리한 씨 여동생이에요?
මේ පුද්ගලයා රිහාන් මහතාගේ නංගීද?

리한 네, 맞아요. **제** 여동생이에요.
ඔව්, හරි. මගේ නංගීයි.

투안 여동생이 정말 예뻐요. 지금 몇 살이에요?
නංගී ගොඩක් ලස්සනයි. දැන් වයස කීයද?

리한 스무 살이에요.
අවුරුදු 20ක් වෙනවා.

투안 여동생은 남자 친구가 있어요?
නංගීට පෙම්වතෙක් සිටිනවාද?

리한 아니요, 없어요.
නැහැ, නොසිටියි.

> **이** මේ
> කථා කරන පුද්ගලයාට සමීපයේ තිබෙන දෙයක් පිළිබඳ ප්‍රකාශ කරන විට
> · 이 사람은 회사원이에요.
> මේ පුද්ගලයා කාර්යාල සේවකයෙක්.
> · 저는 이 책을 읽어요.
> මම මේ පොත කියවනවා.

> **제** මගේ
> සර්වනාම '저(මම)' සහ නාම පදයකට පසුව යොදන '의(ගේ)' එකතු වී සෑදෙන 저의, කෙටිකොට '제(මාගේ)' ලෙස භාවිතා කරන්නත් පුළුවන්
> · 이게 제 가방이에요.
> මෙය මගේ බෑගයයි.
> · 제 여동생은 선생님이에요.
> මගේ නංගී ගුරුවරියක්.

හොඳින් සවන් දී අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 리한 씨 여동생은 몇 살이에요? රිහාන් මහතාගේ නංගීට වයස කීයද?
2. 리한 씨 여동생은 남자 친구가 있어요? රිහාන් මහතාගේ නංගීට පෙම්වතෙක් සිටිනවාද?

정답 1. 스무 살이에요. 2. 아니요, 없어요.

### Tip 나이를 묻고 대답하기 වයස විමසා පිළිතුරු සැපයීම

1) 투안: 민수 씨 아들은 몇 살이에요? මින්සු මහතාගේ පුතාගේ වයස කීයද?
민수: 세 살이에요. අවුරුදු 3යි.

2) 투안: 민수 씨는 나이가 어떻게 되세요? මින්සු මහතාගේ වයස කීයක් වෙනවාද?
민수: 서른 두 살이에요. අවුරුදු තිස් දෙකයි.

3) 투안: 아버지는 연세가 어떻게 되세요? තාත්තාගේ වයස කීයක් වෙනවාද?
민수: 예순 살이세요. අවුරුදු හැටයි.

යමෙකුගේ වයස ගැන විමසීමට භාවිතා කරන ප්‍රකාශ කිහිපයක් තිබේ. "나이가 어떻게 되세요?" වැඩිහිටියන්ගෙන් වයස ගැන විමසීමට "연세가 어떻게 되세요?" භාවිතා කරයි. '연세' යන්න '나이' වයස යන අර්ථයෙන්, විමසන කෙනාට වඩා වයසින් වැඩි කෙනෙකු සඳහා භාවිතා කරයි.

## 어휘 2 වචන මාලාව 2 외모와 성격 පෙනුම සහ පෞරුෂත්වය



කොරියාවේදී පෙනුම සම්බන්ඳයෙන් වන සිතුවිලි පිළිබඳ කිනම් ප්‍රකාශ ඇත්දැයි විමසා බලමුද?


예쁘다 ලස්සනයි


멋있다 කඩවසම්


키가 크다 උසින් වැඩියි


키가 작다 උසින් අඩුයි


날씬하다 කෙට්ටුයි


뚱뚱하다 තරබාරුයි

- 여동생이 정말 **예뻐요.**
  නංගී ගොඩක් ලස්සනයි.
- 제 남자 친구가 **멋있어요.** මගේ පෙම්වතා කඩවසම්.
- 제 친구는 농구 선수예요. **키가 커요.**
  මගේ මිතුරා පැසිපන්දු ක්‍රීඩකයෙක්. උසින් වැඩියි.
- 이 아이는 다섯 살이에요. **키가 작아요.**
  මේ දරුවාගේ වයස අවුරුදු පහයි. උසින් අඩුයි.
- 이 여자는 키가 커요. 그리고 **날씬해요.**
  මේ ගැහැණුකෙනා උසින් වැඩියි. එමෙන්ම කෙට්ටුයි.
- 저는 조금 **뚱뚱해요.** 매일 운동을 해요.
  මම ටිකක් තරබාරුයි. සෑම දිනකම ව්‍යායාම් කරනවා.

- 영화를 봐요. 아주 **재미있어요.**
  චිත්‍රපටයක් නරඹනවා. ඒක හරිම වින්දනීයයි.
- 수피카 씨는 **친절해요.** 할아버지를 도와줘요.
  සුපිකා මෙනවිය කරුණාවන්තයි. සීයාට උදව් කරනවා.


재미있다
සිත්ගන්නා සුළුයි/රසවත්


친절하다
කරුණාවන්තයි

- 제 동생은 **똑똑해요.** 수학을 잘해요.
  මගේ මල්ලී නැණවන්තයි. ගණිතය හොඳින් කරයි.
- 저는 **활발해요.** 운동을 좋아해요.
  මම ක්‍රියාශීලියි. ක්‍රීඩා වලට කැමතියි.


똑똑하다
නැණවන්තයි


활발하다
ක්‍රියාශීලියි

- 동생은 **얌전해요.** 책 읽기를 좋아해요.
  මගේ මල්ලී ප්‍රසන්න කෙනෙකි. පොත් කියවීමට කැමතියි.
- 리한 씨는 낮에 일해요. 밤에 공부해요. 아주 **부지런해요.**
  රිහාන් මහතා දිවා කාලයේදී රැකියාව කරයි. රාත්‍රියේදී අධ්‍යාපනය ලබයි, ඔහු ඉතා කඩිසරයි.


얌전하다
ප්‍රසන්නයි


부지런하다
කඩිසරයි



ඔබ ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූරය දෙස බලා අදාළ වචනය යා කරගන්න.

① 
② 
③ 
④ 

㉠ 예쁘다 ㉡ 멋있다 ㉢ 키가 크다 ㉣ 키가 작다

정답 ① ㉡ ② ㉢ ③ ㉣ ④ ㉠

## 문법 2 සංවාදය 2 에

G09-2

ස්ථානයක් හෝ දිශාවක් හඟවන නාමපදයකට සම්බන්ධ කොට කිසියම් ස්ථානයක පුද්ගලයෙකු සිටින බව හෝ භාණ්ඩයක් තිබෙන බව ප්‍රකාශ කරයි. තවද '가다(යනවා)', '오다(එනවා)' වැනි ක්‍රියා පද සමඟ යෙදෙන අතර ක්‍රියාකාරකම සිදුවන ආකාරය හෝ අරමුණු ස්ථානයද ප්‍රකාශ වේ.

- 리한 씨는 지금 사무실**에** 있어요. රිහාන් මහතා දැන් කාර්යාලයේ.
- 책이 책상 위**에** 있어요. පොත පොත් මේසය උඩ.
- 저는 내일 시장**에** 가요. මම හෙට පොළට යනවා.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**ස්ථානයේ '에' සහ වේලාවෙහි '에'**

'에' යනු නාම පදයක් පිටුපසින් සම්බන්ධ වී කිසියම් වස්තුවක් හෝ පුද්ගලයෙක් සිටින/පවතින ස්ථානය පෙන්විය හැකි ව්‍යාකරණයකි. එමෙන්ම කාලය පිළිබිඹු වන නාමපදයක් පිටුපස ලිවීමෙන් ක්‍රියාව සිදු වන කාලය සඳහන් කළ හැකි ව්‍යාකරණයකි.

- 식당**에** 사람이 많아요.
- 여섯 시**에** 일이 끝나요.



'에' ව්‍යාකරණය ගැන අවබෝධ වුණා නේද? උදාහරණය දෙස බලා සංවාදය සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 대화를 완성하세요.
පින්තූර දෙස බලා උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් සංවාදය සම්පූර්ණ කරන්න.

보기



가: 투안 씨는 어디에 있어요? තුවාන් මහතා කොහේ සිටියි ද?
나: 집에 있어요. නිවසේ සිටියි.

1)



가: 리한 씨는 어디에 있어요?
나: ____________________.

2)



가: 여동생은 어디에 있어요?
나: ____________________.

3)



가: 형은 어디에 살아요?
나: ____________________.

4)


가: 누나는 어디에 가요?
나: ____________________.

정답 1) 식당에 있어요 2) 한국에 있어요 3) 베트남에 살아요 4) 회사에 가요

### 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**입이 짧아요.** බොහෝ සෙයින් තෝරා බලා ආහාර ගැනීම.

가: 리한 씨는 음식 때문에 고생하는 것 같아요.
රිහාන් මහතා ආහාර නිසා ප්‍රශ්නයකට මුහුණ දීලා වගේ.

나: 네, **입이 짧아요**. ඔව්, **බොහෝ සෙයින් තෝරා බලා ආහාර ගන්න කෙනෙක්.**

## 문화 සංස්කෘතිය

# 한국 사람들이 인사로 하는 약속

කොරියානු ජාතිකයන් ආචාර ලෙස කරන පොරොන්දු




한국 사람들은 헤어질 때 "다음에 밥 한번 같이 먹어요.", "술 한잔 같이 해요."라는 인사를 하기도 합니다. 특히 헤어질 때 "연락할게."라는 말도 자주 하는데, 이런 말들은 약속이라기보다는 헤어지기 아쉬워서 하는 말인 경우가 많습니다. 구체적으로 날짜와 시간을 약속하지 않을 경우에는 가벼운 인사로 생각하는 것이 좋습니다. 만약에 한국사람들이 "언제든지 연락하세요."라고 말했더라도 너무 이른 시간이나 늦은 시간, 그리고 식사 시간이나 휴식 시간에는 연락을 피하는 것이 좋습니다. 또한 "언제든지 놀러 오세요."라고 말했더라도 전화로 미리 약속을 하고 만나러 가는 것이 좋습니다.

කොරියානු ජාතිකයෝ වෙන්වීමකදී "පස්සේ කෑම එකට කමු", "මත්පැන් බොමු" වැනි ආචාර කිරීම් ද කරනවා. විශේෂයෙන්ම වෙන්වීමේ දී "නැවත අමතන්නම්" යන වචනයත් නිතරම භාවිතා කරනවා වුවත් මෙවැනි වචන පොරොන්දුවකට වඩා වෙන්වී යාම කණගාටුවක් යැයි ඇඟවීමට භාවිතා වන අවස්ථා බහුලව දක්නට ලැබෙනවා. සවිස්තරව දක්වනවා නම් දිනය හා වේලාවක් පොරොන්දු නොවන අවස්ථාවලදී සරල ආචාර කිරීමක් සිදුකරනවා කියලා හිතුවනම් හරි. කොරියන් ජාතිකයින් ඕන වෙලාවක අමතන ලෙස පැවසුවද බොහෝ වේලාසනින් හෝ පරක්කු වෙලාවන් වලදී, ඒවගේම ආහාර ගන්නා වෙලාවක හෝ විවේක ගන්නා කාලයේදී දුරකථන ඇමතුම් නොදෙනවා නම් හොඳයි. ඒවගේම ඕන වෙලාවක එන්න කියා පැවසුව ද දුරකථන ඇමතුමක් ලබාදී කලින් දැනුවත් කර හමුවෙනවා නම් හොඳයි.

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK



1 හා 2 ප්‍රශ්න, සවන් දුන් වචන තෝරන ප්‍රශ්න වේ. හොඳින් සවන් දී ගැලපෙන පිළිතුර තෝරන්න.

[1~2] 들은 것을 고르십시오. ඔබ සවන් දුන් දේ තෝරන්න.

Track 45

1. ① 내일 ② 영화 ③ 시간 ④ 극장

2. ① 도청 ② 시장 ③ 구청 ④ 시청



පහත ප්‍රශ්නය කතාවට සවන්දී නිවැරදි පිළිතුර තෝරන ප්‍රශ්නයයි. දෙබසට සවන්දීමට ප්‍රථමයෙන් ප්‍රශ්න කියවා බලන්න.

[3~5] 이야기를 듣고 질문에 알맞은 대답을 고르십시오.
කතාවට සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුරු තෝරන්න.

3. 두 사람은 내일 같이 무엇을 봅니까? දෙදෙනා හෙට එකට මොනවද කරන්නේ?
① 책 ② 사진
③ 영화 ④ 드라마

4. 두 사람은 내일 어디에서 만납니까? දෙදෙනා හෙට කොහේදී ද හමුවන්නේ?
① 극장 앞 ② 회사 앞
③ 백화점 앞 ④ 도서관 앞

5. 두 사람은 내일 몇 시에 만납니까? දෙදෙනා හෙට කීයට ද හමුවන්නේ?
① 6시 ② 7시
③ 8시 ④ 9시



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 남: 영화 චිත්‍රපටය
2. 여: 시청 නගර ශාලාව
3. 남: 우리 내일 같이 영화 볼까요? අපි එකට චිත්‍රපටයක් බලමු ද?
   여: 좋아요. 같이 봐요. හොඳයි එකට බලමු.
4. 남: 우리 내일 어디에서 만날까요? අපි හෙට කොහේදීද හමුවන්නේ?
   여: 백화점 앞에서 볼까요? වෙළඳ සංකීර්ණය ඉදිරිපිටදී හමුවෙමුද?
   남: 좋아요. 거기에서 만나요. හොඳයි එහේදී හමුවෙමු.
5. 남: 내일 7시에 만날까요? හෙට 7ට හමුවෙමුද?
   여: 7시는 좀 힘들어요. 8시는 어때요? 7ට ටිකක් අමාරුයි. 8ට කොහොම ද?
   남: 좋아요. 그럼 8시에 만나요. හොඳයි. එහෙනම් 8ට හමුවෙමු.

정답 1. ② 2. ④ 3. ③ 4. ③ 5. ③

## 확장 연습 වැඩිදුර අභ්‍යාස

L-13

1. 잘 듣고 내용과 관계있는 그림을 고르십시오.
   හොඳින් අසා සවන් දුන් අන්තර්ගතය හා සම්බන්ධ පින්තූර තෝරන්න.

①


②


③


④


2. 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන් දී ගැළපෙන පිළිතුර තෝරන්න.

① 오늘 만나요. ② 은행 앞 어때요?
③ 세 명이 만나요. ④ 두 시에 만날까요?

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 의자가 불편해요. පුටුව සුව පහසු නැහැ.
2. 남: 어디에서 만날까요? මුණගැසෙන්නේ කොහේදීද?

정답 1. ③ 2. ②

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



අංක 1 හා අංක 2 දෙබස කියවා ප්‍රශ්නවලට ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්නය වේ. ඉගෙන ගත් දෑ මතක් කරමින් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

[1~2] 다음 질문에 답하십시오. පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

1. 두 사람은 지금 무엇을 하고 있습니까? දෙදෙනා දැන් මොනවද කරමින් ඉන්නේ?

가: 우리 내일 같이 저녁 먹을까요? අපි හෙට රෑ කෑම එකට කමු ද?
나: 좋아요. 같이 저녁 먹어요. හොඳයි. එකට රෑ කෑම කමු.

① 식사 ② 운동 ③ 약속 ④ 쇼핑

2. 두 사람은 오늘 같이 무엇을 합니까? දෙදෙනා අද එකට මොනවද කරන්නේ?

가: 우리 오늘 뭐 할까요? 같이 영화 볼까요? අපි අද මොනවා ද කරන්නේ? එකට චිත්‍රපටයක් බලමු ද?
나: 산책 어때요? 공원에서 같이 산책하고 싶어요.
විවේකයට ඇවිදින එක කොහොම ද? උද්‍යානයේ එකට ඇවිදින්න ඕනෙ.
가: 그래요? 좋아요. 그럼 산책해요. එහෙම ද? හොඳයි. එහෙනම් විවේකයට ඇවිදිමු.

① 책을 봅니다. ② 산책을 합니다. ③ 영화를 봅니다. ④ 게임을 합니다.



අංක 3 සිට අංක 5 දක්වා ඇත්තේ හිස්තැනට ගැළපෙන නිවැරදි පිළිතුරු තෝරන ප්‍රශ්න වේ. ඉගෙන ගත් දේ නැවත මතක් කරමින් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

[3~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

3. 수루 씨, 오늘 저녁에 ______________ 있어요? සුරු මහත්මිය හෙට හවස වෙලාව තියෙනවා ද?

① 시간 ② 생일 ③ 날짜 ④ 주말

4. 우리 ________________ 영화를 볼까요? 코미디 영화 어때요?
අපි මොන චිත්‍රපටයක් බලමු ද?කොමඩි චිත්‍රපටි කොහොම ද?

① 언제 ② 무슨 ③ 누구 ④ 무엇

5. 저는 내일 친구하고 같이 영화를 ____________.
මට හෙට යාළුවා සමග එකට චිත්‍රපටියක් බලන්න ඕනේ.

① 보세요 ② 봤어요 ③ 봐 주세요 ④ 보고 싶어요

정답 1. ③ 2. ② 3. ① 4. ② 5. ④



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~4] 빈칸에 들어갈 알맞은 말을 고르십시오. හිස්තැනට වඩාත් සුදුසු දේ තෝරන්න.

1. 저는 이번 주말에 ________이 많습니다. 고향 친구들과 영화도 보고 회사 동료들과 저녁도 먹을 겁니다.

   මට මෙම සති අන්තය තුළ පොරොන්දු බොහෝ තියෙනවා. ගමේ මිතුරන් සමග චිත්‍ර පටියක් නැරඹීමට ගොස් ආයතනයේ සගයන් සමග රාත්‍රී ආහාරය ගන්නවා.

   ① 배달 ② 예약 ③ 약속 ④ 주문

2. 저는 주말에 ______이/가 있으면 보통 청소와 빨래를 하고 동료들과 영화를 봅니다.

   මම සති අන්තය තුළ කාලය තිබුනහොත් සාමාන්‍යයෙන් පිරිසිදු කිරීම් සහ රෙදි සේදීම කර සගයන් සමග චිත්‍ර පටියක් නැරඹීමට යනවා.

   ① 교육 ② 시간 ③ 야근 ④ 회의

3. 집이 너무__________ 출퇴근 시간이 많이 걸립니다. 그래서 다음 달에 회사 근처로 이사를 하려고 합니다.

   නිවස දුරින් පිහිටා ඇති නිසා යාමට සහ ඒමට කාලය බොහෝ ගතවෙයි. එම නිසා ලබන මාසයේ සිට ආයතනය අසල නිවසකට යනවා.

   ① 멀어서 ② 가까워서 ③ 좋아서 ④ 괜찮아서

4. 저는 월요일부터 금요일까지 일을 하고 주말에는 쉽니다. 오늘은 쉬는 날이지만 일이 ____________ 공장에 나왔습니다.

   මම සඳුදා සිට සිකුරාදා දක්වා වැඩ කර සති අන්තයේදී විවේකීව සිටිනවා. අද නිවාඩු දවසක් වුණත් වැඩ වැඩි නිසා කාර්යාලයට පැමිණියා.

   ① 편해서 ② 적어서 ③ 많아서 ④ 한가해서

정답 1. ③ 2. ② 3. ① 4. ③

## 발음 උච්චාරණය P04

හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

කොරියානු භාෂාවේ නාසිකාක්ෂර ‘ㄴ’ ‘ㅁ’ ‘ㅇ’ තිබේ. මේ අතර ‘ㅇ’ හල්කිරීමේදී පමණක් ශබ්ද වේ.

(1) 나, 니, 누, 네, 노
(2) 누구, 누나, 나비, 나무, 노래
(3) 모두, 머리, 모자, 매미, 미나리
(4) 강, 공, 상, 방, 가방

# 14 저는 비빔밥을 먹을래요

## මම පිබිම්පබ් කන්නම්

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | කෑම ඕඩර් කිරීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | -(으)ㄹ래요, 안 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | ආපන ශාලාව, කෑම රස |
| ▫ සංස්කෘතික තොරතුරු | කෑම මෙනුව |

## 대화 1 සංවාදය 1

Track 46



තුවාන් මහතා සහ රිහාන් මහතා ආපනශාලාවක කෑම ඕඩර් කරමින් සිටියි.
ප්‍රථමයෙන්ම දෙබසට දෙවරක් සවන් දී නැවත කියවන්න.

종업원 어서 오세요. 몇 분이세요?
සාදරයෙන් පිළිගන්නවා. (කෑමට) කී දෙනෙක් ඉන්නවද?

투 안 두 명이요. 자리 있어요?
දෙන්නයි. ආසන තියෙනවද?

종업원 네, 있어요. 이쪽으로 앉으세요.
ඔව්, තියෙනවා. මේ පැත්තෙන් වාඩි වෙන්න.
뭐 드릴까요?
මොනවද දෙන්නේ?

리 한 저는 비빔밥 먹을래요.
මම පිබිම්පබ් කන්නම්.
투안 씨는 뭐 먹을래요?
තුවාන් මහත්තයා මොනවද කන්නෙ?

투 안 저는 김치찌개 먹을래요.
මම කිම්චිචිගේ කන්නම්.

리 한 그럼 여기 비빔밥하고 김치찌개 주세요.
එහෙනම් මෙතනට පිබිම්පබ් සහ කිම්චිචිගේ දෙන්න.

> **분**
> පුද්ගලයෙකු පිළිබඳ ගෞරවාන්විතව ප්‍රකාශ කිරීමේදී හෝ ආමන්ත්‍රණය කිරීමේදී විට යොදා ගැනේ.
> · 저 분이 우리 사장님이세요.
> ඒ පුද්ගලයා අපේ ගුරුතුමායි.

> **뭐 드릴까요?**
> මොනවද දෙන්නේ?
> ආපනශාලාවකදී හෝ කැෆේ එකක් තුලදී එහි වැඩ කරන පුද්ගලයන් ඕඩරය ලබා ගැනීමේදී භාවිතා කරන යෙදුම් ප්‍රකාශයයි.
> · 손님, 뭐 드릴까요?
> මහත්මයා/මහත්මිය, මොනවද ඕනේ?



හොඳින් සවන් දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයන්න.

1. 리한 씨는 무엇을 주문해요? රිහාන් මහතා මොන්වද ඇණවුම් කලේ?
2. 투안 씨는 무엇을 주문해요? තුවාන් මහතා මොන්වද ඇණවුම් කලේ?

정답 1. 비빔밥을 주문해요. 2. 김치찌개를 주문해요.



## 어휘 1 වචන මාලාව 1   식당 ආපන ශාලාව



ආපනශාලාව හා සම්බන්ධ වචන මොනවාදැයි බලමුද?



자리가 있다
ඉඩ ඇත



자리가 없다
ඉඩ නැ




메뉴판
මෙනුපත




메뉴
ලයිස්තුව



밥
බත්



반찬
අතිරේක ආහාර



숟가락
හැඳි



젓가락
බත්කූරු (චොප්ස්ටික්)



앉다
වාඩි වෙනවා



고르다
තෝරනවා



시키다(주문하다)
ඇණවුම් කරනවා



배달하다
බෙදාහරිනවා



ඉහත වචන දෙස නොබලා ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 단어를 연결하세요.
   පින්තූරය දෙස බලා අදාළ වචනය යා කරගන්න.

①  ②  ③  ④ 

㉠ 밥 ㉡ 반찬 ㉢ 숟가락 ㉣ 젓가락

정답 ① ㉡ ② ㉠ ③ ㉣ ④ ㉢

## 문법 1 ව්‍යාකරණ 1 -(으)ㄹ래요

G14-1

කතා කරන්නා යම්කිසි ක්‍රියාවක් කිරීමට ඇති චේතනාව හා කැමැත්ත ප්‍රකාශ කිරීමේදී යොදාගනු ලබයි. අනෙක් පාර්ශවයෙන් කැමැත්ත හෝ අදහස් විමසීමේදීත් භාවිතා කළ හැකි අතර මූලික වශයෙන් හිතවත් අය අතර විධිමත් නිල බවකින් තොරව විමසීමේදී භාවිතා වේ.

| 자음(ව්‍යඤ්ජන) → **-을래요** | 모음(ස්වර), 자음 'ㄹ'(ව්‍යඤ්ජනය-ㄹ) → **-ㄹ래요** |
|---|---|
| 읽다 → 읽**을래요** | 가다 → **갈래요**　　놀다 → **놀래요** |

- 가: 주말에 우리 같이 **놀래요**? සති අන්තයේ අපි එකට විනෝද වෙන්න යමුද?
  나: 좋아요. 같이 놀아요. හොඳයි. එකට විනෝද වෙන්න යමු.
- 가: 내일 같이 운동**할래요**? හෙට එකට ව්‍යායාම කරමුද?
  나: 저는 집에서 **쉴래요**. මම ගෙදර විවේක ගන්නවා.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

✓ **'-(으)ㄹ래요'** සහ **'-고 싶다'**

'-(으)ㄹ래요' යන්න උක්තය ප්‍රථම පුරුෂ වන විට භාවිතා කල නොහැකිය. ප්‍රකාශ කරන පුද්ගලයා උත්තම පුරුෂ වන විට '-(으)ㄹ래요' යන්න භාවිතා කොට, ප්‍රාර්ථනාවක්/බලාපොරොත්තුවක් අර්ථ දක්වන විට '-고 싶다' යන්න භාවිතා කරයි. '-(으)ㄹ래요' යන්න සාමාන්‍යයෙන් යම් දෙයක් සිදුවීමට හැකියාවක් ඇති විට භාවිතා කල හැකි නමුත්, '-고 싶다' යන්න සාමාන්‍යයෙන් යම් දෙයක් සිදුවීමට හැකියාවක් නොමැති විටදීත් භාවිතා කල හැකිය.

· 하늘을 날래요.(X)　　　· 하늘을 **날고 싶어요**.(O)



'-(으)ㄹ래요' ව්‍යාකරණය අවබෝධ වුණා ද? එහෙනම් උදාහරණ දෙස බලා සංවාදය සම්පූර්ණ කරන්න.

**2. 그림을 보고 〈보기〉처럼 '-(으)ㄹ래요'를 사용해서 대화를 완성하세요.**
පින්තූර බලා උදාහරණය අනුව '-(으)ㄹ래요' භාවිතා කරමින් සංවාද සම්පූර්ණ කරන්න.

보기



가: 뭐 먹을래요? මොනවද කන්නේ?
나: 저는 비빔밥 먹을래요. මම පිබිම්පබ් කන්නම්.

1) 
가: ____________?
나: ____________.

2) 
가: ____________?
나: ____________.

3) 
가: ____________?
나: ____________.

4) 
가: ____________?
나: ____________.

정답 1) 가: 뭐 먹을래요 나: 저는 라면 먹을래요 2) 가: 뭐 마실래요 나: 저는 커피 마실래요 3) 가: 뭐 할래요 나: 저는 영화 볼래요 4) 가: 뭐 할래요 나: 저는 집에서 쉴래요

## සංවාදය 2

Track 47



රිහාන් සහ තුවාන් කැමති කෑම සහ එම කෑම වල රසය පිළිබඳ එකිනෙකා සමග කථා කරමින් සිටියි. පළමුව සංවාදය දෙවරක් සවන් දී ඉන්පසුව අනුගමනය කරමින් කියවන්න.

리한 투안 씨는 김치찌개를 좋아해요?
තුවාන් මහත්මයා කිම්චිචිගේ වලට කැමතිද?

투안 네, 정말 좋아해요.
ඔව්, ගොඩක් කැමතියි.

리한 김치찌개가 안 매워요?
කිම්චිචිගේ සැර නැද්ද?

투안 조금 매워요. 하지만 맛있어요.
ටිකක් සැරයි, ඒ උනත් රසවත්.
리한 씨는 김치찌개 좋아해요?
රිහාන් මහත්මයා කිම්චිචිගේ වලට කැමතිද?

리한 아니요, 전 안 좋아해요.
නැහැ, මම කැමති නැහැ.

> **하지만** නමුත්
>
> ඉදිරිපස වාක්‍යයේ අන්තර්ගතය හා වෙනස් අන්තර්ගතයක් පසුපස වාක්‍යයෙන් ප්‍රකාශ කිරීමේදී ලිවිය හැකිය. ඉදිරිපස හා පසුපස වාක්‍යන් සම්බන්ධ කලහැකි යෙදුමකි.
>
> · 이 건물에 약국은 있어요. 하지만 편의점은 없어요.
> මෙම ගොඩනැගිල්ලේ ඔසුසැලක් තිබේ. නමුත් වෙළඳ සැලක් නැත.

> **조금** පොඩ්ඩක්
>
> '좀' සමග මාරු කර ලිවිය හැක.
>
> · 오늘은 조금 바빠요.
> අද පොඩ්ඩක් කාර්යබහුලයි.
>
> · 제 동생은 키가 조금 작아요.
> මගේ මල්ලිගේ උස පොඩ්ඩක් අඩුයි.



හොඳින් සවන් දී අනුගමනය කලාද? එහෙනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 누가 김치찌개를 좋아해요? කවුද කිම්චිචිගේ වලට කැමති?
2. 김치찌개 맛이 어때요? කිම්චිචිගේ වල රස කොහොමද?

정답 1. 투안 씨가 김치찌개를 좋아해요. 2. 조금 매워요. 하지만 맛있어요.

### Tip 음식 단위 명사 කෑම සඳහා භාවිතා වන ගණිත නාම

밥 : බත්



| 한 공기 බඳුන් 1 | 두 공기 බඳුන් 2 | 세 공기 බඳුන් 3 | 네 공기 බඳුන් 4 |

국 : සුප්



| 한 그릇 බඳුන් 1 | 두 그릇 බඳුන් 2 | 세 그릇 බඳුන් 3 | 네 그릇 බඳුන් 4 |

반찬 : ව්‍යංජන



| 한 접시 දීසි 1 | 두 접시 දීසි 2 | 세 접시 දීසි 3 | 네 접시 දීසි 4 |

불고기 : පුල්කොගි (පුච්චපු මස්)



| 1인분 පෝෂණ 1 | 2인분 පෝෂණ 2 | 3인분 පෝෂණ 3 | 4인분 පෝෂණ 4 |

## 어휘 2 වචන මාලාව 2 　음식의 맛 කෑම වල රස



ආහාර වල රස ප්‍රකාශ කරන්න භාවිතා කරන වචන පිළිබඳ විමසා බලමුද?

| | | | |
|---|---|---|---|
|  |  |  |  |
| 맛있다<br>ඉතාමත් රසයි | 맛없다<br>රස නැහැ | 맵다<br>සැරයි | 달다<br>පැණිරසයි |
|  |  |  |  |
| 짜다<br>ලුණු රසයි | 싱겁다<br>ලුණු රස මදි | 쓰다<br>තිත්ත රස | 시다<br>ඇඹුල් රස |

- 비빔밥이 정말 **맛있어요.** පිබිම්පබ් ගොඩාක් රසයි.
- 떡볶이가 조금 **매워요.** 하지만 **맛있어요.** තොක්පොක්ගි පොඩ්ඩක් දැවිල්ලයි. නමුත් රසයි.
- 음식이 **짜요.** 음식이 **짜면** 건강에 나빠요. කෑම ලුණු රසයි. කෑම ලුණු රස නම් සෞඛ්‍යයට අහිතකරයි.
- 이 오렌지는 너무 **시어요.** මේ දොඩම් ගෙඩිය ගොඩාක් ඇඹුල්.

### ‘ㅂ’ අවිධිමත් නීතිය

ක්‍රියාප්‍රකෘතියේ අවසන් අකුරේ ‘ㅂ’ ව්‍යාංජනය වෙනත් ස්වරයක් සමඟ මුසු වූ විට ‘ㅜ’ ට වෙනස් වේ.

예) 맵(다) + 어요 = 매워요, 싱겁(다) + 어요 = 싱거워요



කොරියානු භාෂාවේ ‘ㅂ’ අවිධිමත් නීතිය යෙදෙන විශේෂණ පද ‘맵다 (매워요)’, ‘싱겁다(싱거워요)’, ‘춥다(추워요)’, ‘무겁다(무거워요)’, ‘가볍다(가벼워요)’ ‘쉽다(쉬워요),’ ‘어렵다(어려워요)’, ‘가깝다(가까워요)’ යනාදිය ඇත.



ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලන්න.

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූරය දෙස බලා අදාළ වචනය යා කරගන්න.

①  ②  ③  ④ 

㉠ 짜다 ㉡ 맵다 ㉢ 달다 ㉣ 싱겁다

정답 ① ㉠ ② ㉢ ③ ㉡ ④ ㉣

## 문법 2 ව්‍යාකරණ 2 안

G14-2

ක්‍රියාපදයක හෝ විශේෂණ පදයකට ඉදිරියෙන් යෙදෙන අතර නැති /නැහැ යන අර්ථය ප්‍රකාශ කරයි. '운동하다(ව්‍යායාම කරනවා)' වැනි 'නාමපද + 하다' ව්‍යුහයේ ක්‍රියාපද වලද '안' නාමපදය සහ '하다' අතරට සම්බන්ධ කිරීමෙන්, 'නාමපදය + 안 + 하다' ව්‍යුහය බවට පත්වේ. නමුත් '있다(තිබෙනවා)' යන්නෙහි නැත යනාර්ථය දැක්වීමේදී '안 있다' ලෙස ස්වරූපය වෙනස් නොකර '없다(නැත)' යන වචනය යෙදිය යුතුය.

- 가: 아침 먹었어요? උදේ කෑම කෑවාද? 나: 아니요, **안** 먹었어요. නැහැ. කෑවේ නැහැ.
- 가: 어제 운동했어요? ඊයේ ව්‍යායාම කළාද? 나: 아니요, 운동 **안** 했어요. නැහැ. ව්‍යායාම කළේ නැහැ.
- 가: 이 영화가 재미있어요? මේ චිත්‍රපටය රසවින්දා ද? 나: 아니요, 재미**없어요**. නැහැ. රසවින්දේ නැහැ.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ '안' සහ '못'**

'안' සහ '못' අඛ්‍යාතය ඉදිරියෙන් යොදා ඍණාත්මක අර්ථයක් පිළිබිඹු වන ලෙස ලිවීමේදී භාවිතා කරයි. '안' යන්න පැහැදිලිවම ඍණාත්මක හෝ කර්තෘගේ ඍණාත්මක අදහසක් පිළිබිඹු වන අතර '못' යන්න කර්තෘගේ හැකියාව අඩු හෝ වෙනත් හේතුවක් මත කළ නොහැකි බව පිළිබිඹු කරයි. '못' යන්න විශේෂණ පදයක් ඉදිරිපසට පැමිණිය නොහැක.

- 가고 싶지 않아서 **안** 가요.(O)
- 가고 싶지 않아서 못 가요.(X)



'안' පිළිබඳව අවබෝධ වුණා ද? එහෙනම් උදාහරණ දෙස බලා දෙබස සම්පූර්ණ කරන්න.

**2. 그림을 보고 〈보기〉처럼 대화를 완성하세요.**

පින්තූර බලා උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් සංවාදය සම්පූර්ණ කරන්න.

보기
가: 불고기가 매워요? පුල්කෝගී සැරයිද/දැවිල්ලයි ද?
나: 아니요, 안 매워요. නැහැ. දැවිල්ල නැහැ.

1) 가: 일요일에 회사에 가요?
나: 아니요, ________________.

2) 가: 아이스크림을 좋아해요?
나: 아니요, ________________.

3) 가: 아침을 먹었어요?
나: 아니요, ________________.

4) 가: 어제 운동했어요?
나: 아니요, ________________.

정답 1) 회사에 안 가요 2) 안 좋아해요 3) 안 먹었어요 4) 운동 안 했어요

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 친구와 함께 음식을 주문해 보세요.
උදාහරණයෙන් දැක්වෙන ආකාරයට යහළුවත් එක්ක කෑම ඇණවුම් කරලා බලන්න.




**보기**

종업원: 어서 오세요. 몇 분이세요? සාදරයෙන් පිළිගන්නවා. කී දෙනෙක් ඉන්නවද?

손님1: 두 명이요. 자리 있어요? දෙන්නයි. ආසන තියෙනවාද?

종업원: 네, 있어요. 이쪽으로 앉으세요. 뭐 드릴까요?
ඔව්, තියෙනවා. මේ පැත්තෙන් වාඩි වෙන්න. මොනවද දෙන්නේ?

손님2: 저는 김치찌개 먹을래요. මම කිම්චිචිගේ කන්නම්.

손님1: 저는 갈비탕 먹을래요. මම කල්බිථං කන්නම්.

손님2: 여기 김치찌개하고 갈비탕 주세요. මෙතනට කිම්චිචිගේ සහ කල්බිථං දෙන්න.



ඉහත උදාහරණය දෙස බලා පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

✚ 알맞은 말에 ✔하세요. නිවැරදි වචනයට ඉදිරියෙන් ✔ ලකුණු කරන්න.

| | | |
|---|---|---|
| (1) 식당에 자리가<br>ආපනශාලාවේ ඉඩ | ☐ 있어요.<br>තිබේ | ☐ 없어요.<br>නොතිබේ |
| (2) 갈비탕하고 김치찌개를<br>කල්බිථං සහ කිම්චිචිගේ | ☐ 시켰어요.<br>ඇණවුම් කළා. | ☐ 안 시켰어요.<br>ඇණවුම් නොකළා. |
| (3) 식당에 손님이<br>ආපනශාලාවේ පාරිභෝගිකයන් | ☐ 한 명 왔어요.<br>එක්කෙනෙක් ආවා | ☐ 두 명 왔어요.<br>දෙන්නෙක් ආවා |
| (4) 비빔밥이 갈비탕보다<br>පිබිම්පබ් කල්බිථං වලට වඩා | ☐ 싸요.<br>මිල අඩුයි | ☐ 비싸요.<br>මිල වැඩියි |

정답 (1) 있어요. (2) 시켰어요. (3) 두 명 왔어요. (4) 싸요.

## 정보 තොරතුරු

# 음식 메뉴 කෑම මෙනුව

### 한식
කොරියන් කෑම


김치찌개
කිම්චිච්ගේ


된장찌개
ත්වේන්ජංචිච්ගේ


순두부찌개
සුන්තුබුචිච්ගේ


삼계탕
සම්ක්‍යෙටං


갈비탕
කල්බිටං


감자탕
කම්ජටං


불고기
පුල්කෝගි


비빔밥
පිබිම්පාබ්

### 중식
චීන කෑම


자장면
ජාජාංම්‍යොන්


짬뽕
ජාම්ප්පොං


탕수육
ටංසුයුක්


군만두
කුන්මන්දු

### 일식
ජපන් කෑම


초밥
චෝපාබ්


돈가스
දොන්ගාස


우동
උදොං


모밀
මෝමිල්

### 분식
පිටි කෑම


김밥
ගිම්පබ්


떡볶이
තොක්පොක්ගි


튀김
ත්වීකිම්


순대
සුන්දේ

### 간식/야식
කෙටි කෑම/
රාත්‍රී කෑම


치킨
චිකන


족발
චොක්බල්


보쌈
බොස්සම්


피자
පීසා

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK



ප්‍රශ්න අංක 1 අංක 2 හොඳින් සවන් දී පින්තූරය හා සම්බන්ධයක් ඇති වචන තෝරන ප්‍රශ්න වේ.

[1~2] 듣은 것을 고르십시오. ඔබ සවන් දුන් දේතෝරන්න.

Track 48

1. 


① ② ③ ④

2. 

① ② ③ ④



පහත සංවාදයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න. සංවාදයට සවන් දීමට පෙර ප්‍රශ්නය එකපාරක් කියවා බලන්න.

[3~5] 이야기를 듣고 질문에 알맞은 대답을 고르십시오.
කතාවට සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුරු තෝරන්න.

3. 여기는 어디입니까? මේතන කොහේද?

① 극장 ② 식당
③ 공원 ④ 서점

4. 여자는 무엇을 먹고 싶어합니까? ගැහැණු කෙනා මොනවා කන්නද කැමති?

① 된장찌개 ② 김치찌개
③ 부대찌개 ④ 순두부찌개

5. 남자는 무엇을 좋아합니까? පිරිමි කෙනා මොනවටද කැමති?

① 불고기 ② 비빔밥
③ 삼계탕 ④ 갈비탕



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. ① 남: 물수건 තෙත තුවාය　　② 남: 공깃밥 බත්
   ③ 남: 메뉴판 මෙනුපත　　④ 남: 불고기 පුල්කෝගි
2. ① 여: 짜요 ලුණු රසයි　　② 여: 써요 තිත්ත රසයි
   ③ 여: 달아요 පැණි රසයි　　④ 여: 매워요 දැවිල්ල
3. 남: 뭐 드릴까요? මොනවද දෙන්නෙ?
   여: 비빔밥하고 김치찌개 주세요. පිබිම්පබ් සහ කිම්චිචිගේ දෙන්න.
4. 남: 전 김치찌개 먹고 싶어요. 수루 씨는요? මට කිම්චිචිගේ කන්න ඕනේ. සුරූ මහත්මිය?
   여: 저는 된장찌개 먹을래요. මම ත්වේන්ජංචිචිගේ කන්නම්.
5. 남: 수미 씨는 불고기 좋아해요? සුරූ මහත්මිය පුල්කෝගි වලට කැමතිද?
   여: 네, 좋아해요. 투안 씨는요? ඔව්, කැමතියි. තුවාන් මහතා?
   남: 전 안 좋아해요. 전 비빔밥을 좋아해요. මම කැමති නෑ. මම කැමති පිබිම්පාබ් වලට.

정답 1. ③ 2. ③ 3. ② 4. ① 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස　L-14

1. 들은 것을 고르십시오. සවන් දුන් දේ තෝරන්න.

   ① 사요.　② 써요.　③ 가요.　④ 짜요.

2. 대화를 듣고 질문에 알맞은 것을 고르십시오.
   සංවාදය හොඳින් සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුර තෝරන්න.

   여자는 무엇을 좋아합니까? ගැහැණු කෙනා මොනවටද කැමති?

   ① 갈비탕　② 불고기　③ 삼계탕　④ 비빔밥

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 짜요. ලුණු රසයි
2. 남: 미영 씨는 불고기를 좋아해요? මියොං මහත්මිය පුල්කෝගි වලට කැමතිද?
   여: 아니요, 저는 불고기를 안 좋아해요. 삼계탕을 좋아해요. 건우 씨는요?
   නැහැ, මම පුල්කොගි වලට කැමති නෑ. සම්ක්‍යෙථං වලට කැමතියි. කොංවු මහත්මයා?
   남: 저는 비빔밥을 좋아해요. මම පිබිම්පබ් වලට කැමතියි.

정답 1. ④ 2. ③

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK

අංක 1 සහ අංක 2 පින්තූරය බලා නිවැරදි යෙදුම තෝරන ප්‍රශ්නයි. පින්තූරය බලා ඊට ගැලපෙන යෙදුම තෝරන්න.

[1~2] 다음 그림을 보고 맞는 단어나 문장을 고르십시오.
පහත පින්තූර බලා ගැළපෙන වචනය හෝ වාක්‍යය තෝරන්න.

1. 

① 쇼핑 ② 배달
③ 약속 ④ 주문

2. 

① 자리가 없습니다. ② 손님이 없습니다.
③ 반찬이 없습니다. ④ 식당이 없습니다.

පහත ප්‍රශ්න වලට සුදුසු පිළිතුරු තෝරන්න. ඉහත ඉගෙන ගත් දේ මතක් කරමින් ප්‍රශ්නයට පිළිතුරු සපයන්න.

[3~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오.
හිස්තැනට වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

3.
가: 몇 분이세요? කී දෙනෙක් සඳහාද?
나: ______________________.

① 두 명이요 ② 비빔밥 하나요
③ 불고기 일 인분이요 ④ 한 시 삼십 분이요

4.
가: 뭐 드릴까요? මොනවද දෙන්න ඕන?
나: ______________________.

① 네, 있어요 ② 조금 매워요
③ 김치찌개 주세요 ④ 아니요, 안 좋아해요

5.
가: 뭐 먹을래요? මොනවද කන්නෙ?
나: ______________________.

① 지금 먹을래요 ② 제가 먹을래요
③ 비빔밥 먹을래요 ④ 여기에서 먹을래요

정답 1. ④ 2. ① 3. ① 4. ③ 5. ③



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 다음 그림을 보고 맞는 표현을 고르십시오. පහත පින්තූර බලා ඊට ගැළපෙන වාක්‍යය තෝරන්න.

1. 

① 반찬 ② 메뉴판
③ 숟가락 ④ 젓가락

2. 

① 써요. ② 짜요.
③ 매워요. ④ 시어요.

3. 

① 음식을 골라요. ② 음식을 먹어요.
③ 음식을 배달해요. ④ 음식을 주문해요.

[4~6] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත්ම ගැළපෙන පිළිතුර තෝරන්න.

4.

저는 한국 ________을/를 자주 먹습니다. 특히 불고기와 비빔밥을 아주 좋아합니다.
මම කොරියානු ආහාර නිතර කනවා. විශේෂයෙන් පුල්කොගී සහ පිබිම්පබ් වලට ගොඩාක් කැමතියි.

① 과일 ② 노래
③ 영화 ④ 음식

5.

오늘은 일이 많아서 공장에서 밥을 먹기로 했습니다. 그래서 중국집에 전화해서 자장면을 ________.
අද වැඩ ගොඩක් තියෙන නිසා වැඩපොලේ ඉඳලා කෑම කන්න හිතුවා.එමනිසා චීන ආපනශාලාවට දුරකථනයෙන් අමතා ජජන්මොයාං ඇණවුම් කලා.

① 남겼습니다 ② 보냈습니다
③ 시켰습니다 ④ 팔았습니다

6.

가: 저녁에 뭐 먹을 거예요? රෑට කන්නේ මොනවද?
나: ________________.

① 많이 먹을 거예요 ② 불고기를 먹을 거예요
③ 식당에서 먹을 거예요 ④ 일요일에 먹을 거예요

정답 1. ① 2. ② 3. ② 4. ④ 5. ③ 6. ②

# 15 날씨가 맑아서 기분이 좋아요

## කාලගුණය පැහැදිලි නිසා සිතට සතුටුයි

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | කාලගුණය සහ හැඟීම් ප්‍රකාශ කිරීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | –네요, –아서/어서 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | කාලගුණය සහ ඍතු, හිතේ සතුට අසතුට සහ හැඟීම් |
| ▫ සංස්කෘතික තොරතුරු | කොරියාවේ ඍතු හතර |

## 대화 1 සංවාදය 1

Track 49



පහත දැක්වෙන්නේ රියාන් සහ තුවාන් අතර සංවාදයකි. දෙදෙනා දැන් කුඩයක් තියෙනවා දැයි එකිනෙකාගෙන් විමසමින් සිටියි. ප්‍රථමයෙන්ම දෙබස දෙවරක් සවන් දී ඉන්පසු අනුගමනය කරමින් කියවන්න.

**계속** දිගටම
- 저는 한국어를 계속 공부하고 싶어요.
  මම කොරියන් භාෂාව දිගටම ඉගෙන ගන්න කැමතියි.
- 계속 비가 오면 축구를 못 할 거예요.
  දිගටම වැස්ස ආවොත් පාපන්දු ක්‍රීඩාව කරන්නට බැරි වෙයි.

**이따가** ටිකකින්
- 지금은 바쁘니까 이따가 오세요.
  දැන් කාර්යබහුල නිසා ටිකකින් එන්න.
- 우리 이따가 이야기 좀 할까요?
  අපි ටිකකින් චුට්ටක් කථා කරමුද?

투안 비가 계속 오네요.
වැස්ස දිගටම තියෙනවා.

리한 네, 안 그치네요.
ඔව්, නවතින්නෙ නැහැනේ.
투안 씨, 우산 있어요?
තුවාන් මහත්මයා, කුඩයක් තියෙනවද?

투안 아니요, 없어요. 리한 씨는요?
නැහැ, කුඩයක් නැහැ. රිහාන් මහත්මයා ළඟ තියෙනවද?

리한 저는 있어요.
이따가 저하고 같이 집에 가요.
මට තියෙනවා. ටිකක් ඉදලා මාත් එක්ක ගෙදර යමු.



හොඳින් සවන් දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයන්න.

1. 날씨가 어때요? කාලගුණය කොහොමද?
2. 투안 씨는 우산이 있어요? තුවාන් මහතාට කුඩයක් තිබෙනවාද?

정답 1. 비가 와요. 2. 아니요, 없어요.



## 어휘 1 වචන මාලාව 1 — 날씨와 계절 කාලගුණය සහ ඍතු



කොරියාවේ ඍතු හතරක් ඇත. ඍතුවෙන් ඍතුවට කාලගුණය වෙනස් වේ. එහෙනම් කාලගුණය සහ ඍතු හා සම්බන්ධ වචන සහ යෙදුම් මොනවදැයි බලමුද?



봄
වසන්ත කාලය



따뜻하다
උණුසුම්



여름
ග්‍රීෂ්ම කාලය



덥다
රස්නෙයි



가을
සරත් කාලය



시원하다
සිසිල්



겨울
ශීත කාලය



춥다
සීතලයි

- **봄**은 **따뜻해요.** වසන්ත කාලය උණුසුම්.
- **가을**은 **시원해요.** සරත් කාලය සිසිල්.
- **여름**은 **더워요.** ග්‍රීෂ්ම කාලය රස්නෙයි.
- **겨울**은 **추워요.** ශීත කාලය සීතලයි.

날씨가 좋다 කාලගුණය හොඳයි
맑다 පැහැදිලි අහස
날씨가 나쁘다 කාලගුණය නරකයි
흐리다 වලාකුළු සහිතයි
비가 오다 වැස්ස වහිනවා
눈이 오다 හිම වැටෙනවා
바람이 불다 සුළං හමනවා
그치다 නතර වෙනවා



ඉහත වචන දෙස නොබලා ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 단어를 연결하세요. පින්තූරය දෙස බලා අදාළ වචනය සමග යා කරන්න.

① 

② 

③ 

④ 

㉠ 따뜻하다　㉡ 덥다　㉢ 시원하다　㉣ 춥다

정답 ① ㉡ ② ㉠ ③ ㉣ ④ ㉢

## 문법 1 ව්‍යාකරණ 1 -네요

G15-1

'-네요' යන්න අලුතෙන් අත්දකින්නට ලැබුණු දෙයක් හෝ දැන් දැනුණු දෙයක් හෝ පෙනෙන දෙයක් පිළිබඳව අතිශෝක්තියෙන් පැවසීමේදී හෝ සැහැල්ලු ලෙස විශ්මයෙන් පැවසීමේදී භාවිතා කරයි. සම්බන්ධ කරනු ලබන ක්‍රියාපදය හෝ විශේෂණ පදය හල්කිරීමක් අවසන් වුවත්, නැතත් වෙනසක් නොමැතිව සියල්ලටම '-네요' යෙදිය හැකිය.

- 가: 지금 추워요? දැන් සීතලයිනේ?
  나: 네, 좀 **춥네요**. ඔව්, ටිකක් සීතලයි.
- 가: 카말라씨는 한국 음식을 참 잘 **만드네요**. කමලා මහත්මිය කොරියානු කෑම හොඳට හදනවානේ.
  나: 그래요? 감사합니다. එහෙමද? ස්තුතියි.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ '-네요' සහ '-는군요'**

'-네요' සහ '-는군요' අළුතින් දැන ගත් සත්‍යක් පිළිබඳ පුදුම වන විට භාවිතා කරයි. '-네요' යන්න කතා කරන පුද්ගලයා සෘජුව ලබපු අත්දැකීමක් ඔස්සේ දැන ගත් සත්‍යක් පිළිබඳ ප්‍රකාශ කරන විට යොදා ගන්නා අතර '-는군요' සෘජුව ලබපු අත්දැකීමක් ඔස්සේ දැන ගත් සත්‍යක් පමණක් නොව සවන් දී දැන ගත් සත්‍යක් පිළිබඳව කතා කිරීමේදී ද යොදා ගනියි.

- 가: 한국까지 비행기로 10시간쯤 걸려요.
  나: 아, 여기 오는 데 10시간이나 **걸리는군요**.(O)/걸리네요.(X)



'-네요' ව්‍යාකරණය අවබෝධ වුණා ද? එහෙනම් උදාහරණ දෙස බලා සංවාදය සම්පූර්ණ කරන්න.

**2. 그림을 보고 〈보기〉처럼 '-네요'를 사용해서 문장을 완성하세요.**

පින්තූර බලා උදාහරණය අනුව '-네요' භාවිතා කරමින් වාක්‍යය සම්පූර්ණ කරන්න.

보기



오늘은 날씨가 정말 따뜻하네요. අද කාලගුණය ඇත්තටම උණුසුම්නේ.

1)  오늘은 날씨가 너무 __________.

2)  오늘은 날씨가 너무 __________.

3)  오늘은 날씨가 정말 __________.

4)  오늘은 비가 정말 많이 __________.

정답 1) 덥네요 2) 시원하네요 3) 춥네요 4) 오네요

## 대화 2 සංවාදය 2

Track 50



තුවාන් සහ සුරු ඔවුන්ගේ ප්‍රියතම ඍතුව ගැන කතා කරමින් සිටියි. ඔවුන් දෙදෙනා කැමති ඍතු මොනවාද? ප්‍රථමයෙන් සංවාදය දෙවරක් සවන් දී නැවත කියවන්න.

투안 오늘은 날씨가 참 좋네요.
අද කාලගුණය ඇත්තටම හොඳයිනේ.

수루 네, 요즘은 날씨가 따뜻해서 기분이 정말 좋아요.
ඔව්, මේ දවස් වල කාලගුණය උණුසුම් නිසා හිතට ගොඩක් සතුටුයි.

투안 수루 씨는 봄을 좋아해요?
සුරු මහත්මිය වසන්ත කාලයට කැමතිද?

수루 네, 저는 봄을 가장 좋아해요.
ඔව්, මම වසන්ත කාලයට ගොඩක් කැමතියි.

투안 씨는 무슨 계절을 가장 좋아해요?
තුවාන් මහත්මයා මොන ඍතුවටද වැඩියෙන් කැමති?

투안 저는 겨울을 가장 좋아해요.
මම ශීත කාලයට වැඩියෙන් කැමතියි.

> **참** ගොඩක්
> · 오늘 참 덥네요.
> අද ගොඩක් රස්නෙයි.
> · 영화가 참 재미있어요.
> චිත්‍රපටය ගොඩාක් විනෝදජනකයි.

> **무슨** කිනම් / මොන / කුමන
> · 한국에서 무슨 일을 하고 싶어요?
> කොරියාවේ මොන වැඩක් කිරීමටද කැමති?
> · 무슨 과일을 좋아해요?
> කුමන පලතුරු වලටද කැමති?



හොඳින් සවන් දී අනුගමනය කළාද? එහෙනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 오늘은 날씨가 어때요? අද කාලගුණය කෙසේද?
2. 투안 씨는 무슨 계절을 좋아해요? තුවාන් මහත්මයා කැමති ඍතුව කුමක්ද?
3. 수루 씨는 왜 기분이 좋아요? සුරු මහත්මිය ඇයි සතුටින් ඉන්නේ?

정답 1. 참 좋아요. 2. 겨울을 좋아해요. 3. 요즘 날씨가 따뜻해서 기분이 좋아요.

## 어휘 2 වචන මාලාව 2 기분과 감정 හැඟීම් සහ දැනීම්



පහත දැක්වෙන්නේ හැඟීම් හා දැනීම් සම්බන්ධ විවිධ වචන හා ප්‍රකාශයන් වේ. මොනවාගේ වචන තිබේ ද යන්න විමසා බලමු ද?



기분이 좋다
හැඟීම හොඳින්



기쁘다
සතුටුයි



즐겁다
වින්දනීයයි



신나다
විනෝදජනකයි



기분이 나쁘다
හිතට අසතුටුයි



슬프다
දුකයි



피곤하다
විඩාපත්/මහන්සි



졸리다
නිදිමතයි

외롭다 හුදකලා  우울하다 කනස්සල්ල  상쾌하다 නැවුම් හැඟීමක් දැනෙනවා  행복하다 ප්‍රීතිමත්

- 시험을 잘 쳐서 **기분이 좋아요.** විභාගය හොඳින් ලියූ නිසා හිතට සතුටුයි.
- 친구한테서 편지를 받아서 정말 **기뻐요.** යහළුවාගෙන් ලිපියක් ලැබුනු නිසා ගොඩක් සතුටුයි.
- 시험을 못 쳐서 **기분이 나빠요.** විභාගය හොඳින් නොලියූ නිසා හිතට දුකයි.
- 영화가 너무 **슬퍼서** 울었어요. චිත්‍රපටය ගොඩාක් දුක නිසා ඇඬුවා.
- 일을 많이 해서 **피곤해요.** වැඩ ගොඩක් කරපු නිසා මහන්සියි.
- 어제 잠을 못 자서 **졸려요.** ඊයේ හරි නින්දක් නැති නිසා නිදිමතයි.



ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ගැටළු සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림을 보고 알맞은 단어를 연결하세요.
   පින්තූරය දෙස බලා අදාළ වචනය යා කරන්න.

① 

② 

③ 

④ 

㉠ 슬프다  ㉡ 외롭다  ㉢ 피곤하다  ㉣ 기분이 좋다

정답 ① ㉢ ② ㉣ ③ ㉠ ④ ㉡

## 문법 2 ව්‍යාකරණ 2 -아서/어서

G15-2

ක්‍රියාපද සහ විශේෂණ පද වලට සම්බන්ධ වී මුල් කාරණය පසුව යෙදෙන කාරණයට හේතු වෙන බව ප්‍රකාශ කිරීමට යොදාගැනේ.

| ㅏ, ㅗ → **-아서** | ㅓ, ㅜ, ㅣ ආදී → **-어서** | 하다 → **해서** |
|---|---|---|
| 가다 → **가서**<br>좋다 → 좋**아서** | 먹다 → 먹**어서**<br>있다 → 있**어서** | 공부하다 → 공부**해서**<br>친절하다 → 친절**해서** |

- 배가 **아파서** 병원에 갔어요. බඩ රිදෙන නිසා රෝහලට ගියා.
- 약속이 **있어서** 먼저 집에 갔어요. පොරොන්දු වූ දෙයක් තිබෙන නිසා මුලින් ගෙදර ගියා.



'-아서/어서' ව්‍යාකරණය අවබෝධ වුණා නේද? එහෙනම් උදාහරණ දෙස බලා සංවාදය සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 '-아서/어서'를 사용해서 대화를 완성하세요.
පින්තූර බලා උදාහරණයට අනුව '-아서/어서' භාවිතා කරමින් සංවාදය සම්පූර්ණ කරන්න.

보기



가: 무슨 계절을 좋아해요? කුමන ඍතුවටද කැමති?
나: 날씨가 따뜻해서 봄을 좋아해요.
කාලගුණය උණුසුම් වන නිසා වසන්තයට කැමතියි.

1) 

가: 무슨 계절을 좋아해요?
나: 날씨가 ________________ 가을을 좋아해요.

2) 

가: 무슨 계절을 좋아해요?
나: 눈이 ________________ 겨울을 좋아해요.

3) 

가: 오늘 기분이 어때요?
나: 날씨가 ________________ 기분이 좋아요.

4) 

가: 오늘 기분이 어때요?
나: 비가 ________________ 기분이 안 좋아요.

정답 1) 시원해서 2) 와서 3) 좋아서 4) 와서

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 여러분 나라의 계절과 날씨를 소개해 보세요.
උදාහරණය අනුව ඔබගේ රටේ ඍතු සහ කාලගුණය හඳුන්වා දෙන්න.

보기

### 한국의 계절

한국에는 봄, 여름, 가을, 겨울이 있습니다. 봄은 날씨가 따뜻합니다. 여름은 날씨가 덥습니다. 그리고 비가 많이 옵니다. 가을은 날씨가 시원합니다. 겨울은 날씨가 춥습니다. 그리고 눈이 옵니다.

කොරියාවේ ඍතු

කොරියාවේ වසන්ත කාලය, ග්‍රීස්ම කාලය, සරත් කාලය, ශීත කාලය, වශයෙන් ඍතුභේදයන් තිබේ. වසන්ත කාලයේ කාලගුණය උනුසුම්. ග්‍රීස්ම කාලයේ කාලගුණය රස්නෙයි. ඒ වගේම වැසිද බහුලව ඇදහැලේ. සරත් කාලයේදී සිසිල්ය. ශීත කාලයේදී කාලගුණය ශීතලය. ඒ වගේම හිම පතනයත් සිදු වේ.



ශ්‍රී ලංකාවේ කොරියාවේ මෙන් නොව වියළි සහ තෙත් කාලගුණය පමණයි නේද තියෙන්නේ? කොරියාවේ ඍතු හතරක් තිබෙන අතර සෑම ඍතුවකම කාලගුණය වෙනස්. ඉහත දැක්වෙන උදාහරණය කියවා පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

✚ 알맞은 말에 ✓하세요. නිවැරදි වචනයට ඉදිරියෙන් ✓ ලකුණු කරන්න.

| | | |
|---|---|---|
| (1) 봄은 날씨가<br>වසන්ත කාලයේ කාලගුණය | ☐ 따뜻합니다.<br>උණුසුම්. | ☐ 시원합니다.<br>සිසිල්. |
| (2) 겨울은 춥습니다. 그리고<br>සීත කාලය සීතලයි. එමෙන්ම | ☐ 비가 옵니다.<br>වැස්ස වහිනවා. | ☐ 눈이 옵니다.<br>හිම වැටෙනවා. |
| (3) 날씨가 아주 덥습니다. 지금은<br>කාලගුණය ගොඩක් රස්නෙයි. දැන් | ☐ 여름입니다.<br>ග්‍රීස්ම කාලයයි. | ☐ 가을입니다.<br>ශීත කාලයයි. |

정답 1) 따뜻합니다. 2) 눈이 옵니다. 3) 여름입니다.

## 퀴즈 ප්‍රහේලිකාව

✚ 다음 그림을 보고 생각나는 계절은 뭐예요?
පහත පින්තූර දුටු විට සිහිවන ඍතුව කුමක්ද?




?

정답 여름

## 정보 තොරතුරු

# 한국의 사계절 කොරියාවේ සෘතු හතර




| 겨울 | ශීත | 봄 | වසන්තය | 여름 | ග්‍රීස්මය | 가을 | සරත් |
|---|---|---|---|---|---|---|---|
| 12월 | දෙසැම්බර් | 3월 | මාර්තු | 6월 | ජූනි | 9월 | සැප්තැම්බර් |
| 1월 | ජනවාරි | 4월 | අප්‍රේල් | 7월 | ජූලි | 10월 | ඔක්තොම්බර් |
| 2월 | පෙබරවාරි | 5월 | මැයි | 8월 | අගෝස්තු | 11월 | නොවැම්බර් |

### 내용 확인 අර්ථය තහවුරු කිරීම

✚ 빈칸에 알맞은 말을 쓰세요. හිස් තැනට සුදුසු වචනය ලියන්න.

(1) 12월부터 2월까지는 '     '입니다. දෙසැම්බර් සිට පෙබරවාරි දක්වා කාලය ශීත සෘතුව වේ.

(2) 겨울에는 '   '이 옵니다. ශීත සෘතුවේ දී හිම වැටෙයි.

(3) 여름은 날씨가 '        '. ග්‍රීස්ම කාලයේදී කාලගුණය රස්නෙයි.

정답 (1) 겨울 (2) 눈 (3) 덥습니다

## EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

අංක 1 සෘතු පිළිබඳ කියැවෙන වචන වන අතර, අංක 2 කාළගුණය ගැන කියවෙන වචනයි. හොඳින් සවන් දී නිවැරදි වචනය තෝරන්න.

[1~2] 들은 것을 고르십시오. ඔබ සවන් දුන් දේ තෝරන්න.

Track 51

1. ① 봄 ② 여름 ③ 가을 ④ 겨울

2. ① 더워요. ② 추워요. ③ 맑아요. ④ 흐려요.

පහත සංවාදයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න. සංවාදයට සවන් දීමට පෙර ප්‍රශ්නය එක් වරක් කියවා බලන්න.

[3~5] 이야기를 듣고 질문에 알맞은 대답을 고르십시오.
කතාවට සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුර තෝරන්න.

3. 지금은 무슨 계절입니까? දැන් මොන සෘතුවද තියෙන්නෙ?
① 봄 ② 여름
③ 가을 ④ 겨울

4. 오늘 날씨는 어떻습니까? අද කාලගුණය කොහොමද?
① 비가 옵니다. ② 눈이 옵니다.
③ 날씨가 좋습니다. ④ 날씨가 흐립니다.

5. 남자는 무슨 계절을 좋아합니까? පිරිමි කෙනා පුද්ගලයා මොන සෘතුවටද කැමති?
① 봄 ② 여름
③ 가을 ④ 겨울



### 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 남: 가을 සරත් කාලය
2. 여: 추워요. සීතලයි.
3. 남: 오늘 날씨가 많이 춥네요. අද කාලගුණය ගොඩක් සීතලයි.

   여: 하지만 눈이 와서 기분이 너무 좋아요.
   ඒ වුණත් හිම වැටුණු නිසා හිතට සතුටුයි.
4. 남: 지금 비가 와요? දැන් වහිනවද?

   여: 아니요, 안 와요. 날씨가 아주 맑아요. නෑ, වහින්නෙ නෑ. කාලගුණය ගොඩක් පැහැදිලි.
5. 남: 수미 씨는 무슨 계절을 좋아해요? සුමි මහත්මිය කිනම් ඍතුවටද කැමති?

   여: 저는 여름을 좋아해요. 투안 씨는요? මම ග්‍රීෂ්ම කාලයට කැමතියි. තුවාන් මහතා?

   남: 전 봄을 좋아해요. මම වසන්තයට කැමතියි.

정답 1. ③ 2. ② 3. ④ 4. ③ 5. ①

## 확장 연습 වැඩිදුර අභ්‍යාස

L-15

1. 들은 것을 고르십시오. සවන් දුන් දේ තෝරන්න.

   ① 더워요. ② 맑아요. ③ 추워요. ④ 흐려요.

2. 대화를 듣고 질문에 알맞은 것을 고르십시오.
   සංවාදය හොඳින් සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුර තෝරන්න.

   부산은 날씨가 어때요? බූසාන් වල කාළගුණය කොහොමද?

   ① 눈이 와요. ② 비가 와요.
   ③ 날씨가 좋아요. ④ 날씨가 나빠요.

### 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 맑아요. පැහැදිලි.
2. 남: 부산은 지금 날씨가 좋아요? බූසාන් වල කාළගුණය දැන් හොඳයිද?

   여: 아니요, 안 좋아요. 바람이 불고 추워요. නැහැ, හොඳ නැහැ. හුලං හමනවා ගොඩක් සීතලයි.

정답 1. ② 2. ④

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



අංක 1 කාලගුණය පිළිබිඹු කරන යෙදුම් වන අතර අංක 2 හැඟීම් සහ දැනීම් ප්‍රකාශ කරන යෙදුම් වේ. පින්තූර දෙස බලා නිවැරදි යෙදුම තෝරන්න.

[1~2] 다음 그림을 보고 맞는 문장을 고르십시오. පහත පින්තූර බලා ගැළපෙන වාක්‍යය තෝරන්න.

1. 

① 더워요. ② 추워요.
③ 흐려요. ④ 시원해요.

2. 

① 슬픕니다. ② 외롭습니다.
③ 행복합니다. ④ 피곤합니다.



පහත දැක්වෙන්නේ කාලගුණය හා සෘතු පිළිබඳ ප්‍රශ්න වේ. ඉගෙන ගත් දේ මතක් කරමින් ප්‍රශ්නයට පිළිතුරු සපයන්න.

[3~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오.
හිස්තැනට වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

3. 필리핀에는 겨울이 없어요. 그래서 ________________________.
පිලිපීනයේ සීත සෘතුවක් නැහැ. එම නිසා හිම වැටෙන්නේ නැහැ.

① 너무 추워요 ② 눈이 안 와요 ③ 겨울이 있어요 ④ 날씨가 흐려요

4. 가: ______________________________?
나: 아주 좋아요. 맑아요. ගොඩක් හොඳයි. පැහැදිලි.

① 가을이 없어요 ② 비가 많이 와요
③ 오늘 날씨가 어때요 ④ 무슨 계절을 좋아해요

5. 여름은 날씨가 _______________ 저는 여름을 안 좋아해요.
ග්‍රීස්ම කාලයේ කාලගුණය රස්නේ නිසා මම ග්‍රීස්ම කාලයට කැමති නැහැ.

① 없어서 ② 있어서 ③ 더워서 ④ 추워서

정답 1. ④ 2. ③ 3. ② 4. ③ 5. ③



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 다음 그림을 보고 맞는 문장을 고르십시오. පහත පින්තූර බලා ඊට ගැළපෙන පිළිතුර තෝරන්න.

1. 

① 봄　② 여름
③ 가을　④ 겨울

2. 

① 더워요.　② 추워요.
③ 눈이 와요.　④ 비가 와요.

3. 



① 신나요.　② 졸려요.
③ 피곤해요.　④ 기분이 나빠요.

[4~6] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත්ම ගැළපෙන පිළිතුර තෝරන්න.

4. 주말에 ________이/가 좋으면 친구들과 함께 축구를 하려고 합니다. 비가 안 오면 좋겠습니다.
සති අන්තයේ කාලගුණය හොඳ වුනොත් යහළුවන් සමග පාපන්දු සෙල්ලම් කරන්නයි ඉන්නේ. වැස්ස ආවේ නැත්නම් හොඳයි.

① 계절　② 날씨　③ 요일　④ 휴일

5. 지난주에는 날씨가 따뜻했는데 이번 주부터 날씨가 __________. 두꺼운 옷을 입어야 할 것 같습니다.
ගිය සතියේ කාලගණය රස්නෙ වුනත් මේ සතියේ ඉඳලා සීතල වුණා. ඝණකම් ඇඳුම් අඳින්න වෙයි වගේ.

① 더워졌습니다　② 좋아졌습니다　③ 추워졌습니다　④ 시원해졌습니다.

6. 한국에 ________ 눈을 처음 봤습니다. 우리나라는 춥지 않아서 눈이 오지 않기 때문입니다.
කොරියාවට ඇවිත් හිම මුල් වතාවට දැක ගත්තා. අපේ රට සීතල නැති නිසා හිම වැටෙන්නේ නැහැ.

① 오면　② 와서　③ 오게　④ 와도

정답 1. ①　2. ④　3. ②　4. ②　5. ③　6. ②

# 16 시간 있을 때 주로 테니스를 치러 가요

වෙලාව තියෙද්දී බොහෝ වෙලාවට ටෙනිස් ක්‍රීඩාකරන්න යනවා

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | විනෝදාංශ පැවසීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | -(으)ㄹ 때, -(으)러 가다 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | විනෝදාංශ, ක්‍රීඩා |
| ▫ සංස්කෘතික තොරතුරු | විනෝදාත්මක ක්‍රියාකාරකම් වැඩසටහන් |

## 대화 1 සංවාදය 1

Track 52



පහත දෙබස සුරු සහ තුවාන් අතර ඇති වූ සංවාදයයි. දෙදෙනා විනෝදාංශ ගැන කතාකරමින් සිටියි. මුලින්ම කතාවට දෙවරක් සවන්දී නැවත කියවන්න.

투안 수루 씨는 취미가 뭐예요?
සුරු මහතාගේ විනෝදාංශය කුමක්ද?

수루 제 취미는 독서예요.
මගේ විනෝදාංශය පොත් කියවීමයි.
투안 씨는 취미가 뭐예요?
තුවාන් මහතාගේ විනෝදාංශය කුමක්ද?

투안 전 낚시를 좋아해요.
මම මාළු අල්ලන්න කැමතියි.
그래서 시간이 있을 때 낚시하러 자주 가요.
ඒ නිසා වෙලාව තිබෙන විට නිතරම මාළු අල්ලන්න යනවා.

> 취미 විනෝදාංශ
> කැමති නිසා කැමැත්තෙන් කරන වැඩ
> · 제 취미는 낚시예요.
> මගේ විනෝදාංශය මාළු ඇල්ලීමයි.
> · 아밀라 씨는 취미가 많아요.
> ඒ නිසා වෙලාව තියෙන විට නිතරම මාළු අල්ලන්න යනවා.

> 시간이 있다 වෙලාව තිබෙනවා
> ⇔ 시간이 없다 වෙලාවක් නැහැ
> · 가: 월요일에 시간이 있어요?
> සඳුදාට වෙලාව තිබෙනවද?
> 나: 미안해요. 월요일에는 바빠서 시간이 없어요.
> සමාවෙන්න. සඳුදාට කාර්යබහුල නිසා වෙලාවක් නැහැ.
> · 언제 시간이 있어요?
> කවදාටද වෙලාව තියෙන්නේ?



හොඳින් අසා අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 수루 씨의 취미는 뭐예요? සුරු මහතාගේ විනෝදාංශය කුමක්ද?
2. 투안 씨는 시간이 있을 때 뭐 해요? තුවාන් මහතා වෙලාව තිබෙන විට මොනවද කරන්නේ?

정답 1. 독서 2. 낚시

**Tip 빈도 부사** නිතර භාවිතා වන ක්‍රියා විශේෂණ පද

항상/언제나 නිතරම/ ඕනෑම වෙලාවක  주로/보통 බොහෝවිට/ සාමාන්‍යයෙන්  자주 නිතරම  가끔 ඇතැම් විට



## 어휘 1 වචන මාලාව 1 **취미** විනෝදාංශ



පහත දැක්වෙන්නේ විනෝදාංශ හා සම්බන්ධ විවිධ යෙදුම් වේ. කුමන ආකාරයේ යෙදුම් තිබේදැයි සොයා බලමුද?

| | | | |
|---|---|---|---|
|  |  |  |  |
| 독서하다<br>පොත් කියවනවා | 낚시하다<br>මාළු අල්ලනවා | 여행하다<br>සංචාරය කරනවා | 등산하다<br>කඳු නගිනවා |
|  |  |  |  |
| 사진을 찍다<br>ඡායාරූප ගන්නවා | 외국어를 배우다<br>විදේශ භාෂාවන් ඉගෙන ගන්නවා | 콘서트를 보다<br>සංදර්ශන බලන්න යනවා | 운동 경기를 보다<br>ක්‍රීඩා තරඟ නරඹන්න යනවා |
|  |  |  |  |
| 음악을 듣다<br>සංගීතයට සවන්දෙනවා | 기타를 치다<br>ගිටාරය වාදනය කරනවා | 피아노를 치다<br>පියානෝව වාදනය කරනවා | 춤을 추다<br>නර්තනය කරනවා |

**'ㄷ' අවිධිමත් නීතිය**

වචනය අවසානයට යෙදෙන 'ㄷ' අකුර වෙනත් ස්වරයක් හා මුණගැසුන විට 'ㄹ' බවට පත්වෙයි.

예) 듣(다) +어요 =들어요, 걷(다) +을래요 = 걸을래요



ඉහත වචන දෙස නොබලා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 표현을 연결하세요. පින්තූර දෙස බලමින් ගැලපෙන යෙදුම හා යා කරන්න.

①  ②  ③  ④ 

㉠ 낚시하다 ㉡ 독서하다 ㉢ 등산하다 ㉣ 여행하다

정답 ①㉡ ②㉠ ③㉣ ④㉢

## 문법 1 ව්‍යාකරණ 1　-(으)ㄹ 때　G16-1

ක්‍රියා පදයකට හෝ විශේෂණ පදයකට සම්බන්ධ කර යම්කිසි ක්‍රියාවක් දිගටම සිදුවන අතරතුර කාලය ප්‍රකාශ කරයි.

| 자음(ව්‍යඤ්ජන) → **-을 때** | 모음(ස්වර), 자음 'ㄹ'(ව්‍යඤ්ජනය-ㄹ) → **-ㄹ 때** |
|---|---|
| 읽다 → **읽을 때** | 자다 → **잘 때**<br>놀다 → **놀 때** |

- 가: 운동을 매일 해요? ව්‍යායාම හැමදාම කරනවාද?
  나: 아니요, 시간이 **있을 때** 해요. නැහැ, වේලාව තියෙන කොට කරනවා.
- 가: 그 사람을 언제 만났어요? ඒ පුද්ගලයාව කවද්ද හමුවුණේ?
  나: **여행할 때** 만났어요. සොවුල් නගරයේ සංචාරය කරන කොට හමුවුණා.



'-(으)ㄹ 때' අවබෝධ වුණා ද? එසේනම් උදාහරණයේ දැක්වෙන අන්දමට දෙබස සම්පූර්ණ කරන්න.

**2. 그림을 보고 〈보기〉처럼 '-(으)ㄹ 때'를 사용해서 대화를 완성하세요.**
පින්තූර දෙස බලමින් උදාහරණයේ දැක්වෙන අන්දමට '-(으)ㄹ 때' යොදා දෙබස සම්පූර්ණ කරන්න.

보기



가: 날씨가 좋을 때 뭐 해요? කාලගුණය හොඳ නම් මොකද කරන්නේ?
나: 등산해요. කඳු නගින්න යනවා.

1) 
가: ______________________ 뭐 해요?
나: 집에서 책을 읽어요.

2) 
가: ______________________ 뭐 해요?
나: 노래를 불러요.

3) 
가: ______________________ 뭐 해요?
나: 음악을 들어요.

4) 
가: ______________________ 뭐 해요?
나: 많이 자요.

정답　1) 비가 올 때　2) 기분이 좋을 때　3) 화가 날 때　4) 피곤할 때

## 대화 2 සංවාදය 2

Track 53



මින්සු හා රිහාන් සති අන්තයේ කරන ක්‍රියාකාරකම් ගැන කතාකරමින් සිටියි. කුමන දෙයක් පිළිබඳ කථා කරයි දැයි බලන්න. පලමුව දෙබසට දෙවරක් සවන්දී නැවත කියවන්න.

민수 **리한 씨는 주말에 보통 뭐 해요?**
රිහාන් සතිඅන්තයේ සාමාන්‍යයෙන් මොනවද කරන්නේ?

리한 **전 운동을 좋아해서 주로 운동해요.**
මම ක්‍රීඩා කරන්න කැමති නිසා සාමාන්‍යයෙන් ක්‍රීඩා කරනවා.

민수 **무슨 운동을 가장 좋아해요?**
මොන ක්‍රීඩා වලටද වැඩියෙන්ම කැමති?

리한 **축구를 가장 좋아해요.**
පාපන්දු වලට වැඩියෙන්ම කැමතියි.

민수 **그래요? 그러면 내일 저하고 같이 축구하러 갈래요?**
එහෙමද? එහෙනම් හෙට මාත් සමඟ පාපන්දු ක්‍රීඩා කරන්න යමුද?

리한 **좋아요. 같이 가요.**
**저도 축구를 하고 싶었어요.**
හොඳයි. එකට යමු.
මාත් පාපන්දු ක්‍රීඩාකරන්න කැමතියි.

> N하고 같이 එක්ක / එකට
> පුද්ගල නාම වලට පසුව යෙදෙන අතර යම් ක්‍රියාවක් එකට කරමු යන අර්ථය දෙයි.
> · 오늘은 친구하고 같이 등산해요.
> අද යහළුවා සමඟ කඳු නගින්න යනවා.
> · 어제 동생하고 같이 시장에 갔어요.
> ඊයේ මල්ලි සමඟ පොලට ගියා.



හොඳින් අසා අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 리한 씨는 주말에 보통 뭐 해요? රිහාන් මහතා සති අන්තයට සාමාන්‍යයෙන් මොනවද කරන්නේ?
2. 두 사람은 내일 뭘 할 거예요? දෙදෙනා හෙට මොනවද කරන්නේ?

정답 1. 운동해요. 2. 축구를 할 거예요.

### Tip 취미 활동 동호회 විනෝදාංශ සමාජය

같은 취미를 가진 사람들이 취미 활동을 같이 하는 모임입니다.
එකම විනෝදාංශය තිබෙන අය එකට එකතු වී එම විනෝදාංශය කරන හමුවීමක් දක්වයි.


축구 동호회
පාපන්දු සමාජය


등산 동호회
කඳු නැගීමේ සමාජය


사진 동호회
ඡායාරූප ගැනීමේ සමාජය


요리 동호회
ආහාරපිසීමේ සමාජය

## 어휘 2 වචන මාලාව 2 운동 ක්‍රීඩා



ක්‍රීඩා වලට සම්බන්ධ වචන ඉගෙන ගනිමු?



축구하다
පාපන්දු ක්‍රීඩා කරනවා



농구하다
දැල්පන්දු ක්‍රීඩා කරනවා



야구하다
බේස්බෝල් ක්‍රීඩා කරනවා



수영하다
පිහිනනවා



테니스를 치다
ටෙනිස් ක්‍රීඩා කරනවා



배드민턴을 치다
බැඩ්මින්ටන් ක්‍රීඩා කරනවා



볼링을 치다
බොලින් ක්‍රීඩා කරනවා



골프를 치다
ගොල්ෆ් ක්‍රීඩා කරනවා



스케이트를 타다
හිමමත ලිස්සායාම කරනවා



스키를 타다
සකි කරනවා



자전거를 타다
බයිසිකල් පදිනවා



ඔබ ඉහත ඉගෙනගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림을 보고 알맞은 표현을 연결하세요. පින්තූර දෙස බලමින් ගැලපෙන යෙදුම හා යා කරන්න.

① 
② 
③ 
④ 

㉠ 수영하다　㉡ 축구하다　㉢ 농구하다　㉣ 야구하다

정답 1) ㉡ 2) ㉢ 3) ㉣ 4) ㉠

## 문법 2 ව්‍යාකරණ 2 -(으)러 가다/오다

G16-2

'-(으)러' යන්න ක්‍රියාපදයකට සම්බන්ධ කර යම්කිසි ස්ථානයකට යන අරමුණ හඟවයි.
'가다(යනවා), 오다(එනවා), 나가다(පිටව යනවා), 나오다(පැමිණෙනවා), 들어가다(ඇතුළට යනවා), 들어오다(ඇතුළට එනවා), 올라가다(උඩට යනවා), 올라오다(උඩට එනවා), 내려가다(පහළට යනවා), 내려오다(පහළට එනවා), 다니다(ගමන් කරනවා)' යනාදී ගමන්කිරීම හඟවන ක්‍රියාපද සමඟ එකට යොදාගනී.

| 자음(ව්‍යඤ්ජන) → **-으러 가다/오다** | 모음(ස්වර), 자음 'ㄹ'(ව්‍යඤ්ජනය-ㄹ) → **-러 가다/오다** |
|---|---|
| 찾다 → 찾**으러 가다/오다** | 쉬다 → 쉬**러 가다/오다**<br>놀다 → 놀**러 가다/오다** |

· 주말에 친구하고 같이 **운동하러 갈 거예요.** සතිඅන්තයේ මිතුරන් සමඟ එකට ව්‍යායාම කරන්න යනවා.
· 가: 시간 있을 때 뭐 해요? වේලාව තියෙනකොට මොනවද කරන්නේ?
  나: 주로 사진 **찍으러 가요.** ප්‍රධාන වශයෙන් ඡායාරූප ගන්න යනවා.



'-(으)러 가다/오다' අවබෝධ වුණා ද? එහෙම නම් උදාහරණයේ දැක්වෙන ආකාරයට දෙබස සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 '-(으)러 가다'를 사용해서 대화를 완성하세요.
පින්තූරදෙස බලා උදාහරණයේ දැක්වෙන ආකාරයට '-(으)러 가다/오다' යොදා දෙබස සම්පූර්ණ කරන්න.

보기



가: 시간이 있을 때 뭐 해요? වෙලාව තිබෙන වෙලාවට මොනවද කරන්නේ?
나: <u>축구하러 가요.</u> පාපන්දු ක්‍රීඩා කරන්න යනවා.

1) 

가: 시간이 있을 때 뭐 해요?
나: ______________________.

2) 

가: 시간이 있을 때 뭐 해요?
나: ______________________.

3) 

가: 시간이 있을 때 뭐 해요?
나: ______________________.

4) 

가: 시간이 있을 때 뭐 해요?
나: ______________________.

정답 1) 농구하러 가요 2) 테니스를 치러 가요 3) 골프를 치러 가요 4) 자전거를 타러 가요

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 친구들의 취미를 조사해 보세요.
උදාහරණයෙන් පෙන්වා දී ඇති ආකාරයට යහළුවන්ගේ විනෝදාංශ ගැන සොයා බලන්න.

보기

가: 리한 씨는 취미가 뭐예요? රිහාන්ගේ විනෝදාංශය මොකක්ද?
나: 제 취미는 요리예요. මගේ විනෝදාංශය ආහාර පිසීමයි.
가: 언제 요리해요? කොයි වෙලාවටද කෑම උයන්නේ?
나: 시간이 있을 때 가끔 요리해요. වෙලාව තිබෙන වෙලාවට කෑම උයනවා.

| | 이름 නම | 취미 විනෝදාංශ | 언제 කවද්ද |
|---|---|---|---|
| 보기 | 리한 | 요리<br>ආහාර පිසීම | 시간 있을 때 가끔<br>වේලාව තියෙන වෙලාවට සමහර විට |
| 1) | 투안 | 등산<br>කඳු නැගීම | 기분이 안 좋을 때<br>සතුටු නැති වෙලාවට |
| 2) | | | |
| 3) | | | |
| 4) | | | |
| 5) | | | |

## 퀴즈 ප්‍රහේලිකාව

✚ 다음 문장을 보고 생각나는 운동을 이야기해 보세요.
පහත වාක්‍ය දෙස බලා මතක් වන ක්‍රීඩාව කුමක් දැයි කියන්න.

공으로 하는 운동이에요. බෝලයකින් කරන ක්‍රීඩාවක් වෙයි.

공에 날개가 있어요. බෝලයට පිහාටු තිබේ.

두 사람 이상 할 수 있어요. දෙන්නෙකුට වැඩි පිරිසකට කරන්න පුළුවන් ක්‍රීඩාවක්.

정답 배드민턴

## 정보 තොරතුරු

# 취미 활동 프로그램

විනෝදාංශ වැඩසටහන්

각 지역의 복지관, 외국인근로자센터, 외국인력지원센터, 다문화지원센터 등에서는 외국인들의 즐거운 한국생활을 위해 다양한 교육 프로그램을 지원하고 있습니다. 한국어교육, 컴퓨터, 태권도 프로그램을 통하여 취미 활동을 즐길 수 있습니다.

සැම ප්‍රදේශයකම සුභසාධන මධ්‍යස්ථාන, විදේශීය කම්කරු මධ්‍යස්ථාන, විදේශීය මිනිස් ශ්‍රම මධ්‍යස්ථාන විදේශීය සංස්කෘතික මධ්‍යස්ථාන, වැනි විවිධ මධ්‍යස්ථාන මගින් විදේශිකයන්ට සතුටුදායක කොරියානු ජීවිතයක් ගත කිරීමට විවිධ අධ්‍යාපන වැඩසටහන් ක්‍රියාත්මක කරයි, කොරියානු භාෂාව, පරිගණක, තෙක්වොන්දො වැනි වැඩසටහන් මගින් විනෝදාංශ අත්දැකීම් ලබා ගැනිමට පුළුවන්.




한국어 수업

කොරියන් භාෂා පන්ති



컴퓨터 수업

පරිගනක පන්ති




태권도 수업

තෙක්වොන්දො පන්ති



요리 수업

ආහාර පිසීමේ පන්ති

## EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

අංක 1 සහ අංක 2 පින්තූර බලා ගැලපෙන වචනය තෝරන ප්‍රශ්න වේ. හොඳින් සවන් දී ඔබට ඇසුනු පිළිතුරු තොරන්න.

**[1~2] 다음 그림을 보고 알맞은 것을 고르십시오.**
පහත දැක්වෙන පින්තූර බලා නිවැරදි පිළිතුරු තෝරන්න.

Track 54

1.  ① ② ③ ④

2.  ① ② ③ ④

පහත දැක්වෙන්නේ හොඳින් සවන් දී ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්නය වේ. ප්‍රශ්නය ඇසීමට පෙර උත්තර එක් වරක් විමසා බලමු.

**[3~5] 질문을 듣고 알맞은 대답을 고르십시오.**
ප්‍රශ්නයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

3. ① 독서예요. ② 독서할래요.
   ③ 독서 안 해요. ④ 독서하고 싶어요.

4. ① 낚시하러 가요. ② 제 취미는 낚시예요.
   ③ 친구하고 같이 해요. ④ 시간이 있을 때 해요.

5. ① 일요일에 해요. ② 테니스 치러 가요.
   ③ 내일이 주말이에요. ④ 음악을 들을 때 기분이 좋아요.



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. ① 여: 독서 පොත් කියවීම　② 여: 낚시 මාළු ඇල්ලීම
   ③ 여: 여행 සංචාරය කිරීම　④ 여: 등산 කඳු නැගීම
2. ① 남: 축구 පාපන්දු　② 남: 농구 දැල්පන්දු
   ③ 남: 야구 බේස්බෝල්　④ 남: 수영 පිහිනීම
3. 여: 취미가 뭐예요? විනෝදාංශය කුමක්ද?
4. 남: 주로 언제 낚시를 해요? සාමාන්‍යයෙන් කොයිවෙලාවටද මාළු ඇල්ලීමට යන්නේ?
5. 여: 주말에 보통 뭐 해요? සති අන්තයේ සාමාන්‍යයෙන් මොනවද කරන්නේ?

정답 1. ② 2. ③ 3. ① 4. ④ 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස L-16

1. 이 사람은 무엇을 하고 있습니까? මෙම පුද්ගලයා කුමක් කරමින් සිටීද?



①　②　③　④

2. 대화를 듣고 질문에 알맞은 것을 고르십시오.
   සංවාදයට හොඳින් සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුර තෝරන්න.

   여자는 이번 주말에 무엇을 하겠습니까? මෙම සතිඅන්තයේ කාන්තාව කුමක්ද කරන්නේ?

   ① 기타를 배울 겁니다.　② 한국어를 가르쳐 줄 겁니다.
   ③ 일이 많아서 출근을 할 겁니다.　④ 휴게실에서 텔레비전을 볼 겁니다.

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. ① 남: 요리를 배워요. උයන්න පුරුදු වෙනවා.　② 남: 컴퓨터를 배워요. පරිගණකය පුරුදු වෙනවා.
   ③ 남: 태권도를 배워요. තෙක්වොන්දො පුරුදු වෙනවා.　④ 남: 한국어를 배워요. කොරියානු භාෂාව පුරුදු වෙනවා.
2. 여: 건우 씨, 요즘도 바빠요? කොන්වු මහත්මිය මේ දින වලත් කාර්යබහුලද?

   남: 어제까지 일이 많아서 좀 바빴어요. ඊයේ වෙනකල් වැඩ ගොඩක් තිබුන නිසා ටිකක් කාර්යබහුල වුණා.
   오늘부터 다음 주말까지는 별로 바쁘지 않아요. අද පටන් ඊලඟ සතිඅන්තය දක්වා කාර්යබහුල නැහැ.

   여: 그래요? 제가 기타를 배워 보려고 하는데 혹시 좀 가르쳐 줄 수 있어요?
   ඇත්තද? මම ගිටාර් ඉගෙන ගන්න කියලා පුලුවන්ද මට ටිකක් උගන්වන්න?

   남: 그럼요. 주말에 휴게실에서 만나요. 제가 가르쳐 드릴게요.
   නැත්නම්. සති අන්තයේදී විවේක කාමරයේදී මුණගැසෙමු. මම උගන්වන්නම්.

정답 1. ③ 2. ①

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



1 සිට 3 දක්වා ඇත්තේ පින්තූරය දෙස බලා පින්තූරයට ගැලපෙන වාක්‍ය තොරන ප්‍රශ්න වේ. පින්තූරයට ගැලපෙන වාක්‍ය තෝරන්න.

[1~2] 다음 그림을 보고 맞는 문장을 고르십시오. පහත පින්තූර බලා ගැළපෙන වාක්‍යය තෝරන්න.

1. 

① 피아노를 쳐요. ② 음악을 들어요.
③ 사진을 찍어요. ④ 외국어를 배워요.

2. 

① 축구해요. ② 수영해요.
③ 테니스를 쳐요. ④ 자전거를 타요.



පහත දැක්වෙන්නේ වාක්‍ය හෝ දෙබස් කියවා හිස්තැනට ගැලපෙන යෙදුම තෝරන ප්‍රශ්න වේ.

[3~5] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

3.
제 취미는 낚시예요. 저는 낚시가 정말 ________________. 그래서 시간이 있을 때 항상 낚시를 하러 가요.
මාළු ඇල්ලීම මගේ විනෝදාංශයයි. මම මාළු ඇල්ලීමට ගොඩක් කැමතියි. එමනිසා වෙලාව තිබෙන සෑම විටකම මාළු අල්ලන්න යනවා.

① 슬퍼요 ② 좋아요 ③ 맛있어요 ④ 재미없어요

4.
가: ______________________?
나: 전 주로 자전거를 타러 가요. මම නම් සාමාන්‍යයෙන් බයිසිකලය පදින්න යනවා.

① 왜 자전거를 타요 ② 주말에 보통 뭐 해요
③ 누구하고 자전거를 타요 ④ 이번 주말에 시간 있어요

5.
가: 무슨 _______________을 좋아해요? මොන ක්‍රීඩා වලටද කැමති?
나: 전 축구를 좋아해요. මම පාපන්දු වලට කැමතියි.

① 음식 ② 계절 ③ 요일 ④ 운동

정답 1. ③ 2. ④ 3. ② 4. ② 5. ④



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~2] 다음 그림을 보고 맞는 문장을 고르십시오. පහත පින්තූර බලා ඊට ගැළපෙන යෙදුම තෝරන්න.

1.



① 골프 ② 농구
③ 수영 ④ 축구

2.



① 스키 ② 테니스
③ 배드민턴 ④ 스케이트

[3~4] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

3.

제 취미는 등산입니다. 주말이면 자주 가까운 산으로 등산을 ________ 갑니다.
මගේ විනෝදාංශය කඳු නැගීමයි. සතිඅන්ත වලදී නිතරම අසල තිබෙන කඳු වලට යනවා.

① 하고 ② 하러 ③ 하면 ④ 해서

4.

저는 한국에 ________ 비행기를 탈 겁니다. 처음이라서 조금 무섭지만 재미있을 것 같습니다.
මම කොරියාවට යන විට ගුවන් යානයෙන් යන්නේ. පළමු වතාව නිසා ටිකක් බය හිතුනත් විනෝදජනක වෙයි වගේ.

① 가고 ② 가러 ③ 갈 때 ④ 간 후

정답 1. ② 2. ① 3. ② 4. ③

## 발음 උච්චාරණය P05

හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

'ර[r]' සහ 'ල[l]' උච්චාරණයන් දෙකටම කොරියනු භාෂාවේ ඇත්තේ 'ㄹ' අක්‍ෂරය පමණි. මෙම 'ㄹ' අක්ෂරය ස්වර අතර යෙදීමේදී [r] ලෙස උච්චාරණය කරන අතර, අක්ෂරාණු අග යෙදේ නම් [l] ලෙස උච්චාරණය කරයි.

(1) 다리, 우리, 노래, 소리
(2) 달, 말, 쌀, 솔, 하늘

# 17 휴가 때 제주도에 다녀올 거예요

## නිවාඩුවේ දී ජේජු දූපතට යන්න ඉන්නවා

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | සංචාරක අත්දැකීම් හා සැලසුම් පිළිබඳව කතා කිරීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | –아/어 보다, –(으)ㄹ 거예요 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | සංචාරක ස්ථාන, සංචාරය සඳහා සූදානම හා ක්‍රියාකාරකම් |
| ▫ සංස්කෘතික තොරතුරු | කොරියාවේ සංචාරක ස්ථාන |

## 대화 1 සංවාදය 1

Track 55



පහත දැක්වෙන්නේ රිහාන් හා තුවාන්ගේ දෙබස වේ. දෙදෙනාම දැන් සංචාරක අත්දැකීම් ගැන කතා කරමින් සිටියි. ප්‍රථමයෙන්ම දෙබස දෙවරක් අසා නැවත කියන්න.

투안 　리한 씨는 제주도에 가 봤어요?
රිහන් මහත්මා ජේජු දූපතට ගිහින් තියෙනවා ද?

리한 　네, 가 봤어요.
ඔව්, ගිහින් තියෙනවා.

투안 　제주도가 어땠어요? 좋았어요?
ජේජු දූපත කොහොම ද? හොඳ ද?

리한 　네, 정말 좋았어요.
ඔව්, ඇත්තටම හොඳයි.
특히 바다가 너무 아름다웠어요.
විශේෂයෙන්ම මුහුද ගොඩක් ලස්සනයි.

투안 　그래요? 저도 제주도에 가 보고 싶어요.
එහෙම ද? මටත් ජේජු දූපතට ගිහින් බලන්න ආසයි.

**특히** විශේෂයෙන්ම
වෙනත් ඒවාට වඩා ගොඩක් කැපී පෙනෙනවා

- 저는 운동을 좋아해요. 특히 축구를 좋아해요.
  මම ක්‍රීඩාවලට කැමතියි. විශේෂයෙන්ම පාපන්දුවලට කැමතියි.
- 한국 음식은 아주 맛있어요. 특히 비빔밥이 맛있어요.
  කොරියාවේ කෑම ගොඩක් රසවත්. විශේෂයෙන්ම පිබිම්බප් රසවත්.

**어땠어요?** කොහොම ද? (අතීතයේ සිදුවූ සිදුවීමක් පිළිබඳ විමසීමේදී)
අනෙක් පාර්ශවය දැනටම ලබා ගත් අත්දැකීම් ගැන හැඟීම් හා තත්ත්වය විමසීමේදී භාවිතා කෙරේ

- 가: 어제 구경한 집은 어땠어요?
  ඊයේ බලපු ගෙදර කොහොම ද?
- 나: 깨끗하고 좋았어요. 그런데 월세가 좀 비쌌어요.
  පිරිසිදුයි හොඳයි. ඒත් ගෙවල් කුලිය ටිකක් වැඩියි.



හොඳින් අසා අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 리한 씨는 어디에 가 봤어요? රිහාන් මහත්මයා කොහේද ගියේ?
2. 제주도가 어때요? ජේජු දූපත කොහොම ද?

정답 1. 제주도 2. 바다가 아름다워요.



## 어휘 1 වචන මාලාව 1 — 여행지 සංචාරක ස්ථාන

පහත දැක්වෙන්නේ සංචාරක ස්ථාන හා සබැඳි විවිධ වචන හා ප්‍රකාශයන් වේ.


산
කන්ද


동굴
ගුහාව


폭포
දිය ඇල්ල


호수
විල


강
ගඟ


바다
මුහුද


섬
දූපත



온천
උණුදිය උල්පත


유적지
පෞරාණික ස්ථාන


민속촌
අතීතයේ තිබූ ගම්මාන


놀이공원
විනෝද උයන


드라마 촬영지
නාට්‍ය රූගත කරන ස්ථානය


아름답다
ලස්සනයි


유명하다
ප්‍රසිද්ධයි


경치가 좋다
වටපිටාව හොඳයි


사람들이 친절하다
මිනිස්සු කරුණාවන්තයි

ඉහත වචන නොබලා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 그림에 맞는 표현을 〈보기〉에서 골라 넣으세요.
පින්තූරයට ගැලපෙන ප්‍රකාශය කොටුවෙන් තෝරා ලියන්න.


1)


2)


3)


4)

**보기**

아름답다
유명하다
경치가 좋다
사람들이
친절하다

정답 1) 사람들이 친절하다 2) 아름답다 3) 유명하다 4) 경치가 좋다

## 문법 1 ව්‍යාකරණ 1 -아/어 보다

G17-1

ක්‍රියා පදයක් හා සමග සම්බන්ධ වී උත්සාහයක් හෝ අත්දැකීමක් අර්ථවත් කරයි. කුමන ආකාරයේ හෝ ක්‍රියාවක් කිරීමට උත්සාහ කිරීමේදී '-아/어 봐요((-ලා බලනවා)' හෝ '-아/어 보세요(-ලා බලන්න)' යනුවෙන්ද, අත්දැකීමක් පිළිබඳ විස්තර කිරීමේදී '-아/어 봤어요(-ලා තියෙනවා)' යන ව්‍යුහය යොදාගනී. බලනවා (보다) යන ව්‍යුහය යොදාගනී.

| ㅏ, ㅗ → **-아 보다** | ㅓ, ㅜ, ㅣ ආදී → **-어 보다** | 하다 → **해 보다** |
|---|---|---|
| 가다 → **가 보다**<br>마시다 → 마**셔 보다** | 먹다 → 먹**어 보다**<br>읽다 → 읽**어 보다** | 공부하다 → 공부**해 보다**<br>운동하다 → 운동**해 보다** |

- 이 옷을 **입어 보세요.** මේ ඇඳුම ඇඳලා බලන්න.
- 가: 제주도에 **가 봤어요**? ජේජු දූපතට ගිහින් තියෙනවද?
  나: 네, **가 봤어요**. 아상카 씨도 한번 **가 보세요**.
  ඔව්. ගිහිල්ලා තියෙනවා. අසංක මහත්තයත් එක පාරක් ගිහිල්ලා බලන්න.
- 한국에 있을 때 여행을 많이 **해 보고 싶어요.** කොරියාවේ ඉන්න කාලයේ ගොඩාක් සංචාරය කරල බලන්න ඕන.



'-아/어 보다' අවබෝධ වුණා ද? එහෙම නම් උදාහරණයෙන් පෙන්වා දී ඇති ආකාරයට වාක්‍ය සම්පූර්ණ කරන්න.

2. 그림을 보고 〈보기〉처럼 '-아/어 보다'를 사용해서 문장을 완성하세요.
පින්තූරය බලා උදාහරණයේ පෙන්වා ඇති අයුරින් '-아/어 보다' භාවිතා කර වාක්‍ය සම්පූර්ණ කරන්න.

보기



제주도에 가 봤어요. ජේජු දූපතට ගිහින් බැලුවා.

1)  바다에서 ______________.

2)  불고기를 ______________.

3)  한복을 ______________.

4)  김치를 ______________.

정답 1) 수영해 봤어요 2) 먹어 봤어요 3) 입어 봤어요 4) 담가 봤어요

## 대화 2 සංවාදය 2

Track 56



තුවාන් හා සුරු මහත්වරුන් නිවාඩු සැලැස්ම පිළිබඳව කතා කරමින් සිටියි. මුලින්ම දෙබසට දෙවරක් සවන් දෙන්න. ඉන් පසුව දෙබස නැවත කියවන්න.

**이번 (지난 / 다음)**
මෙවර(ගියවර/ ඊට පසු)

ඉක්මනින් ම ළඟාවෙන කාලය 이번, ගත වූ කාලය දැක්වීමේ දී 지난, ඉදිරියට පැමිණෙන කාලය 다음 ලෙස ද භාවිතා කෙරේ.

- 이번 주말에 테니스를 치러 가요.
  මෙම සති අන්තයේ ටෙනිස් සෙල්ලම් කරනවා.
- 지난해에 한국에 왔어요.
  ගිය අවුරුද්දේ කොරියාවට ආවා.
- 다음 휴가에는 제주도에 갈 거예요.
  ලබන නිවාඩුවට ජේජු දූපතට යනවා.

투안 수루 씨, 이번 휴가 때 뭐 할 거예요?
සුරු මහත්මයා, මෙවර නිවාඩුවට මොකද කරන්න ඉන්නේ?

수루 친구하고 설악산에 갈 거예요.
යහළුවන් සමග සොරක් කන්දට යන්න ඉන්නවා.
투안 씨는 뭐 할 거예요?
තුවාන් මහත්මා මොකද කරන්න ඉන්නේ?

투안 저는 제주도에 다녀올 거예요.
මම ජේජු දූපතට යන්න ඉන්නවා.

수루 비행기 표는 샀어요?
ගුවන් ප්‍රවේශ පත්‍රය මිලදී ගත්තා ද?

투안 네, 숙소도 벌써 다 예약했어요.
ඔව්, නවාතැන් ගන්නා ස්ථානය දැනටමත් වෙන් කළා.

**N 때** විට

නාම පදයක් අගට යොදන අතර ක්‍රියාවක් සිදුවන වෙලාව දැක්වීමේ දී භාවිත කෙරේ.

- 오늘 점심 때 뭐 먹었어요?
  අද දහවල් කෑමට මොනවා ද කෑවේ?
- 방학 때 고향에 갈 거예요.
  නිවාඩුවට ගමට යනවා.



හොඳින් අසා අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 수루는 이번 휴가 때 뭐 할 거예요? සුරු මහත්මා මෙවර නිවාඩුවට මොකද කරන්න ඉන්නේ?
2. 투안은 휴가 때 어디에 갈 거예요? තුවාන් මහත්මා නිවාඩුවට කොහේද යන්න ඉන්නේ?

정답 1. 설악산에 갈 거예요. 2. 제주도

**Tip 숙소** නවාතැන්පළ


호텔
හෝටලය


콘도
නිවාඩු නිකේතනය



여관
මොටෙල්
(නවාතැන් ගන්නා ස්ථානයක්)



민박
තාවකාලිකව නවාතැන් ගත හැකි පෞද්ගලික නිවසක්


펜션
පෙන්ෂොන්
(නවාතැන් ගන්නා ස්ථානයක්)


유스호스텔
යොවුන් නේවාසිකාගාරය

## 어휘 2 වචන මාලාව 2 — 여행 준비와 활동 සංචාරය සඳහා සූදානම හා ක්‍රියාකාරකම්



සංචාරයක් සඳහා සූදානම් වීමේදී භාවිතා කරන ප්‍රකාශ හා විවේක කාලයේ කරන ක්‍රියාකාරකම් දැක්වෙන ප්‍රකාශයන් වේ. මොනවාගේ ප්‍රකාශනයන් ඇත්දැයි බලමු ද?




여행을 계획하다
සංචාරය සැලසුම් කරනවා

→



여행을 준비하다
සංචාරය සඳහා සූදානම් වෙනවා

→




표를 사다
ටිකට්පත් මිලදී ගන්නවා

→




숙소를 예약하다
නවාතැන් ගන්නා ස්ථානය වෙන් කරනවා



짐을 싸다
බඩු අසුරනවා

→




출발하다
පිටත් වෙනවා

→




도착하다
ළඟා වෙනවා

→



짐을 풀다
බඩු එළියට ගන්නවා



묵다
නවාතැන් ගන්නවා

→



박물관을 관람하다
කෞතුකාගාරය නරඹනවා

→




축제를 구경하다
උත්සවය නරඹනවා

→




기념품을 사다
සමරුම් භාණ්ඩ මිල දී ගන්නවා



ඔබ ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලන්න.

1. 그림에 맞는 표현을 〈보기〉에서 골라 넣으세요.
පින්තූරයට ගැලපෙන ප්‍රකාශ පහතින් තෝරා ලියන්න.











| 1) | 2) | 3) | 4) |
|---|---|---|---|
| | | | |

**보기** 표를 사다　　짐을 싸다　　기념품을 사다　　박물관을 관람하다

**정답** 1) 기념품을 사다　2) 박물관을 관람하다　3) 표를 사다　4) 짐을 싸다

## 문법 2 ව්‍යාකරණ 2 -(으)ㄹ 거예요

G17-2

ක්‍රියාපදයකට සම්බන්ධ වී අනාගතයේ සැලසුම් පිළිබඳව ප්‍රකාශ කරයි.

| 자음(ව්‍යාංජන) → **-을 거예요** | 모음 (ස්වරල) 자음 'ㄹ'(ව්‍යඤ්ජනය-ㄹ) → **-ㄹ 거예요** |
|---|---|
| 읽다 → 읽**을 거예요** | 자다 → **잘 거예요**<br>알다 → **알 거예요** |

- 가: 오늘 저녁을 어디에서 **먹을 거예요**? අද හවස කෑම කොහෙන්ද කන්නේ?
  나: 집에서 **먹을 거예요**. ගෙදරින් කනවා.
- 가: 이번 연휴에 뭐 **할 거예요**? මේ පාර නිවාඩුවට මොනවද කරන්නේ?
  나: 친구를 만나러 부산에 **갈 거예요**. යාළුවෙක් මුණගැහෙන්න බූසාන් වලට යනවා.

### 대조적 정보 වෙනත් තොරතුරු

සිංහල භාෂාවෙහි අනාගත කාල වාක්‍යවල අනාගතයේ සිදුවෙන්නාක් යන්න ප්‍රකාශ කිරීමට 'හෙට', 'ලබන සතිය' වැනි වචන යොදා ගැනුනද කොරියානු භාෂාවෙහි අනාගත කාලය හැඟවීමට අඛ්‍යාතයේ අගට '-(으)ㄹ 거예요' සම්බන්ධ කර ප්‍රකාශ කරනු ලැබේ.

- 다음 주부터 창고 정리를 **할 거예요**. ලබන සතියේ සිට ගබඩාව පිරිසිදු කිරීමට පටන් ගන්නම්.



'-(으)ㄹ 거예요' අවබෝධ වුණා ද? එහෙමනම් උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් දෙබස සම්පූර්ණ කරන්න.

**2. 그림을 보고 〈보기〉처럼 '-(으)ㄹ 거예요'를 사용해서 대화를 완성하세요.**

පින්තූරය බලා උදාහරණ ලෙස '-(으)ㄹ거예요' භාවිතා කර දෙබස සම්පූර්ණ කරන්න.

보기



가: 내일 뭐 할 거예요? හෙට මොකද කරන්නේ?
나: 집에서 <u>쉴 거예요</u>. ගෙදර දී විවේක ගන්නවා.

1) 

가: 내일 뭐 할 거예요?
나: 친구를 ____________________.

2) 


가: 주말에 뭐 할 거예요?
나: 부산에 ____________________.

3) 

가: 휴가 때 뭐 할 거예요?
나: 친구하고 같이 ________________.

4) 


가: 휴가 때 뭐 할 거예요?
나: 제주도에 ____________________.

정답 1) 만날 거예요 2) 갈 거예요 3) 여행 갈 거예요 4) 갈 거예요

# 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 친구와 이야기해 보세요.
උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් යහළුවන් සමග කතා කරන්න.

보기

가: 리한 씨는 어디에 가 봤어요? රිහාන් මහත්මා කොහේ ද ගිහින් තියෙන්නේ?
나: 제주도에 가 봤어요. ජේජු දූපතට ගිහින් තියෙනවා.
가: 어땠어요? කොහොම ද?
나: 경치가 정말 아름다웠어요. වටපිටාව ඇත්තටම ලස්සනයි.

| | 이름<br>නම | 어디에 가 봤어요?<br>කොහේ ද ගිහින් තියෙන්නේ? | 어땠어요?<br>කොහොමද? |
|---|---|---|---|
| 보기 | 리한 | 제주도<br>ජේජු දූපත | 경치가 정말 아름다웠어요<br>දර්ශන ඇත්තටම ලස්සනයි |
| 1) | 투안 | 부산<br>බුසාන් | 맛있는 음식이 많았어요<br>රසවත් කෑම ගොඩක් තිබුණා |
| 2) | | | |
| 3) | | | |
| 4) | | | |
| 5) | | | |

## 퀴즈 ප්‍රහේලිකාව

✚ 다음 단어를 보고 끝말잇기를 해 보세요.
පහත වචන බලා අවසානය වචන දම්වැල සම්පූර්ණ කර බලන්න.

지도 ➡ 도시 ➡ 시(　　) ➡ (　　)

정답 계 → 계획

## 정보 තොරතුරු

# 한국의 관광지
කොරියාවේ සංචාරක ස්ථාන


강원도
කංවොන්දෝ


속초
සොක්චෝ


강릉
කංලං


춘천
චුන්චොන්



서울 시티투어
සොවුල් නගර සංචාරය


63빌딩
63 වන ගොඩනැගිල්ල


한강 유람선
හන් ගඟේ සංචාරක යාත්‍රාව


경복궁
ක්‍යොංබුක්ගුං


경주
ක්‍යොංජු


불국사
බුල්ගුක්සා



서해안
සොහේඅන්


대천 해수욕장
තෙචොන්වල ඇති මුහුදු වෙරළ


부산
බුසාන්


해운대
හේවුන්දේ


제주도
ජේජු දූපත


한라산
හල්ලා කන්ද

**알아 두세요! 외국인력지원센터의 단체 여행**

දැන ගැනීම පිණිසයි! විදේශීය ශ්‍රමිකයන් සඳහා වන මධ්‍යස්ථාන මගින් ලබා දෙන සමූහ සංචාරක අවස්ථා

가까운 외국인지원센터나 외국인상담소의 여행 정보를 이용하면 저렴하고 재미있는 단체 여행 정보를 얻을 수 있습니다.

ළඟම ඇති විදේශීය ශ්‍රමිකයන් සඳහා වන මධ්‍යස්ථානයක හෝ විදේශිකයන් සඳහා ක්‍රියාත්මක වන උපදේශක මධ්‍යස්ථාන වෙතින් සංචාරක තොරතුරු භාවිතා කර අඩු මුදලකට විනෝදජනක සමූහ සංචාර පිළිබඳ තොරතුරු ලබා ගත හැකිය.

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

අංක 1 සහ අංක 2 පින්තූර බලා ගැලපෙන වචනය තෝරන ප්‍රශ්න වේ. හොඳින් සවන් දී ඔබට ඇසුනු පිළිතුරු තොරන්න.

**[1~2] 다음 그림을 보고 알맞은 것을 고르십시오.**
පහත දැක්වෙන පින්තූර බලා නිවැරදි පිළිතුරු තෝරන්න.

Track 57

1. 

① ② ③ ④

2. 

① ② ③ ④

පහත දැක්වෙන්නේ ප්‍රශ්නයට සවන් දී ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්න වේ. ප්‍රශ්නයට සවන්දීමට පෙර පිළිතුර එක් වරක් කියවා බලන්න.

**[3~5] 질문을 듣고 알맞은 대답을 고르십시오.**
ප්‍රශ්නයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

3. ① 네, 안 봤어요. ② 네, 가 봤어요.
③ 아니요, 보고 싶어요. ④ 아니요, 작년에 갔어요.

4. ① 작년에 갔어요. ② 많이 바빴어요.
③ 정말 아름다웠어요. ④ 친구하고 같이 갔어요.

5. ① 내일 할 거예요. ② 동생이 다녀올 거예요.
③ 제주도에 다녀올 거예요. ④ 시간이 있을 때 할 거예요.



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. 여: 투안 씨는 한국어 공부를 어떻게 해요? තුවාන් මහතා කොරියානු භාෂාව කොහොමද පාඩම් කරන්නේ?
2. 남: 모니카 씨, 저녁에 같이 학원에 다닐래요? මොනිකා මහත්මිය හවසට අමතර පන්තියකට යමුද?
3. 남: 개강이 언제예요? පන්ති පටන් ගන්නේ කවද ද?

4-5. 여: 여보세요. 한국어교육센터입니다. හලෝ, මේ කොරියානු භාෂා අධ්‍යාපන ආයතනයයි.
남: 저, 한국어능력시험 준비 과정이 있어요? කොරියානු ප්‍රවීනතා භාෂා විභාගයට සූදානම් වන පන්තියක් තිබෙනවද?
여: 네, 초급반하고 중급반이 있어요. ප්‍රාථමික පන්තිය සහ මධ්‍යම පන්ති තියෙනවා.
남: 초급반 수업은 몇 시에 해요? ප්‍රාථමික පන්තිය කීයටද තියෙන්නේ?
여: 토요일 오전 10시부터 오후 1시까지예요. සෙනසුරාදා උදේ 10 සිට හවස 1 වෙනකල් තියෙනවා.

정답 1. ② 2. ③ 3. ③ 4. ② 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස L-24

[1~2] 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන් දී ගැලපෙන පිළිතුර තෝරන්න.

1. ① 두 시에 할 거예요. ② 아주 안전할 거예요.
③ 내일 하기로 했어요. ④ 센터에서 하기로 했어요.

2. ① 네, 강의를 신청하고 싶어요. ② 네, 인터넷으로 물건을 사요.
③ 네, 저녁마다 강의를 들어요. ④ 네, 매일 인터넷 검색을 해요.

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 내일 안전 교육은 어디에서 해요? හෙට ආරක්ෂක පුහුණුව කොහෙද කරන්නේ?
2. 남: 흐엉 씨, 매일 인터넷으로 강의를 들어요? හඕං මහතා, ඔබ දිනපතාම අන්තර්ජාලය ඔස්සේ දේශන වලට සවන් දෙනවාද?

정답 1. ④ 2. ③

## 발음 උච්චාරණය P11

### හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

කොරියානු භාෂාවේ හල්කිරීම් ලෙස යෙදෙන ව්‍යඤ්ජන බොහොමයක් ඇතත් මේ අතරින් උච්චාරණය කරන ශබ්ද 7 ක් පමණක් වේ. හකු ඇටය සහ දිව තල්ල මගින් උච්චාරණය වන ව්‍යංජන වන ㄷ[t], ㅌ[th], ㅅ[s], ㅆ[s'], ㅈ[ʧ], ㅊ[ʧh], ආදී සියලු අක්ෂර හල් කිරීමේදී 'ㄷ(අද්)' ලෙස උච්චාරණය කෙරේ.

(1) 솥, 밭, 옷, 닫다, 돋보기, 있다
(2) 낫, 낮, 낯
(3) 빗, 빚, 빛
(4) 솥도 커요.
(5) 가게에는 옷도 있다.

## EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



1 සිට 3 දක්වා වාක්‍ය වලට ගැලපෙන යෙදුම තෝරන ප්‍රශ්න වේ. ඉහත ඉගෙනගත් ප්‍රකාශයන් සිහියට ගනිමින් විසඳා බලන්න.

[1~3] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

1.

가: __________이/가 언제예요? (වාරය අවසන්) වෙන්නේ කවදද?

나: 8월 30일에 끝나요. අගෝස්තු 30 වෙනිදා අවසන් වෙනවා.

① 수업 ② 일정 ③ 개강 ④ 종강

2.

가: 무슨 __________을 제일 좋아해요? මොන (විෂය)ටද වඩාත්ම කැමැති?

나: 역사를 제일 좋아해요. ඉතිහාසයට වඩාත්ම කැමතියි.

① 과목 ② 기관 ③ 교실 ④ 학원

3.

저는 매일 아침부터 저녁까지 회사에서 일을 합니다. 일이 끝나면 한국어를 배우러 학원에 갑니다. 일을 __________ 학원에 다니는 것은 힘들지만 일을 할 때 도움이 많이 됩니다.

මම හැමදාම උදේ සිට හවස් වනතුරු සමාගමේ වැඩ කරනවා. වැඩ අවසන් වු විට කොරියන් භාෂාව ඉගෙන ගැනීමට අමතර පන්තියට යනවා. වැඩ කරන ගමන් අමතර පන්තියට යන එක මහන්සි වුනත් වැඩ කරනකොට ගොඩක් ප්‍රයෝජනවත් වෙනවා.

① 하러 ② 하면서 ③ 했는데 ④ 하기로



පහත දැක්වෙන්නේ නිවේදන පත්‍රිකාවකි. කුමන අධ්‍යාපන වැඩ සටහන් තිබේද,පන්ති පවත්වන්නේ කවදාද, යන්න සිතා බලමින් ප්‍රශ්නයට පිළිතුරු සපයන්න.

[4~5] 다음 글을 읽고 물음에 답하십시오. පහත වාක්‍ය කියවා අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

**〈무료 한국어 교실 (4개월 과정)〉** <නොමිලේ කොරියන් භාෂා පන්තිය (මාස 4 ක පාඨමාලාව)>

| 시간/요일 වේලාව/ දවස | 토요일 සෙනසුරාදා | 일요일 ඉරිදා |
|---|---|---|
| 13:00~15:00 | 초급 ප්‍රාථමික | 중급 මධ්‍යම |
| 15:00~17:00 | 초급 ප්‍රාථමික | 고급 උසස් |

* 개강: 3월 1일 ආරම්භ කිරීම: මාර්තු 1වෙනිදා
* 신청: 센터 직접 방문 (2월 15일까지) අයදුම් කිරීම: අධ්‍යාපන ආයතනයට පැමිණ ලියාපදිංචි විය හැකිය (පෙබරවාරි 15 වැනිදා දක්වා)

4. 이 안내문의 내용과 다른 것을 고르십시오. මේ දැන්වීමේ අන්තර්ගතය හා වෙනස් යෙදුම් තෝරන්න.

① 수업료를 안 내도 됩니다. ② 3월에 신청할 수 있습니다.
③ 센터에 가서 신청해야 합니다. ④ 4개월 동안 한국어를 배웁니다.

5. 한국어 중급 수업은 언제 있습니까? කොරියානු භාෂා මධ්‍යම පන්තිය කවද ද තියෙන්නේ?

① 토요일 오후 1시~3시 ② 토요일 오후 3시~5시
③ 일요일 오후 1시~3시 ④ 일요일 오후 3시~5시

정답 1. ④ 2. ① 3. ② 4. ② 5. ③



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~2] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත්ම ගැලපෙන පිළිතුර තෝරන්න.

1.

저는 드라마를 이용해서 한국어 공부를 합니다. 한국 드라마를 ________ 한국어를 공부하면 더 재미있게 공부할 수 있어서 좋습니다.

මම කොරියානු නාට්‍යය බැලීම තුළින් කොරියානු භාෂාව ඉගෙන ගන්නවා. කොරියානු නාට්‍යය නරඹන ගමන් කොරියානු භාෂාව ඉගෙන ගන්නේ නම්, වැඩි විනෝදයකින් ඉගෙන ගත හැකි නිසා හොඳයි.

① 보면서 ② 보든지 ③ 보거든 ④ 보니까

2.

지난달부터 한국어를 배우기 시작했습니다. 수업이 끝나면 CD를 ________ 복습을 합니다.

පසුගිය මාසයේ සිට කොරියානු භාෂාව ඉගෙන ගැනීමට පටන් ගත්තා. පන්ති අවසානයේ දී CD අසමින් පුණරීක්ෂණය කරනවා.

① 찾지만 ② 찾으면서 ③ 듣지만 ④ 들으면서

[3~4] 다음 글을 읽고 무엇에 대한 글인지 고르십시오.

පසුගිය මාසයේ සිට කොරියානු භාෂාව ඉගෙන ගැනීමට පටන් ගත්තා. පන්ති අවසානයේ දී ක (අසමින්) පුණරීක්ෂණය කරනවා.

3.

저는 토요일마다 외국인력지원센터에서 한국어를 공부합니다. 집에 와서 수업 시간에 배운 단어와 문법을 복습하고 모르는 것이 있으면 한국인 동료에게 물어봅니다. 이렇게 하다 보니 한국어 실력이 빨리 좋아지는 것 같습니다.

සැම සෙනසුරාදා දිනකම විදේශීය කම්කරු උපදේශන මධ්‍යස්ථානයේදී කොරියානු භාෂාව ඉගෙන ගන්නවා. ගෙදර පැමිණ පන්තියේ ඉගෙනගත් වචන හා ව්‍යාකරණ පුණරීක්ෂණය කර නොදන්නා දේ තිබුණේ නම් කොරියානු මිතුරන්ගෙන් අසා බලනවා. මෙසේ කරලා බැලූ බැවින් කොරියානු භාෂා හැකියාව ඉක්මනින් හොඳවෙමින් පවතිනවා වගේ.

① 한국어 센터 소개 ② 한국어 공부 방법 ③ 한국어 수업 시간 ④ 한국어 과목 안내

4.

이번 주 금요일 다섯 시에 강당에서 안전 교육이 있습니다. 지난 상반기 교육을 받지 않은 분들은 반드시 참석해 주시기 바랍니다. 교육 시간은 약 두 시간 정도입니다.

මෙම සිකුරාදා පෙ.ව. 5 ට ශ්‍රවනාංණාගාරයේදී/දේශනාගාරයේදී ආරක්ෂක පාඨමාලාවක් පවතී. අවුරුද්දේ පළමු භාගයේදී පාඨමාලාව නොලද අයගේ අනිවාර්යය සහභාගීත්වය බලාපොරත්තු වනු ඇත. පාඨමාලා කාලය පැය දෙකක් පමණ වේ.

① 교육 과정 ② 교육 안내 ③ 교육 과목 ④ 교육 신청

정답 1. ① 2. ④ 3. ② 4. ②

# 25 일요일마다 교회에 가요

සෑම ඉරිදාවක් පාසා පල්ලි යනවා

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | වාර ගණන ප්‍රකාශ කිරීම, ප්‍රාර්ථනාවක් පිළිබඳ ප්‍රකාශ කිරීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | 마다, –았으면/었으면 좋겠다 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | ආගම්, ආගමික ක්‍රියාකාරකම් |
| ▫ සංස්කෘතික තොරතුරු | ආගම් ආශ්‍රිත උත්සව |

## 대화 1 සංවාදය 1

Track 79



මියොං මහත්මියට හා ලිලී මහත්මියට ආගමක් තිබේද? දෙදෙනාගේ ආගම් මොනවාද යන්න ප්‍රථමයෙන් දෙබසට දෙවරක සවන් දී දැනගන්න. ඉන්පසුව අනුගමනය කරමින් කියවන්න.

미영 리리 씨, 일요일에 뭐 해요? 오후에 같이 쇼핑 갈래요?
ලිලී මහත්මිය ඉරිදාට මොකද කරන්නේ?
හවස් වරුවේ එකට සාප්පු සවාරි යමු ද?

리리 미안해요. 일요일에는 교회에 가야 돼요.
සමාවෙන්න. ඉරිදාට නම් පල්ලි යන්න ඕනේ.

미영 리리 씨, 교회에 다녀요?
ලිලී මහත්මිය පල්ලි යනවාද?

리리 네, 일요일마다 교회에 가요.
그런데 미영 씨는 종교가 있어요?
ඔව්, සෑම ඉරිදාවක් පාසා පල්ලි යනවා.
ඒත් මියොං මහත්මියට ආගමක් තියෙනවා ද?

미영 부모님이 불교 신자라서 저도 어릴 때는 절에 다녔어요. 그런데 요즘은 바빠서 잘 안 가요.
දෙමාපියෝ බෞද්ධාගමිකයෝ වන නිසා මමත් කුඩා කාලයේ පන්සල් ගියා. ඒත් මේ දවස්වල කාර්යය බහුල නිසා නිතර යැවෙන්නේ නෑ.

> **에는**
> වෙලාව හෝ ස්ථානය වාක්‍යයේ තේමාව බවට පත් වීමේ දී භාවිතා වේ.
> · 이번 여름에는 고향에 갈 거예요.
> මෙවර ග්‍රීෂ්ම නිවාඩුවට ගමේ යන්න ඉන්නවා.
> · 고향에는 부모님과 동생들이 살고 있어요.
> ගමේ දෙමාපියෝ සහ බාල සහෝදර/සහෝදරියන් ජීවත් වෙමින් ඉන්නවා.

> **(이)라서**
> නාම පදයක් සමඟ යෙදෙන අතර මුලින් දැක්වෙන අන්තර්ගතය පිටුපසින් දැක්වෙන සිදුවීමේ හේතුව යන්න දැක්වීමේදී භාවිතා වේ.
> · 내일부터 휴가라서 회사에 안 가요.
> හෙට ඉඳන් නිවාඩු නිසා සමාගමට යන්නේ නෑ.
> · 학생이라서 열심히 공부해야 해요.
> ශිෂ්‍යයෙක් නිසා උනන්දුවෙන් ඉගෙන ගන්න ඕනේ.



හොඳින් සවන් දී අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 리리 씨는 일요일마다 뭐 해요? ලිලී මහත්මිය හැම ඉරිදාකම මොකද කරන්නේ?
2. 미영 씨는 요즘에도 절에 다녀요? මියොං මහත්මිය මේ දවස්වලත් පන්සල් යනවද?

정답 1. 일요일마다 교회에 가요. 2. 아니요, 어릴 때는 다녔는데 요즘은 바빠서 잘 안 가요.



# 어휘 1 වචන මාලාව 1 종교 ආගම



ආගමක් තිබේ ද? තිබේ නම් කුමන ආගමිකයෙක් ද? ආගම හා සම්බන්ධ වචන මොනවාදැයි දැන ගනිමුද?



불교
බෞද්ධාගම



기독교
ක්‍රිස්තියානි ආගම



천주교(가톨릭)
කතෝලික ආගම



이슬람교
ඉස්ලාම් දහම



절
පන්සල



교회
පල්ලිය



성당
කතෝලික පල්ලිය



사원(모스크)
මුස්ලිම් පල්ලිය



스님
ස්වාමීන් වහන්සේ



목사님
පූජකතුමා



신부님
මලවිතුමා



이맘
මුස්ලිම් පූජකතුමා



ඉහත වචන දැක්වෙන කොටස නොබලා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 그림을 보고 빈칸에 알맞은 단어를 쓰세요. පින්තූරය බලා හිස්තැනට ගැලපෙන වචන ලියන්න.

| | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|
| 불교 |  | 절 |  | 1) | 천주교 |  | 2) |  | 신부님 |
| 기독교 |  | 교회 |  | 3) | 이슬람교 |  | 4) |  | 이맘 |

정답 1) 스님 2) 성당 3) 목사님 4) 이슬람 사원(모스크)

# 문법 1 ව්‍යාකරණ 1 마다

G25-1

වේලාව හඟවන නාමපදයකට පසුව සම්බන්ධ වන අතර එක්තරා ක්‍රියාකාරකමක් එම වේලාව උදා වූ විට නැවත සිදුවන බව අදහස් වේ.

- 가: 보통 주말에는 무엇을 하세요? සාමාන්‍යයෙන් සති අන්තයේදී මොනවද කරන්නේ?
  나: **주말마다** 공원에서 자전거를 타요. සති අන්තයක් පාසා උද්‍යානයේ බයිසිකල් පදිනවා.
- 매년 **방학마다** 우리 가족은 여행을 가요. සෑම වසරකම නිවාඩුවට අපේ පවුලේ අය චාරිකාවක් යනවා.
- 출퇴근 시간에는 지하철이 삼 **분마다** 와요.
  වැඩට යන එන වෙලාවේදී සෑම විනාඩි 3 ක් පාසා උමං දුම්රියක් පැමිණේ.



'마다' පිළිබඳව අවබෝධ වුණා ද? දින දර්ශනය හා කාල සටහන බලා දෙබස සම්පූර්ණ කරන්න.

2. 다음 표를 보고 '마다'를 사용해서 대화를 완성하세요.
   පහත වගුව බලා '마다' භාවිතා කර දෙබස සම්පූර්ණ කරන්න.

1) 


가: 수진 씨는 언제 교회에 가요?
   සුජින් මහත්මිය කවදාටද පල්ලියට යන්නේ?
나: ______________________ 가요.

2) 


가: 투안 씨는 매일 한국어를 공부해요?
   තුවාන් මහත්මා හැමදාම කොරියන් භාෂාව පාඩම් කරනවා ද?
나: 네, ______________________ 공부해요.

3) 


가: 지하철이 몇 분마다 와요? උමං දුම්රිය විනාඩි කීයකට වරක්ද ධාවනය වන්නේ?
나: ______________________ 와요.

정답 1) 일요일마다 2) 날마다 3) 10분마다



තව ටිකක් පාඩම් කරමුද? '마다' භාවිතා කර දෙබස සම්පූර්ණ කරන්න.

| 아침 | 이십 분 |
|---|---|

1. 가: 매일 신문을 읽어요?
   나: 네, ____________________ 읽어요.

2. 가: 버스가 자주 와요?
   나: 아니요, ____________________ 와요.

정답 1. 아침마다 2. 이십 분마다

## 대화 2 සංවාදය 2

Track 80



කොන්චු හා අදිත් මහත්මා ඉස්ලාම් පල්ලිය ඉදිරිපස දී අහඹු ලෙස හමුවුණා. දෙදෙනා කුමක් පිළිබඳව කතා කරන්නේ ද? ප්‍රථමයෙන් දෙබසට දෙවරක් සවන් දී අනුගමනය කරන්න.

건우 아딧 씨, 여기 웬일이에요?
අදිත් මහත්මයා. මෙහේ ආපු කාරණය මොකක්ද?

아딧 여기 이슬람 사원에 기도하러 왔어요.
මෙතැන ඉස්ලාම් පල්ලියට යාච්ඤා කරන්න යනවා.

건우 오늘은 금요일이 아닌데 오늘도 예배를 드려요?
අද සිකුරාදා නෙමෙයි. ඒත් අදත් තේවාව කරනවා ද?

아딧 예배는 없는데 아버지가 좀 편찮으셔서 시간이 있을 때마다 와서 기도해요.
තේවාව නැති වුනත් තාත්තාට ටිකක් අසනීප නිසා වෙලාව තියෙන විට ඇවිත් යාච්ඤා කරනවා.

건우 아버지가 빨리 좋아지셨으면 좋겠네요. 저도 기도할게요.
තාත්තාට ඉක්මනට හොඳ වුණොත් හොඳයි. මමත් යාච්ඤා කරන්නම්.

**웬일이에요?** කාරණය මොකක්ද?
අනෙක් පාර්ශවයේ ක්‍රියාවන් අනුමාන කළ නොහැකි අනුමානයන් දැක්වේ.
- 가: 여기는 웬일이에요?
  මෙහේ ආපු කාරණය මොකක්ද?
  나: 동생 생일 선물을 사러 왔어요.
  බාල සහෝදරයා/සහෝදරියට උපන්දින තෑග්ගක් මිලට ගැනීමට ආවා.

**-(으)ㄹ 때마다**
'-(으)ㄹ 때' + '마다' එකතු වීමකදී මුල් වාක්‍යයේ ක්‍රියාව හෝ තත්ත්වය කෙරෙන හෝ සිදුවෙන වාරයක් පාසා සිදු වේ යන්න දැකවීමේදී භාවිතා කරයි.
- 저는 피곤할 때마다 커피를 마셔요.
  මම මහන්සි වන සෑම විටකදීම කෝපි බොනවා.



හොඳින් සවන් දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 건우 씨와 아딧 씨는 어디에서 만났어요?
   කොන්චු මහත්මා හා අජිත් මහත්මා කොහේදීද මුණ ගැසුණේ ?
2. 아딧 씨는 왜 이슬람 사원에 왔어요? අදිත් මහත්මයා ඇයි මුස්ලිම් පල්ලියට ආවේ?

정답 1. 두 사람은 이슬람 사원에서 만났어요. 2. 아버지가 좀 편찮으셔서 기도하러 왔어요.

### Tip 격음화 මහාප්‍රාණ

හල්කිරීම් 'ㄱ, ㄷ, ㅂ, ㅈ' පිටුපසට 'ㅎ' පැමිණීම හෝ හල්කිරීම් 'ㅎ' පිටුපසට 'ㄱ, ㄷ, ㅂ, ㅈ' පැමිණෙන්නේ නම් [ㅋ, ㅌ, ㅍ, ㅊ] ලෙස උච්චාරණය වේ.

| 받침 ㄱ, ㄷ, ㅂ, ㅈ, + ㅎ → [ㅋ, ㅌ, ㅍ, ㅊ] | 받침 ㅎ + ㄱ, ㄷ, ㅂ, ㅈ → [ㅋ, ㅌ, ㅍ, ㅊ] |
|---|---|
| 예) 입학[이팍], 축하해요[추카해요] | 예) 좋겠어요[조케써요], 그렇지요[그러치요] |

## 어휘 2 වචන මාලාව 2 　 종교 활동 ආගමික ක්‍රියාකාරකම්



ආගමික උත්සව හා සම්බන්ධ යෙදුම් මොනවාද යන්න විමසා බලමුද?



믿다
විශ්වාස කරනවා



기도하다
යාච්ඤා කරනවා/
නමස්කාර කරනවා




신자(교인)
බැතිමතා



예불을 드리다
වැඳුම් පිදුම් කරනවා
(බෞද්ධාගමෙහි)



예배를 드리다
තේවාව කරනවා



미사를 드리다
දේව මෙහෙය




찬불가/성가를 부르다
ගීතිකා ගායනා කරනවා



불전/헌금을 내다
පඬුරු/දානවා



성지 순례를 가다
වන්දනාවේ යනවා




불경
ත්‍රිපිටකය




성경
බයිබලය




코란
කුරානය



ඔබ ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림을 보고 알맞은 말을 연결하세요. පින්තූරය බලා ගැලපෙන වචනය සම්බන්ධ කරන්න.

①  ②  ③  ④  ⑤ 

㉠ 불전/헌금을 내다 ㉡ 성가를 부르다 ㉢ 기도하다 ㉣ 믿다 ㉤ 성지 순례를 가다

정답 ① ㉢ ② ㉡ ③ ㉣ ④ ㉤ ⑤ ㉠

## 문법 2 ව්‍යාකරණ 2 -았으면/었으면 좋겠다

G25-2

ක්‍රියා පද සහ විශේෂණ පදයකට සම්බන්ධ වන අතර මින් බලාපොරොත්තුවක් හෝ ප්‍රාර්ථනාවක් පිළිබඳව අදහස් වේ.

- 가: 투안 씨는 올해 소원이 뭐예요? තුආන් මහතා, මේ වසරේ ප්‍රාර්ථනාව කුමක්ද?
  나: 저는 돈을 많이 **벌었으면 좋겠어요**. මට මුදල් ගොඩක් උපයන්න පුළුවන් වුනොත් හොඳයි.
- 날씨가 너무 더워요. 시원한 물 한 잔 **마셨으면 좋겠어요**.
  දේශගුණය බොහොම රස්නෙයි. සිසිල් ජල වීදුරුවක් බොන්න තිබුනොත් හොඳයි.
- 우리 가족이 항상 **건강했으면 좋겠다**. අපේ පවුලේ අය සැමවිටම නිරෝගීව ඉන්නවා නම් හොඳයි.



'-았으면/었으면 좋겠다' පිළිබඳව අවබෝධ වුණාද? එහෙනම් උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් ගැලපෙන ප්‍රකාශ තෝරා වාක්‍ය සම්පූර්ණ කරන්න.

2. 빈칸에 맞는 표현을 〈보기〉에서 골라 '-았으면/었으면 좋겠다'를 사용해서 문장을 완성하세요.
   හිස්තැනට ගැලපෙන ප්‍රකාශ කොටුවෙන් තෝරා '-았으면/었으면 좋겠다' භාවිතා කර වාක්‍ය සම්පූර්ණ කරන්න.

1) 내일 제주도로 여행을 갈 거예요. 제주도 날씨가 ______________________.

2) 제 소원은 가족이 건강한 것이에요. 우리 가족이 모두 ______________________.

3) 사람들이 식당에서 담배를 안 ______________________.

보기 피우다 건강하다 좋다

정답 1) 좋았으면 좋겠어요 2) 건강했으면 좋겠어요 3) 피웠으면 좋겠어요



තව ටිකක් පාඩම් කරමුද? '-았으면/었으면 좋겠다' භාවිතා කරමින් වාක්‍යය සම්පූර්ණ කර බලන්න.

한국어를 잘하다 빨리 밥을 먹다 좀 쉬다

1. 어제 늦게까지 일을 해서 피곤해요. 내일은 ______________________.
2. 아침을 못 먹어서 배가 너무 고프네요. ______________________.
3. 일 년 동안 한국어를 배웠지만 잘 못해요. ______________________.

정답 1. 좀 쉬었으면 좋겠어요 2. 빨리 밥을 먹었으면 좋겠어요 3. 한국어를 잘했으면 좋겠어요

## 활동 ක්‍රියාකාරකම්

〈보기〉처럼 이야기해 보세요. උදාහරණ ලෙස කතා කරන්න.

보기



이슬람교
ඉස්ලාම් ආගම



금요일
සිකුරාදා

가: 리리 씨는 종교가 있어요?
ලිලී මහත්මියට ආගමක් තියෙනවද?
나: 네, 저는 이슬람교 신자예요.
ඔව්. මම ඉස්ලාම් ආගමික බැතිමතෙක්.
가: 이슬람 사원에 자주 가요?
මුස්ලිම් පල්ලියට නිතරම යනවද?
나: 네, 금요일마다 가요.
ඔව්. හැම සිකුරාදාවකම යනවා.

1)



천주교 කතෝලික



주말 සති අන්ත

2)



불교 බෞද්ධාගම



토요일 සෙනසුරාදා

3)



기독교 ක්‍රිස්තියානි ආගම



시간이 있을 때
වෙලාව තියෙන විට

정답 1) 가: 리리 씨는 종교가 있어요?
나: 네, 저는 천주교 신자예요.
가: 성당에 자주 가요?
나: 네, 주말마다 가요.

2) 가: 리리 씨는 종교가 있어요?
나: 네, 저는 불교 신자예요.
가: 절에 자주 가요?
나: 네, 토요일마다 가요.

3) 가: 리리 씨는 종교가 있어요?
나: 네, 저는 기독교 신자예요.
가: 교회에 자주 가요?
나: 네, 시간이 있을 때마다 가요.

# 종교 행사 ආගමික උත්සවය



## 석가탄신일 වෙසක් දිනය

석가탄신일은 부처님이 태어나신 것을 기념하는 날입니다. 한국에서는 음력 4월 8일을 석가탄신일로 정했는데 이날은 국가 공휴일이라서 학교나 회사에 가지 않아도 됩니다. 석가탄신일이 가까워지면 불교 신자들은 집이나 절에서 등을 만들어서 나무에 매달고 석가탄신일 저녁에 등에 불을 밝힙니다.

වෙසක් දිනය යනු බුදුරජාණන් වහන්සේගේ උපත සමරන දිනයයි. චන්ද්‍ර මාස ක්‍රමයට අනුව අප්‍රේල් මස 8 වන දින කොරියාවේ වෙසක් දිනය වේ. මෙදින ජාතික නිවාඩු දිනයක් වන බැවින් පාසල් හෝ සමාගම්වලට සේවයට නොයයි. වෙසක් දිනය ළගාවෙත්ම බෞද්ධාගමික බැතිමතුන් නිවසේදී හා පන්සලේදී වෙසක් කූඩු සදා ගස්වල එල්ලා වෙසක් දිනයේ හවස් වරුව කූඩු වලින් ආලෝකමත් කරයි.



## 크리스마스 නත්තල්

크리스마스는 천주교와 기독교의 가장 큰 행사 중의 하나로 예수님이 태어나신 것을 기념하는 날입니다. 그러나 현재는 종교가 없는 사람들도 크리스마스를 축제처럼 즐깁니다. 12월이 되면 사람들은 크리스마스트리를 만들고 카드를 주고받습니다. 그리고 아이들에게는 크리스마스 선물을 주기도 합니다.

නත්තල් දිනය යනු කතෝලික හා ක්‍රිස්තියානි ආගමිකයින් සමරන උත්සව අතරින් වඩාත් සුවිශේෂී උත්සවය වන ජේසුතුමන්ගේ උත්පත්තිය සමරන දිනය වේ. නමුත් වර්තමානයේ ආගමක් නොමැති පුද්ගලයන් වුවත් නත්තල උත්සවයක් ලෙස සමරනු ලබනවා. දෙසැම්බර් මාසය වන විට මිනිසුන් නත්තල් ගස් සාදා සුභ පැතුම් කාඩ් ලබා දීමත් ගැනීමත් සිදු කරනවා. ඒ වගේ ම ළමයින්ට නත්තල් තෑගි දීමත් සිදු කරනවා.



## 부활절 පාස්කු ඉරිදා

부활절은 예수님이 부활하신 것을 기념하는 날입니다. 천주교나 기독교 신자들은 이날 달걀에 예쁜 그림을 그려서 서로 나누어 먹습니다. 달걀은 새로운 생명이 태어나는 것을 의미하기 때문에 부활절에 달걀을 먹기 시작했다고 합니다.

පාස්කු ඉරිදා යනු ජේසුතුමන්ගේ උත්ථානය සමරනු ලබන දිනය වේ. කතෝලික හා ක්‍රිස්තියානි බැතිමතුන්ය මෙම දිනයේ දී බිත්තර ලස්සනට සරසලා එකිනෙකාට බෙදා දී කෑමට ගනයි. බිත්තරය නව ජීවයක ආරම්භය යන අරුත් ඇති බැවින් පාස්කු ඉරිදා බිත්තර කෑමෙන් නව ජීවයක ආරම්භය සිඳුවනවා යැයි පවසයි.



## 라마단 රාමාසාන්

라마단은 아랍어로 '더운 달'이라는 뜻으로 이슬람에서는 9번째 달인 9월을 말합니다. 이슬람교에서는 9월을 '코란'이 내려진 신성한 달로 여기는데 한 달 동안 해가 떠 있는 낮 시간에는 음식과 물을 먹지 못합니다. 그리고 이 기간에는 코란을 읽고 특별 예배를 하는 등 절제를 해야 합니다.

රාමදාන්, අරාබි භාෂාවෙන් උණුසුම් මාසය යන අර්ථය ගන්නා අතර ඉස්ලාම් දහමේ 9වන මස වන සැප්තැම්බර් මාසය හඳුන්වයි. ඉස්ලාම් දහමේ සැප්තැම්බර් මාසයේ ශුද්ධ වූ කුරාණයේ මාසය ලෙස විශ්වාස කරන අතර මාසයක් පුරා හිරු නැගී තිබෙන දහවල් කාලයේ කෑම හා වතුර පානය නොකර සිටියි. එමෙන්ම මේ කාලය තුළ කුරාණය කියවීම මෙන් විශේෂිත වූ දේව මෙහෙයන් ආදී වතාවත් කරනු ලබයි.

## EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

1 සිට 3 දක්වා ඇත්තේ පින්තූරය දෙස බලා ගැළපෙන පිළිතුර තෝරන ප්‍රශ්නය වේ. ශ්‍රවණයට ප්‍රථමයෙන් ප්‍රශ්න කියවා බලන්න.

[1~3] 다음 그림을 보고 알맞은 대답을 고르십시오.
පහත පින්තූර දෙස බලා ගැලපෙන පිළිතුර තෝරන්න.

Track 81

1. 
이 사람은 어디에 다닙니까? මේ පුද්ගලයා කොහේද යන්නේ?
① ② ③ ④

2. 
이 사람은 무엇을 합니까? මේ පුද්ගලයා මොකද කරන්නේ?
① ② ③ ④

3. 
이 사람은 누구입니까? මේ පුද්ගලයා කවුද?
① ② ③ ④

පහත දැක්වෙන්නේ ගැළපෙන පිළිතුර තෝරන ප්‍රශ්නය වේ. ශ්‍රවණයට ප්‍රථමයෙන් පිළිතුර කියවා බලන්න.

[4~5] 질문을 듣고 알맞은 대답을 고르십시오.
ප්‍රශ්නයට සවන් දී නිවැරදි පිළිතුර තෝරන්න.

4. ① 일요일마다 가요.
② 오늘은 일요일이에요.
③ 주말에는 집에서 쉬어요.
④ 성당에서 미사를 드려요.

5. ① 성경을 읽으세요.
② 저는 불교 신자예요.
③ 저는 매일 기도해요.
④ 성지 순례를 갔다 왔어요.



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. ① 남: 절에 다닙니다. පන්සලට යනවා.
   ② 남: 성당에 다닙니다. කතෝලික පල්ලියට යනවා.
   ③ 남: 교회에 다닙니다. පල්ලියට යනවා.
   ④ 남: 이슬람 사원에 다닙니다. මුස්ලිම් පල්ලියට යනවා.
2. ① 여: 기도를 합니다. යාච්ඤා කරනවා.
   ② 여: 코란을 읽습니다. කුරානය කියවනවා.
   ③ 여: 찬송가를 부릅니다. ගීතිකා ගායනා කරනවා.
   ④ 여: 성지 순례를 갑니다. වන්දනා ගමන් යනවා.
3. ① 남: 스님입니다. ස්වාමීන් වහන්සේ වේ.
   ② 남: 신부님입니다. මලවිතුමා වේ.
   ③ 남: 목사님입니다. පූජකතුමා වේ.
   ④ 남: 이맘입니다. මුස්ලිම් පූජකතුමා වේ.
4. 남: 모니카 씨는 언제 성당에 가요? මොනිකා මහත්මිය කවදා පල්ලියට යනවද?
5. 여: 민수 씨는 종교가 뭐예요? මින්සු මහත්මයාගේ ආගම මොකක්ද?

정답 1. ② 2. ① 3. ① 4. ① 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස L-25

[1~2] 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන් දී ගැලපෙන පිළිතුර තෝරන්න.

1. ① 한국에 가고 싶어요. ② 일을 해 본 적이 있어요.
   ③ 한국에서 일을 하고 싶어요. ④ 제조업 일을 했으면 좋겠어요.

2. ① 네, 퇴근하고 매일 해요. ② 네, 피곤해서 주말에는 쉬어요.
   ③ 아니요, 좋아해서 자주 해요. ④ 아니요, 친구하고 운동을 할까 해요.

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 한국에 가면 어떤 일을 하고 싶으세요? කොරියාවට ගියහොත් කුමන රැකියාවක් කරන්නද කැමති?
2. 남: 건우 씨는 저녁마다 운동을 해요? කොන්වු මහතා හවස් වරුවක් පාසාම ව්‍යායාම කරනවාද?

정답 1. ④ 2. ①

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



1 සිට 2 දක්වා ඇත්තේ පින්තූරය දෙස බලා ගැලපෙන වාක්‍ය තෝරන ප්‍රශ්නය වේ. මුලින්ම ඉගෙන ගත් වචන මතක් කරමින් පිළිතුරු සපයන්න.

[1~2] 다음 그림을 보고 알맞은 문장을 고르십시오. පහත පින්තූර දෙස බලා ගැලපෙන වාක්‍ය තෝරන්න.

1. 

① 절입니다.
② 성당입니다.
③ 사원입니다.
④ 교회입니다.

2. 


① 헌금을 내고 있습니다.
② 성경을 읽고 있습니다.
③ 예불을 드리고 있습니다.
④ 찬송가를 부르고 있습니다.



පහත දැක්වෙන්නේ ආගමික ක්‍රියාකාරකම් හා සම්බන්ධ ඡේදයි. ඉගෙන ගත් වචන හා ව්‍යාකරණ මතක් කරමින් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

[3~5] 다음 질문에 답하십시오. පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

3. 이 사람은 종교가 무엇입니까? මේ පුද්ගලයාගේ ආගම මොකක්ද?

아딧 씨는 인도네시아 사람입니다. 하루에 5번씩 기도를 드립니다. 시간이 나면 이태원에 있는 사원에 갑니다. 코란을 열심히 읽고 공부합니다.

අදිත් මහත්මා ඉන්දුනීසියානු ජාතිකයෙක් වේ. දිනකට 5 වරක් යාච්ඤා කරයි. වෙලාව තිබේ නම් ඉටේවොන්වල තිබෙන පල්ලියට යයි. කුරානය උනන්දුවෙන් කියවමින් පාඩම් කරයි.

① 불교　② 기독교　③ 천주교　④ 이슬람교

4. 이 사람이 교회에서 하지 않는 것을 고르십시오. මේ පුද්ගලයා පල්ලියේදී නො කරන දේවල් තෝරන්න.

수피카 씨는 일요일마다 교회에 갑니다. 하나님께 기도를 드리고 성경을 읽습니다. 목사님의 말씀을 듣고 찬송가도 부릅니다. 예배가 끝나면 교회 친구들과 점심을 먹습니다.

සොපියා මහත්මිය හැම ඉරිදාම පල්ලි යනවා. දෙවියන් වහන්සේට යාච්ඤා කර බයිබලය කියවනවා. පියතුමන්ගේ දේශනයට සවන්දී ගීතිකාත් ගායනා කරනවා. තේවාව අවසන් වූ පසු යාළුවන සමග දවල් ආහාර ගන්නවා.

① 기도를 합니다.　② 성경을 읽습니다.　③ 찬송가를 부릅니다.　④ 성지 순례를 갑니다.

5. 이 사람에 대한 설명으로 알맞지 않은 것을 고르십시오.
මෙම පුද්ගලයා පිළිබඳව වන පැහැදිලි කිරීමට නො ගැලපෙන දෙය තෝරන්න.

저는 불교 신자입니다. 절에 자주 가지는 못하지만 기도를 하고 싶을 때 가까운 절에 가서 예불을 드립니다. 지난 주말에도 기도를 하러 절에 갔습니다. 고향에 계신 아버지가 조금 편찮으신데 빨리 건강해지셨으면 좋겠습니다.

මම බෞද්ධාගමිකයෙක් වේ. පන්සලට නිතරම යන්න බැරි වුනත් වන්දනා මාන කරන්න ඕන වූ විට ළඟ ඇති පන්සලට ගොස් වැඳුම් පිදුම් කරනවා. ගිය සතියේදීත් වන්දනා මාන කරන්න පන්සලට ගියා. ගමේ ඉන්න තාත්තාට ටිකක් සනීප නැති නිසා ඉක්මනින් සුව වෙනවා නම් හොඳයි.

① 자주 절에 갑니다.　② 부처님을 믿습니다.
③ 아버지가 편찮으십니다.　④ 지난 주말에 절에 가서 기도를 했습니다.

정답 1. ③ 2. ④ 3. ④ 4. ④ 5. ①



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත්ම ගැලපෙන පිළිතුර තෝරන්න.

1. 오늘 오후에 회의가 있습니다. 중요한 ______________ 모든 사람이 회의에 참석해야 됩니다.

අද හවස රැස්වීමක් තියෙනවා. එය වැදගත් රැස්වීමක් නිසා සැම දෙනාම සහභාගී විය යුතුයි.

① 회의라서　② 회의냐고
③ 회의거든　④ 회의여도

2. 한 달 후면 설날입니다. 작년에는 설날에 혼자 있었는데 이번에는 가족들과 함께 ______________.

මාසයකට පසුව අලුත් අවුරුදු දිනයයි. පසුගිය අවුරුද්දේ නව වසරේදී තනියම හිටියත් මේ වතාවේ පවුලේ අය සමඟ ගත කරන්න තිබුණහොත් හොඳයි.

① 보낸 적이 있습니다　② 보냈으면 좋겠습니다
③ 알아본 적이 있습니다　④ 알아봤으면 좋겠습니다

3. 저는 한국에 가면 축산 농가에서 ______________. 고향에서 소를 기르고 있기 때문에 잘할 자신이 있습니다.

මම කොරියාවට ගියහොත් සත්ව ගොවිපළක වැඩ කරනවා නම් හොඳයි. ගමේදී ගවයන් ඇති කරමින් ඉන්න නිසා හොඳින් කටයුතු කරන්න පුළුවන් විශ්වාසයක් තියෙනවා.

① 일하기 쉽습니다　② 만나기 쉽습니다
③ 일하면 좋겠습니다　④ 만나면 좋겠습니다

정답 1. ①　2. ②　3. ③

## 발음 උච්චාරණය P12

හොඳින් සවන් දී පුනරුච්චාරණය කරන්න.

ව්‍යඤ්ජන වලින් අවසාන වන අක්ෂරාණු පිටුපසින් ස්වරයක් පැමිණෙන අවස්ථාවේ අවසාන ව්‍යඤ්ජන අක්ෂරය ඊළඟට යෙදෙන අක්ෂරයේ මුලට සම්බන්ධ කර උච්චාරණය කරනු ලබයි.

(1) 음악, 녹음, 한국어　(2) 옷이, 꽃을, 낮에
(3) 책을 사요.　(4) 꽃이 피었어요.
(5) 음악이 재미있어요.

# 26 밥을 먹은 후에 이 약을 드세요

## ආහාරයෙන අවසන් වූ පසු මේ බෙහෙත් බොන්න

**학습 안내**
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | අනුපිළිවෙල ගැන කථා කිරීම / තහනම් කිරීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | –(으)ㄴ 후에, –지 마세요 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | ශරීරයේ කොටස්, ලක්ෂණ |
| ▫ සංස්කෘතික තොරතුරු | ප්‍රථමාධාර පෙට්ටිය |

## 대화 1 සංවාදය 1

Track 82



පාරු බෙහෙත් ශාලාවට ගියේ කුමක් සඳහා ද? මුලින්ම සංවාදයට දෙවරක් සවන් දී අනුගමනය කර කියවන්න.

약사 어떻게 오셨어요? කුමක් සඳහාද පැමිණියේ?

바루 머리가 아파서 왔어요.
ඔලුව රිදෙන නිසා ආවේ.

약사 언제부터 아프셨어요?
කවද ඉඳන්ද අමාරුව ඇති වුණේ?

바루 어젯밤부터요.
어제 저녁에 회식이 있어서 술을 좀 마셨어요.
ඊයේ රෑ ඉඳන්. ඊයේ හවස කාර්යාලීය මිතුරන් සමග ආහාර ගන්න ගිය නිසා මත්පැන් ටිකක් බිව්වා.

약사 아, 술 때문에 그런 것 같네요.
밥을 먹은 후에 이 약을 드세요.
ආ, මත්පැන් බිව්ව නිසා එහෙම වෙන්න ඇති.
රෑ කෑමට පසුව මේ බෙහෙත් බොන්න.

바루 네, 감사합니다. හොඳමයි ස්තූතියි.

**부터 සිට**
කාලය හඟවන නාමපදයට පිටුපසින් යොදා යම් ක්‍රියාවක ආරම්භය පැහැදිලි කරයි.
· 아침부터 배가 아파요.
උදෑසන සිට බඩ රිදෙනවා.
· 내일부터 다른 공장에서 일해요.
හෙට සිට වෙනත් ආයතනය රැකියාවට යනවා.

**때문에 නිසා**
ඉදිරිපස නාම පදය පසු ක්‍රියාවේ හේතුව වනවිට භාවිතා කරනු ලබයි.
· 비 때문에 길이 복잡해요.
වර්ෂාව නිසා මාර්ගය සංකීර්ණ වී ඇත.
· 일 때문에 바빠요.
රැකියාව නිසා කාර්යබහුල ය.



හොඳින් සවන්දී අනුගමනය කළාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 바루 씨는 왜 약국에 갔어요? පාරු මහතා බෙහෙත් ශාලාවට ගියේ කුමන හේතුවක් නිසාද?
2. 바루 씨는 언제부터 아팠어요? පාරු මහතා කවදා සිට අසනීපව සිටියේ ද?

정답 1. 머리가 아파서 갔어요. 2. 어젯밤부터 아팠어요.



## 어휘 1 වචන මාලාව 1　신체 ශරීරයේ කොටස්

අප ශරීරයේ එක් එක් අවයව හා සම්බන්ධ වචන මොනවාදැයි දැන ගනිමුද?







ඉහත වචන මාලාව නොබලා පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

1. 그림에 맞는 표현을 <보기>에서 골라 넣으세요.

පින්තූරයට බලා ඊට ගැලපෙන වචනය කොටුවෙන් තෝරා ලියන්න.

**보기**

머리
눈
코
배
귀
다리
팔
어깨
목
발




**정답** 1) 머리 2) 눈 3) 코 4) 귀 5) 목 6) 어깨 7) 팔 8) 배 9) 다리 10) 발

## 문법 1 ව්‍යාකරණ 1 -(으)ㄴ 후에

G26-1

'යම් කිසි ක්‍රියාවක් අවසන් වූ පසු' යන අර්ථයෙන් යොදාගනු ලබන අතර, ක්‍රියාපද සමග පමණක් සම්බන්ධ වේ.

| 자음(ව්‍යඤ්ජන) → **-은 후에** | 모음(ස්වර), 자음 'ㄹ' (ව්‍යඤ්ජනය -ㄹ) → **-ㄴ 후에** |
|---|---|
| 먹다 → 먹**은 후에** | 보다 → 본 **후에**<br>만들다 → 만든 **후에** |

· 가: 언제 영화 보러 갈 거예요? කවද්ද චිත්‍රපටිය බලන්න යන්නේ?
  나: 일이 **끝난 후에** 가려고 해요. වැඩ ඉවර වුනාට පස්සේ යන්න කියලා හිතාගෙන ඉන්නවා.

· 가: 이 약은 언제 먹어야 돼요? මේ බෙහෙත් කවද්ද බොන්න ඕන?
  나: 밥을 **먹은 후에** 드세요. බත් කෑවට පස්සේ බොන්න.

'후에' යන්න නාම 'පදය + 후에' යන ව්‍යුහයෙන් නාමපදයක් සමග සම්බන්ධ කර යොදාගනු ලබයි.

· **식사 후에** 다시 회의를 하겠습니다. කෑමෙන් පසු නැවතත් රැස්වීම පවත්වනවා.
· **퇴근 후에** 뭐 할 거예요? රැකියාවේ වැඩ ඉවර වුනාට පස්සේ මොනවද කරන්නේ?



'-(으)ㄴ 후에' අවබෝධ වුණා ද? ප්‍රශ්න සඳහා ගැලපෙන පිලිතුර තෝරා දෙබස සම්පූර්ණ කරන්න.

2. 대화에 맞는 대답을 고르세요. සංවාදයට වඩාත් නිවැරදි පිළිතුර තෝරන්න.

1) 쇼핑하다 → 영화를 보다

가: 우리 주말에 뭐 할까요? අපි සති අන්තට මොකද කරන්නේ?
나: ______________________.

① 쇼핑을 한 후에 영화를 봐요
② 영화를 본 후에 쇼핑을 해요

2) 밥을 먹다 → 약을 먹다

가: 이 약은 어떻게 먹어야 돼요? මේ බෙහෙත් කොහොමද බොන්න ඕන?
나: ______________________.

① 밥을 먹은 후에 약을 드세요
② 약을 먹은 후에 밥을 드세요

정답 1) ① 2) ①

## 대화 2 සංවාදය 2

Track 83

මොනිකා මෙනවිය බෙහෙත් ශාලාවට ගියා. බෙහෙත් ශාලාවට කුමක් සඳහා යන්න ඇති ද? පළමුව දෙබස දෙවරක් හොඳින් අසා අනුගමනය කර කියවන්න.

약 사 어디가 불편하세요?
කොහේද අසනීපය/අමාරුව?

모니카 오늘 아침부터 배가 아프고 설사를 해요.
අද උදේ ඉඳන් බඩ රිදෙන්න අරන් බඩගියා (පාචනය).

약 사 아침에 뭘 드셨어요?
උදේට මොනවද කෑවේ?

모니카 빵하고 우유를 먹었는데 우유 맛이 좀 이상했어요.
පාන් කාලා කිරි බිව්වා නමුත් කිරි වල රස ටිකක් වෙනස්.

약 사 그럼 이 약을 드세요. 그리고 오늘은 유제품은 먹지 마세요.
එහෙනම් මේ බෙහෙත් බොන්න.
ඒ වගේම අද කිරි ආහාර කෑමෙන් වළකින්න.

모니카 네, 알겠습니다.
ඔව්, තේරුණා.

> 뭘 මොනවා ද?
> 뭐 + 를 = 뭐를 = 뭘
> · 주말에 뭘 했어요?
> සති අන්තයේ දී කළේ මොනවා ද?
> · 뭘 먹고 싶어요?
> කන්න කැමති මොනවා ද?

> 그리고 තවද
> එකිනෙක යම් සම්බන්ධතාවයක් ඇති වාක්‍ය දෙකක් පෙළගස්වා එක් කර ලිවීමේ දී භාවිතා කරනු ලබයි.
> · 저는 빵을 좋아해요. 그리고 라면도 좋아해요.
> මම පාන් වලට කැමතියි. එවගේම නූඩ්ලස් වලටත් කැමතියි.

හොඳින් සවන් දී අනුගමනය කළාද? එසේ නම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 모니카 씨는 아침에 뭘 먹었어요? මොනිකා මෙනවිය උදෑසන ආහාරයට මොනවාද ගත්තේ?
2. 모니카 씨는 언제부터 배가 아팠어요? මොනිකා මෙනවිය කවදා ඉඳන් බඩේ අමාරුව තිබුණා ද?

정답 1. 빵하고 우유를 먹었어요. 2. 아침부터 배가 아팠어요.

## 어휘 2 වචන මාලාව 2 증상 ලක්ෂණය



රෝග ලක්ෂණ හා සම්බන්ධ ප්‍රකාශන මොනවාදැයි දැන ගනිමු.



감기에 걸리다
හෙම්බිරිස්සාව හැදෙනවා



열이 나다
උණ හැදෙනවා



기침을 하다
කැස්ස හැදෙනවා



콧물이 나다
සොටු දියර ගලනවා



배탈이 나다
බඩ රිදෙනවා/බඩේ අමාරුව



설사를 하다
බඩ යනවා/පාචනය



소화가 안 되다
අජීර්ණය



토하다
වමනය යනවා



손을 베다
අත කැපෙනවා



손을 데다
අත පිච්චෙනවා



발목을 삐다
වළලුකර උළුක්කු වෙනවා



다리가 부러지다
කකුල කැඩෙනවා



ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලන්න.

1. 그림을 보고 알맞은 말을 연결하세요. පින්තූරය බලා ගැලපෙන වචනය සම්බන්ධ කරන්න.

① 

② 

③ 

④ 

⑤ 

㉠ 소화가 안 되다 ㉡ 손을 데다 ㉢ 기침을 하다 ㉣ 열이 나다 ㉤ 발목을 삐다

정답 ① ㉡ ② ㉣ ③ ㉠ ④ ㉤ ⑤ ㉢

## 문법 2 ව්‍යාකරණ 2   -지 마세요   G26-2

'තහනම්/නොකළ යුතුයි' යන අර්ථය දෙන විධාන ප්‍රකාශනයකි. ක්‍රියාපද සමග පමණක් සම්බන්ධ වේ.

- 가: 열이 많이 나니까 오늘은 밖에 **나가지 마세요.** උණ ගොඩක් තියෙන නිසා අද එළියට යන්න එපා.
  나: 네, 알겠습니다. ඔව්. තේරුණා.
- 가: 소화가 안 되고 계속 토해요. කෑම දිරවන්නේ නැතිව දිගටම වමනේ යනවා.
  나: 이 약을 드세요. 그리고 오늘은 밥을 **먹지 마세요.** මේ බෙහෙත් බොන්න. ඒ වගේම අද බත් කන්න එපා.



'-지 마세요' පිළිබඳව අවබෝධ වුණාද? ප්‍රශ්නවලට ගැළපෙන පිළිතුර තෝරා දෙබස සම්පූර්ණ කරන්න.

2. 대화를 읽고 맞는 대답을 고르세요. සංවාද කියවා ගැළපෙන පිළිතුර ලකුණු කරන්න.

1) 가: 발목을 삐었어요. වළලු කර උළුක්කු වුණා.
   나: ________________________.

① 많이 걷지 마세요     ② 밥을 먹지 마세요

2) 가: 열이 나고 콧물이 많이 나요. උණ හැදිලා සොටු දියර ගොඩක් ගලනවා.
   나: ________________________.

① 오늘은 밖에 나가지 마세요     ② 오늘은 기침을 하지 마세요

정답 1) ① 2) ①



තව ටිකක් පාඩම් කරමුද? '-지 마세요' භාවිතා කර දෙබස සම්පූර්ණ කරන්න.

1. 가: 빵하고 우유를 먹었는데 배가 아파요.
   나: 이 약을 드세요. 그리고 오늘은 우유를 ________________________.

2. 가: 출퇴근 시간에는 택시비가 너무 많이 나와요.
   나: 맞아요. 출퇴근 시간에는 택시를 ________________________.

정답 1. 드시지 마세요 2. 타지 마세요

## 활동 ක්‍රියාකාරකම්

**약국에서 〈보기〉처럼 이야기해 보세요.**
ඔසුසැලේදී උදාහරණයෙන් පෙන්වාදී ඇති අයුරින් කතා කරලා බලන්න.

**보기**



밖에 나가다
පිටතට යනවා

열이 많이 나다 උණ ගොඩක් හැදිලා

환자: 열이 많이 나요.
රෝගියා: උණ ගොඩක් හැදිලා.
약사: 밥을 먹은 후에 이 약을 드세요.
그리고 오늘은 밖에 나가지 마세요.
ඖෂධවේදියා: බත් කෑවට පසුව මේ බෙහෙත් බොන්න. ඒ වගේම පිටතට යාමෙන් වළකින්න.

1)



밥을 먹다
බත් කනවා
✕

계속 토하다 දිගටම වමනය කරනවා

2)



요리를 하다
උයනවා
✕

손을 데었다 අත පිච්චුණා

3)



아이스크림을 먹다
අයිස්ක්‍රීම් කනවා
✕

계속 설사를 하다 දිගටම පාචනය/බඩ යනවා

4)



많이 걷다
ගොඩක් ඇවිදිනවා
✕

발목을 삐었다 වළලු කර උළුක්කු වුණා

**정답**
1) 환자: 계속 토해요.
약사: 밥을 먹은 후에 이 약을 드세요. 그리고 오늘은 밥을 먹지 마세요.
2) 환자: 손을 데었어요.
약사: 밥을 먹은 후에 이 약을 드세요. 그리고 오늘은 요리를 하지 마세요.
3) 환자: 계속 설사를 해요.
약사: 밥을 먹은 후에 이 약을 드세요. 그리고 오늘은 아이스크림을 먹지 마세요.
4) 환자: 발목을 삐었어요.
약사: 밥을 먹은 후에 이 약을 드세요. 그리고 오늘은 많이 걷지 마세요.

# 가정 비상약

ප්‍රථමාධාර පෙට්ටිය

### ✚구급함 ප්‍රථමාධාර




### ✚약국이 문을 닫으면? ඔසු සැල වැහුවොතින්?

늦은 밤이나 공휴일에 갑자기 약을 사야 하는데 약국이 문을 닫았으면 편의점에서도 가정 비상약을 살 수 있습니다. 편의점에는 감기약, 소화제, 진통제, 해열제, 파스, 연고와 같은 약이 있습니다.

මහ රෑට හෝ නිවාඩු දවස් වල අත්‍යවශ්‍යය බෙහෙත් මිළට ගන්න සොයන විට ඔසුසැල වසා තිබුණොත් වෙළඳසැල් වලත් අත්‍යවශ්‍යය බෙහෙත් මිළට ගන්න තියෙනවා. වෙළඳසැල් වල සෙම්ප්‍රතිශ්‍යාට බොන බෙහෙත්, බඩේ අජීර්ණයට බොන බෙහෙත්, වේදනා නාශක බෙහෙත්, උණ අඩුවෙන බෙහෙත්, වේදනා සහන ප්ලාස්ටර්, ආලේපන ආදී බෙහෙත් වර්ග තිබේ.



감기약

සෙම්ප්‍රතිශ්‍යාට බොන බෙහෙත්



소화제

බඩේ අජීර්ණයට බොන බෙහෙත්



진통제

වේදනා නාශක බෙහෙත්



해열제

උණ අඩු වීමට බොන බෙහෙත්

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK



1 සිට 3 දක්වා ඇත්තේ පින්තූරය බලා වඩාත් ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්න වේ. ශ්‍රවනය කිරීමට පෙර ප්‍රශ්න එක් වරක් කියවා බලන්න.

[1~3] 다음 그림을 보고 알맞은 대답을 고르십시오.
පහත පින්තූර දෙස බලා ගැලපෙන පිළිතුර තෝරන්න.

Track 84

1. 

이 사람은 어디가 아픕니까? මේ පුද්ගලයාගේ කොහේද රිදෙන්නේ?

① ② ③ ④

2. 

이 사람의 증상은 어떻습니까? මේ පුද්ගලයගේ රෝග ලක්ෂණ කොහොමද?

① ② ③ ④

3. 

이 사람은 어디를 다쳤습니까? මේ පුද්ගලයාගේ කොහේද තුවාල වුණේ?

① ② ③ ④



පහත ඇත්තේ වඩාත් ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්න වේ. ප්‍රශ්නවලට සවන්දීමට පෙර පිළිතුරු එක් වරක් කියවා බලන්න.

[4~5] 하나의 이야기를 듣고 두 개의 질문에 대답하십시오.
එකම සංවාදයකට සවන්දී ප්‍රශ්න දෙකකටම පිළිතුරු සපයන්න.

4. 여기는 어디입니까? මේ කොහේද?
① 약국 ② 식당
③ 은행 ④ 백화점

5. 남자는 어디가 아픕니까? පිරිමි පුද්ගලයාගේ අසනීපය කුමක්ද?
① 콧물이 많이 납니다. ② 머리가 아프고 열이 납니다.
③ 아침부터 소화가 안 됩니다. ④ 밥을 먹은 후에 설사를 했습니다.



### 듣기 대본 ශ්‍රවණ පිටපත

1. ① 남: 팔이 아픕니다. අත් රිදෙනවා.
② 남: 이가 아픕니다. දත් කැක්කුමයි.
③ 남: 머리가 아픕니다. ඔලුව රිදෙනවා.
④ 남: 다리가 아픕니다. පාදය රිදෙනවා.

2. ① 여: 토를 합니다. වමනය කරනවා.
② 여: 콧물이 납니다. සොටු දියර ගලනවා. (හෙම්බිරිස්සාව)
③ 여: 기침을 합니다. කැස්ස තිබෙනවා.
④ 여: 설사를 합니다. බඩයනවා. (පාචන තත්වයක්)

3. ① 남: 손을 데었습니다. අත පිච්චුණා.
② 남: 손을 베었습니다. අත කැපුනා.
③ 남: 발목을 삐었습니다. වළලු කර උලුක්කු වුනා.
④ 남: 다리가 부러졌습니다. පාදය බිඳීගොස් ඇත.

4-5. 여: 어서 오세요. 어떻게 오셨어요? සාදරයෙන් පිළිගන්නවා. කුමක් සඳහාද පැමිණියේ?
남: 열이 나고 머리가 아파요. උණ සමඟ ඔලුව රිදෙනවා.
여: 언제부터 열이 났어요? කවදා සිටද උණ ගතිය තිබුනේ?
남: 아침부터 그랬어요. උදෑසන සිට තිබුනා.
여: 여기 약을 드릴게요. 밥을 먹은 후에 드세요. මෙන්න ඔබගේ බෙහෙත්. කෑමට පසුව බොන්න.
남: 네, 알겠습니다. ඔව් තේරුනා.

정답 1. ② 2. ② 3. ① 4. ① 5. ②

## 확장 연습 වැඩිදුර අභ්‍යාස

L-26

[1~2] 질문을 듣고 알맞은 대답을 고르십시오. පහත ප්‍රශ්නයට සවන් දී ගැලපෙන පිළිතුර තෝරන්න.

1. ① 배가 많이 아파요.
② 오후에 병원에 가야 해요.
③ 어제 약국에서 약을 샀어요.
④ 차가운 음식을 많이 먹었어요.

2. ① 식사 후에 드세요.
② 오늘은 밖에 나가지 마세요.
③ 약을 먹은 후에 드세요.
④ 당분간 술은 마시지 마세요.

### 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 건우 씨, 왜 배탈이 났어요? කොන්වු මහත්තයා, ඇයි බඩේ අමාරුවක් හැදුනේ?
2. 남: 이 약은 언제 먹어야 돼요? මේ බෙහෙත් ගත යුත්තේ කවදාද / කීයටද?

정답 1. ④ 2. ①

## EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK



1 සිට 3 දක්වා ඇත්තේ දෙබස කියවා හිස්තැනට ගැලපෙන ප්‍රකාශය තෝරන ප්‍රශ්න වේ. ඉහත ඉගෙන ගත් ප්‍රකාශ ආවර්ජනය කරමින් පිළිතුරු සපයන්න.

[1~3] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

1.
가: 리리 씨, 얼굴이 많이 안 좋아요. ලිලී මහත්මයා, ගොඩාක් අසනීපෙන් වගේ.
나: ___________에 걸렸어요. 목도 아프고 열도 나요.
(හෙම්බිරිස්සාව) හැදුනා. උගුරත් රිදෙනවා ඒවගෙම උණත් හැදිලා.

① 콧물　② 기침　③ 감기　④ 배탈

2.
가: 리한 씨, 제가 손을 베었는데 혹시 ___________ 있어요?
රිහාන් මහතා, මගේ අත කැපුනා ඔබතුමා ළඟ (ආලේපනයක්) තියෙනවා ද?
나: 네, 잠깐만 기다리세요. ඔව්, පොඩ්ඩක් රැඳී සිටින්න.

① 파스　② 연고　③ 소화제　④ 해열제

3.
가: ______________________________________?
나: 아침부터 계속 설사를 해요. උදෑසන සිට පාචනය.

① 누가 아파요　② 어디가 아프세요
③ 약국이 어디에 있어요　④ 이 약은 어떻게 먹어야 돼요



අංක 4 බෙහෙත් තුන්ඩුවක් වන අතර අංක 5 කෙටි පණිවිඩයකි. ඉගෙන ගත් වචන සහ ව්‍යාකරණ ආවර්ජනය කරමින් ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

[4~5] 다음 질문에 답하십시오.
පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

**내복약** බොන බෙහෙත් වර්ග

김 지 수 님
කිම්ජිසු මහතා

용법 : (භාවිතය)
하루 3 회 2 일분
දවසට 3 වරක් බැගින් දින දෙකක්.
매 식후 30 분 복용
කෑමෙන් විනාඩි 30කට පසුව.
1 회 1 포씩 복용
එක් වරකට එක පෙත්ත බැගින් ආහාරයට ගන්න.
2014 년 6 월 12일
12/06/2014

4. 김지수 씨는 하루에 약을 몇 번 먹어야 합니까?
කිම්ජිසු මහත්මයා දවසකට බෙහෙත් කී සැරයක් බොන්න අවශ්‍යද?

① 한 번　② 두 번
③ 세 번　④ 네 번

5. 읽은 내용과 **같은** 것을 고르십시오. කියවූ අන්තර්ගතයෙහි අදහසට සමාන පිළිතුර තෝරන්න.

반장님, 모니카예요. 오늘 너무 아파서 회사에 못 갑니다. 어제 저녁부터 배가 아프고 계속 설사를 했어요. 어제 약국에서 약을 사 먹었는데 아직도 아파요. 오늘 아침에는 열도 나서 오늘은 쉬려고 해요. 죄송합니다.
ප්‍රධානිතුමා, මම මොනිකා, අද ගොඩක් ඇඟට අමාරු නිසා කාර්යාලයට යන්න වෙන්නේ නැහැ. ඊයේ හවස සිට බඩේ රිදෙනවා සහ පාචනය. ඊයේ ෆාමසියෙන් බෙහෙත් මිළට අරන් බිව්වත් තවමත් අමරුයි. අද උදේ උණ හැදුණ නිසා අද විවේක ගන්න කියලා. සමාවෙන්න.

① 모니카 씨는 지금 아프지 않습니다.　② 모니카 씨는 오늘 회사에 갈 것입니다.
③ 모니카 씨는 어제 약국에 못 갔습니다.　④ 모니카 씨는 어제 저녁부터 배가 아팠습니다.



정답 1. ③ 2. ② 3. ② 4. ③ 5. ④



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~3] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

1. 발목을 삐었을 때는 많이 걷지 말고 앉아서 쉬어야 합니다. ________ 찜질을 해 주는 것이 좋습니다.
ඔබගේ වළලුකර කැඩුන විට ඇවිදින්නේ නැතිව වාඩි වී විවේක ගත යුතුයි. එමෙන්ම වළලුකර තැවන එක හොඳයි.

① 그러나　② 그리고　③ 그래서　④ 그러면

2. 건우 씨가 계단에서 ________ 다리를 다쳤습니다. 그래서 병원에 가서 치료를 받았습니다.
කන්වු මහතා පඩිපෙළින් වැටී කකුලට තුවාල වුණා.එම නිසා රෝහලට ගොස් ප්‍රතිකාර ලැබුවා.

① 돌아가서　② 먹어봐서　③ 시작해서　④ 넘어져서

3. 식사를 준비하다가 칼에 손을 ________. 다행히 피가 많이 나지 않아서 밴드를 붙였습니다.
කෑම හදමින් සිටින විට පිහියට අත කැපුණා. වාසනාවට මෙන් වැඩිපුර ලේ නොගිය නිසා පැලැස්තරයක් දැමුවා.

① 걸렸습니다　② 데었습니다　③ 베었습니다　④ 토했습니다

4. 다음 글을 읽고 무엇에 대한 글인지 고르십시오.
පහත ඇති ඡේදය කියවා කුමක් සම්බන්ධව සඳහන් වී ඇත්ද යන්න තෝරන්න.

오래 되었거나 상한 음식을 먹으면 배탈이 나기 쉽습니다. 배탈에는 여러 가지 증상이 있는데 배가 아프고 설사를 하기도 합니다. 심하면 토하거나 머리가 아플 때도 있습니다.
පැරණි හෝ නරක් වූ ආහාර අනුභව කරන්නේ නම් බඩේ අමාරුවක් ඇතිවීමට ඉඩ ඇත. බඩේ අමාරුවක් ඇතිවීමට විවිධාකාර රෝග ලක්ෂණ තිබෙන අතර බඩේ කැක්කුම සහ පාචනයද දක්නට ලැබේ. දරුණු වුවහොත් වමනය හා හිසරදය ඇති වේ.

① 감기 예방　② 두통 치료
③ 배탈 증상　④ 소화 불량

정답 1. ②　2. ④　3. ③　4. ③

# 27 어디가 아프십니까?

කොහේද රිදෙන්නේ?

## 학습 안내
අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | අවශ්‍යතාවයන් ගැන කතා කිරීම / රෝග ලක්ෂණ අසා දැනගැනීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | -(으)면, -ㅂ/습니까, -ㅂ/습니다 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | රෝහල, ප්‍රතිකාරය |
| ▫ සංස්කෘතික තොරතුරු | විදේශීය කම්කරුවන් සඳහා වූ ප්‍රතිකාර තොරතුරු |

## 대화 1 සංවාදය 1

Track 85

පහත ඇත්තේ තුවාන් සහ රිහාන් අතර ඇති වූ දෙබසයි. පලමුව දෙවරක් සවන් දී ඉන්පසුව අනුගමනය කර කියවා බලන්න.

리한 투안 씨, 걷는 게 왜 그래요?
තුවාන් මහත්මයා, ඇවිදින විදිහ ඇයි මේ?

투 안 발목이 좀 아파요.
වළලු කර ටිකක් රිදෙනවා.

리 한 발목을 삔 거 아니에요? 빨리 병원에 가 보세요.
වළලුකර උළුක්කු වෙලා වගේ නෙවෙයිද? ඉක්මනින් රෝහලට ගිහින් බලන්න.

투 안 이 근처에 병원이 있어요?
මේ කිට්ටුව රෝහලක් තියෙනවද?

리 한 지하철역 근처에 정형외과가 있어요.
උමං දුම්රියපළ කිට්ටුව විකලාංග සහ කැඩුම් බිඳුම් රෝහලක් තියෙනවා.

투 안 내일 아침에도 아프면 가 볼게요. 고마워요.
හෙට උදේටත් අමාරු වුණොත් ගිහින් බලන්නම්, ස්තූතියි.

> 게
> 것이 = 게
> කථා කරද්දී භාවිතා කරයි.
> · 한국 음식을 만드는 게 힘들어요.
> කොරියන් ආහාර පිළියෙල කරන එක අමාරුයි.
> · 물을 많이 마시는 게 건강에 좋아요.
> ජලය හොඳින් පානය කරන එක ශරීරයට ඉතාමත් හිතකරයි.

> 근처에 ළඟ
> · 우리 집 근처에 식당이 많아요.
> අපේ නිවස ළඟ ආපනශාලා විශාල ප්‍රමාණයක් ඇත.
> · 회사 근처에 은행이 있어요?
> කාර්යාලය ළඟ බැංකුවක් තිබේ ද?

හොඳින් සවන්දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 투안 씨는 어디가 아파요? තුආන් මහතාට ඇති අසනීපය කුමක් ද?
2. 정형외과가 어디에 있어요? විකලාංග අංශය තිබෙන්නේ කොහෙද?

정답 1. 발목이 아파요. 2. 지하철역 근처에 있어요.



## 어휘 1 වචන මාලාව 1 **병원** රෝහල (වෛද්‍ය මධ්‍යස්ථානය)



රෝහල සමඟ සම්බන්ධ වචන මොනවාදැයි දැන ගනිමුද?




내과
අභ්‍යන්තර රෝග සම්බන්ධව විශේෂඥ රෝහල




정형외과
විකලාංග සහ කැඩුම් බිඳුම් සම්බන්ධව විශේෂඥ රෝහල




치과
දන්ත සම්බන්ධව විශේෂඥ රෝහල




안과
ඇස් සම්බන්ධව විශේෂඥ රෝහල




이비인후과
උගුර කණ නාසය සම්බන්ධ විශේෂඥ රෝහල




피부과
චර්ම රෝග(හම) සම්බන්ධ විශේෂඥ රෝහල




산부인과
ප්‍රසව සහ නාරි සම්බන්ධ විශේෂඥ රෝහල




소아과
ළමා රෝග විශේෂඥ රෝහල



ඉහත වචන මාලාව නොබලා පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

1. 그림을 보고 알맞은 표현을 연결하세요. පින්තූර දෙස බලමින් ගැලපෙන යෙදුම හා යාකරන්න.

①  • • ㉠ 정형외과

②  • • ㉡ 산부인과

③  • • ㉢ 이비인후과

④  • • ㉣ 치과

정답 ① ㉢ ② ㉣ ③ ㉡ ④ ㉠

## 문법 1 ව්‍යාකරණ 1 —(으)면

G27-1

ඉදිරියෙන් ඇති අන්තර්ගතය සිදුවෙනවා නම් එය ඊට පිටුපසින් කියවෙන අන්තර්ගතය සිදුවීමට කොන්දේසියක් වෙනවා යන්න ප්‍රකාශ කිරීමට භාවිතා කරයි. ක්‍රියාපද සහ විශේෂණ පද සමග සම්බන්ධ කළ හැක.

| 자음(ව්‍යඤ්ජන) → **-으면** | 모음(ස්වර), 자음 'ㄹ' (ව්‍යඤ්ජනය -ㄹ) → **-면** |
|---|---|
| 읽다 → 읽**으면** | 만나다 → 만**나면**<br>살다 → 살**면** |

- 가: 머리가 좀 아프네요. ඔළුව ටිකක් රිදෙනවා.
  나: 많이 **아프면** 일찍 들어가서 쉬세요. ගොඩක් රිදෙනවා නම් කලින් ගිහිල්ලා විවේක ගන්න.
- 가: 시간이 **있으면** 같이 영화 보러 갈래요? වෙලාව තියෙනවා නම් එකට චිත්‍රපටියක් බලන්න යමුද?
  나: 좋아요. 요즘 무슨 영화가 재미있어요? හොඳයි. මේ දවස්වල කොයි චිත්‍රපටියද හොඳ?

'(으)면' 'යන්න සීතලය (춥다)', 'රස්නෙයි (덥다)', 'දැවිල්ලයි (맵다)' යනාදිය නියමයෙන් වෙනස් වූ ක්‍රියා වාචකයක් වන 'ㅂ' සමග සම්බන්ධ වී '추우면, 더우면, 매우면' ස්වරූපයට පත් වේ.

- **더우면** 에어컨을 켜세요. රස්නෙ වුනොත් වායුසමීකරණය ක්‍රියාත්මක කරන්න.
- 음식이 **매우면** 말씀하세요. කෑම දැවිල්ල වුනොත් කියන්න.
- 가: 사무실이 춥네요. කාර්යාලය සීතලයිනේ.
  나: **추우면** 문을 닫을까요? සීතලයි නම් දොර වහන්නද?



'-(으)면' පිළිබඳ අවබෝධ වුණාද? එසේනම් ගැලපෙන ප්‍රකාශය තෝරා වාක්‍ය සම්පූර්ණ කරන්න.

2. 빈칸에 맞는 표현을 〈보기〉에서 골라 '-(으)면'을 사용해서 문장을 완성하세요.
හිස්තැනට ගැළපෙන ප්‍රකාශය උදාහරණ කොටසින් තෝරා '-(으)면' භාවිතා කරමින් වාක්‍ය සම්පූර්ණ කරන්න.

1) 감기에 ____________________ 내과에 가 보세요.

2) 얼굴에 뭐가 ____________________ 피부과에 가 보세요.

3) 다리가 ____________________ 정형외과에 가야 해요.

보기 나다 걸리다 부러지다

정답 1) 걸리면 2) 나면 3) 부러지면

### 유용한 표현 වැදගත් විය හැකි ප්‍රකාශන

**아무거나 잘 먹어요.** ඕනෑම දෙයක් හොඳින් කනවා.

가: 좋아하는 한국 음식이 뭐예요? කැමතිම කොරියන් ආහාරය කුමක්ද?
나: **아무거나 잘 먹어요.** ඕනෑම දෙයක් හොඳින් කනවා.

## 대화 2 සංවාදය 2

Track 86

තුවාන් රෝහලට ගියා. පළමුව තුවාන් සහ වෛද්‍යවරයා සමඟ ඇති වූ දෙබසට දෙවරක් හොඳින් සවන් දෙන්න.

의 사 어디가 아프십니까?
කොහේද අමාරුව? (අසනීපය)

투 안 어제 계단에서 넘어져서 발목을 다쳤어요.
ඊයේ පඩිපෙළෙන් වැටිලා වළලුකර තුවාල වුණා.

의 사 어디 봅시다. 여기를 누르면 어떻습니까?
කෝ බලන්න, මෙතන තද කලාම කොහොමද?

투 안 아, 너무 아파요.
ආ, ගොඩක් රිදෙනවා.

의 사 발목을 삐었네요. 먹는 약과 파스를 처방해 드리겠습니다. 그런데 발목을 삐었을 때는 많이 걷지 말고 앉아서 쉬어야 합니다. 그리고 찜질을 해 주는 것이 좋습니다.
වළලුකර උලුක්කු වෙලා, බොන බෙහෙත් සහ වේදනා සහන ප්ලාස්ටර් දෙන්නම්. නමුත් වළලුකර උලුක්කු වෙච්ච නිසා ගොඩක් ඇවිදින්නේ නැතිව වාඩිවෙලා විවේකීව ඉන්න. ඒ වගේම තැවුම් කිරීම හොඳයි.

투 안 네, 알겠습니다.
ඔව්, තේරුණා.

**어디 봅시다** කෝ බලන්න

යම් දෙයක් පරීක්ෂා කිරීමට ප්‍රථම භාවිතා කරන ප්‍රකාශයකි.

- 어디 봅시다. 열이 많이 나네요.
  කෝ බලන්න. උණ හොඳටම වැඩීනේ.
- 어디 봅시다. 그림을 참 잘 그렸네요.
  කෝ බලන්න, චිත්‍රය හොඳින් ඇඳලානේ.

**그런데** ඒක නෙමෙයි, කෙසේ වෙතත්, නමුත්

කලින් කතා කරමින් සිටි දෙයට ප්‍රතිවිරුද්ධ දෙයක් ප්‍රකාශ කිරීමේ දී හෝ මාතෘකාව වෙනස් කිරීමේ දී භාවිතා කරනු ලබයි.

- 리한 씨, 어제 도와줘서 고마워요. 그런데 리한 씨 동생은 요즘 뭐 해요?
  රිහාන් මහතා, ඊයේ උදව්වට බොහොමත්ම ස්තූතියි. ඒක නෙමෙයි, රිහාන් මහතාගේ මල්ලී මේ දිනවල මොකද කරන්නේ?
- 나는 늦게 잠을 자요. 그런데 내 방 친구는 일찍 자요.
  මම නිදාගන්නා විට ප්‍රමද වේ. නමුත් මගේ කාමරයේ සිටින මිතුරා වේලාසනින් නින්දට යයි.

දැන් වෛද්‍යවරයා සහ තුඅාන් අතර ඇති වූ දෙබස නැවත කියවන්න. හොඳින් අසා නැවත කියෙව්වාද? එසේනම් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 투안 씨는 왜 발목을 다쳤어요? තුඅාන් ඔහුගේ වළලුකරට තුවාල කර ගත්තේ ඇයි?
2. 발목이 다쳤을 때에는 어떻게 해야 해요? වළලුකර තුවාල වූ විට කළ යුත්තේ කුමක් ද?

정답 1. 계단에서 넘어져서 발목을 다쳤어요.
2. 많이 걷지 말고 앉아서 쉬어야 해요.

## 어휘 2 වචන මාලාව 2 　 치료 ප්‍රතිකාර



ප්‍රතිකාර සම්බන්ධ ප්‍රකාශන මොනවා දැයි විමසා බලමු.



치료를 하다
ප්‍රතිකාර කරනවා



주사를 맞다
බෙහෙත් විදිනවා



수술하다
සැත්කමක් කරනවා



약을 먹다
බෙහෙත් බොනවා




소독을 하다
විෂබීජ නාශක වලින් පිරිසිදු කරනවා



연고를 바르다
බෙහෙත් ආලේපන ගානවා



밴드를 붙이다
ප්ලාස්ටර් අලවනවා



파스를 붙이다
වේදනා සහන ප්ලාස්ටර් අලවනවා



찜질을 하다
තැවුම් ප්‍රතිකාරය කරනවා



붕대를 감다
බැන්ඩේජ් වලින් ඔතනවා



주무르다
සම්භාහනය කරනවා



깁스를 하다
ප්ලාස්ටික් බැන්ඩේජ් ඔතනවා



ඔබ ඉහත ඉගෙන ගත් වචන මාලාව නැවත සිහි කරමින් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයා බලමුද?

1. 그림에 맞는 표현을 〈보기〉에서 골라 넣으세요.
පින්තූරයට බලා ඊට ගැලපෙන වචනය කොටුවෙන් තෝරා ලියන්න.



1) ____



2) ____



3) ____



4) ____



5) ____



6) ____

**보기** 　 소독을 하다 　 붕대를 감다 　 주사를 맞다 　 찜질을 하다 　 주무르다 　 파스를 붙이다

**정답** 1) 소독을 하다 2) 붕대를 감다 3) 주사를 맞다 4) 파스를 붙이다 5) 찜질을 하다 6) 주무르다

## 문법 2 ව්‍යාකරණ 2 -ㅂ/습니까, -ㅂ/습니다

G27-2

ක්‍රියාප්‍රකෘතියට හෝ විශේෂණ ප්‍රකෘතියට, ප්‍රත්‍ය එකතු කිරිම මගින් විධිමත් ගෞරවාර්ථය දැක්විය හැකිය. ඒ අනුව රැස්වීම් හෝ ඉදිරිපත් කිරීම්, වාර්තා ආදී නිල විධිමත් අවස්ථාවන්හිදී ප්‍රශ්න ඇසීමට හෝ පැහැදිලි කිරීමට යොදාගනී.

| 자음 (ව්‍යඤ්ජනය) → **-습니까, -습니다** | 모음(ස්වර), 자음 'ㄹ' (ව්‍යඤ්ජනය -ㄹ) → **-ㅂ니까, -ㅂ니다** |
|---|---|
| 먹다 → 먹**습니까**? 먹**습니다** | 만나다 → 만**납니까**? 만**납니다**<br>만들다 → 만**듭니까**? 만**듭니다** |

- 가: 어떻게 **오셨습니까**? මොකටද ආවේ?
  나: 감기에 걸려서 **왔습니다**. සෙම්ප්‍රතිශ්‍යාව හැදුන නිසා ආවේ.
- 지금부터 다음 회의 일정을 **말씀드리겠습니다**. මෙතැන් පටන් මීළඟ රැස්වීමේ වැඩසටහන් ෂෙඩ්‍යුලය කියන්නම්.

නාමපදයක් සමග සම්බන්ධ වන අවස්ථාවේදී 'නාමපදය + **입니다**' යන ව්‍යුහය යොදාගනී.

- 저분이 우리 **사장님입니다**. අර පුද්ගලයා අපේ සමාගම් ප්‍රධානියා වේ.
- 제 고향은 **감바하입니다**. මගේ ගමගම්පහ වේ.

### 대조적 정보 වෙනත් තොරතුරු

වාචික සිංහල භාෂාවෙහි අවස්ථානුකූලව යොදා ගන්නා විධිමත් භාෂා රටාවක් නැති නමුත් කොරියානු භාෂාව ගත්කල නිල අවස්ථාවකදී '아요/어요' වෙනුවට '-ㅂ/습니까, ㅂ/습니다' භාවිතා කරනු ලැබේ.

- 저는 스리랑카에서 **왔습니다**. මම ශ්‍රී ලංකාවේ සිට පැමිණියෙමි.



'-ㅂ/습니까, -ㅂ/습니다' පිළිබඳ අවබෝධ වුණාද? එසේනම් ගැලපෙන ප්‍රකාශය තෝරා වාක්‍ය සම්පූර්ණ කරන්න.

2. 대화를 읽고 맞는 답을 고르세요. සංවාද කියවා ගැළපෙන පිළිතුර තෝරන්න.

1) 가: 어떻게 오셨습니까? කුමක් සඳහාද පැමිණියේ?
   나: ________________.

① 주사를 맞았습니다　② 배가 아프고 설사를 합니다

2) 가: 발목을 삐면 어떻게 해야 합니까? වළලු කර උළුක්කු වුනාම කුමක්ද කළ යුත්තේ?
   나: ________________.

① 이비인후과에 가야 합니다　② 정형외과에 가 보는 게 좋습니다

정답 1) ② 2) ②

## 활동 ක්‍රියාකාරකම්

1. 〈보기〉처럼 이야기해 보세요. උදාහරණය අනුව කතා කරලා බලන්න.

**보기**






가: 목이 아프면 어디에 가야 합니까?
උගුර අමාරු නම් කොහේට ගියාම හරිද?

나: 이비인후과에 가야 합니다.
උගුර කණ නාසය සම්බන්ධ විශේෂඥ රෝහලට යන්න.

1) 




අභ්‍යන්තර රෝග සම්බන්ධ විශේෂඥ රෝහල

2) 




විකලාංග සහ කැඩුම් බිඳුම් සම්බන්ධ විශේෂඥ රෝහල

3) 




ඇස් සම්බන්ධ විශේෂඥ රෝහල

4) 




චර්ම (හම) සම්බන්ධ විශේෂඥ රෝහල

**정답**
1) 가: 배가 아프면 어디에 가야 합니까?
나: 내과에 가야 합니다.
2) 가: 다리가 부러지면 어디에 가야 합니까?
나: 정형외과에 가야 합니다.
3) 가: 눈이 아프면 어디에 가야 합니까?
나: 안과에 가야 합니다.
4) 가: 얼굴에 뭐가 나면 어디에 가야 합니까?
나: 피부과에 가야 합니다.

# 외국인 근로자 센터 진료 안내

විදේශීය කම්කරු මධ්‍යස්ථානයේ ප්‍රතිකාර තොරතුරු

서울 시내 외국인 근로자 센터에서도 외국인 근로자를 위한 의료 서비스를 제공하고 있습니다. 서울 시내에 위치한 7개의 외국인 근로자 센터에서는 내과, 이비인후과, 치과뿐만 아니라 한방진료나 종합 검진까지 가능합니다. 외국인 근로자라면 누구나 외국인 근로자 센터의 의료 서비스를 이용할 수 있습니다.

සොවුල් නගරයේ විදේශීය කම්කරු මධ්‍යස්ථානයේද විදේශීය කම්කරුවන් සඳහා වෛද්‍ය ප්‍රතිකාර සේවා ලබාදීම සිදුකරනවා, සොවුල් නගරයේ පිහිටා ඇති විදේශීය කම්කරු මධ්‍යස්ථානයන් 7කදී අභ්‍යන්තර රෝග, උගුර කණ නාසය සම්බන්ධ රෝග, දත් සම්බන්ධ රෝග එපමණක් නොව චීන වෛද්‍ය ප්‍රතිකාර සහ සම්පූර්ණ පුළුල් වෛද්‍ය පරික්ෂාවන් සිදු කරනවා. විදේශීය කම්කරුවෙක් නම් කවුරුවුනත් විදේශීය කම්කරු මධ්‍යස්ථානයේ වෛද්‍ය ප්‍රතිකාර සේවාවන් ලබාගැනීමට පුළුවන්කම තියෙනවා.

| 센터명<br>මධ්‍යස්ථානය | 위치<br>පිහිටීම | 진료일<br>ප්‍රතිකාර දින | 의료지원 내용<br>වෛද්‍ය ප්‍රතිකාර විස්තර | 시설<br>පහසුකම් |
|---|---|---|---|---|
| 성동 | 성동구 홍익동 147-22 | 매월 둘째,<br>넷째 일요일 | 내과, 치과 무료진료<br>수시 종합검진, 독감백신접종 | 단독시설 |
| 금천 | 금천구 가산동 144-3 | 수시 | 보건소, 병원 연계 여성외국인 부인과 검진, 위생교육 및 위생용품, 구충제 지원 | 가산종합<br>사회복지관 내 |
| 은평 | 은평구 녹번동 산28-6 | 수시 | 긴급 의료기관에 통역활동가 대동 지원,<br>건강검진 등 자원단체연계 진료 지원 | 녹번종합<br>사회복지관 내 |
| 강동 | 강동구 성내동 508-1 | 수시 | 유방암 검진, 건강검진 | 성내종합<br>사회복지관 내 |
| 성북 | 성북구 하월곡동<br>222-5 | 매월 둘째,<br>넷째 일요일 | 한방진료, 치과, 수시 종합건강검진 | 월곡종합<br>사회복지관 내 |
| 양천 | 양천구 목동 931 | 매월 넷째 일요일 | 한방진료, 이비인후과, 내과 등,<br>수시 건강검진 | 신목종합<br>사회복지관 내 |
| 서울 | 영등포 당산동 6가 1-2 | 매월 둘째,<br>넷째 일요일 | 한방진료, 수시 보건소 등 연계 종합검진 | 단독시설 |

## 응급 상황 시 도움 받을 곳

හදිසි වෛද්‍ය ප්‍රතිකාර ලබාගන්න පුළුවන් ස්ථාන

밤에 갑자기 병원에 가야 한다면 어디에 도움을 요청해야 할까요? 바로 119에 전화하면 됩니다. 119는 24시간, 365일 언제든지 이용이 가능합니다. 그리고 이곳에서는 영어, 중국어, 일본어, 몽골어, 베트남어 등 5개 국어로 의료 상담 서비스를 받을 수 있습니다.

රාත්‍රී හදිසියෙන්ම රෝහලට යන්න අවශ්‍ය වුවහොත් කොහෙන්ද උදව් ඉල්ලීම් සිදු කරන්නේ? කෙලින්ම (හදිසි ඇමතුම්) 119ට දුරකතන ඇමතුමක් දෙන්න. 119 හදිසි ඇමතුම් අංකය දවස් 365 ම පැය 24 පුරා ඕනෑම මොහොතක භාවිතා කර හැකිය. ඒ වගේම මෙහි ඉංග්‍රීසි, චීන, ජපන්, මොන්ගෝලියන්, වියට්නාම් ආදී භාෂා 5කින් හදිසි වෛද්‍ය ප්‍රතිකාර උපදෙස් සේවාව ලබාගැනීමටත් පුළුවන්.

# EPS-TOPIK 듣기 ශ්‍රවණය EPS-TOPIK

1 සිට 3 දක්වා ඇත්තේ පින්තූරය බලා වඩාත් ගැලපෙන පිළිතුර තෝරන ප්‍රශ්න වේ. සවන්දීමට පෙර එක් වරක් අන්තර්ගතයට අවධාන යොමු කරන්න.

[1~3] 다음 그림을 보고 알맞은 대답을 고르십시오.
පහත පින්තූර දෙස බලා ගැලපෙන පිළිතුර තෝරන්න.

Track 87

1. 

이 사람은 어디에 가야 합니까? මේ පුද්ගලයා කොහේටද යා යුත්තේ?

① ② ③ ④

2. 

이 사람은 무엇을 합니까? මේ පුද්ගලයා කුමක්ද කරන්නේ?

① ② ③ ④

3. 

이 사람은 무엇을 했습니까? මේ පුද්ගලයා කුමක්ද කළේ?

① ② ③ ④

4 සහ 5 වන ප්‍රශ්න එක් දෙබසකින් ප්‍රශ්න දෙකකට පිළිතුරු සැපයීමට ඇති ප්‍රශ්න වේ. සවන් දීමට ප්‍රථම ප්‍රශ්න හොඳින් කියවා බලන්න.

[4~5] 하나의 이야기를 듣고 두 개의 질문에 대답하십시오.
එකම සංවාදයකට සවන්දී ප්‍රශ්න දෙකකට පිළිතුරු සපයන්න.

4. 여기는 어디입니까? මේ කොහේද?

① 안과 ② 소아과
③ 정형외과 ④ 이비인후과

5. 남자는 무엇을 해야 합니까? පිරිමි පුද්ගලයා කුමක් කළ යුතුද?

① 수술을 해야 합니다. ② 많이 걸어야 합니다.
③ 매일 약을 먹어야 합니다. ④ 집에서 찜질을 해야 합니다.



## 듣기 대본 ශ්‍රවණ පිටපත

1. ① 남: 내과에 가야 합니다. අභ්‍යන්තර රෝග අංශයට යා යුතුය.
   ② 남: 치과에 가야 합니다. දත් රෝග අංශයට යා යුතුය.
   ③ 남: 피부과에 가야 합니다. හමේ රෝග අංශයට යා යුතුය.
   ④ 남: 산부인과에 가야 합니다. ප්‍රසව හා නාරිවේද අංශය වෙත යා යුතුය.
2. ① 여: 연고를 바릅니다. ආලේපන දමනවා. ② 여: 약을 먹습니다. බෙහෙත් බිව්වා.
   ③ 여: 소독을 합니다. විශබීජ නාශක වලින් පිරිසිදු කරනවා.
   ④ 여: 파스를 붙입니다. වේදනා සහන ප්ලාස්ටර් අලවනවා.
3. ① 남: 깁스를 했습니다. ප්ලාස්ටික් බැන්ඩේජ් එතුවා. ② 남: 수술했습니다. ශෛල්‍යකර්මයක් සිදුකළා.
   ③ 남: 주사를 맞았습니다. බෙහෙත් විද්දා. ④ 남: 붕대를 감았습니다. බැන්ඩේජයකින් එතුවා.

4–5 여: 어떻게 오셨습니까? කුමක් සඳහාද පැමිණියේ?
남: 넘어져서 발목을 삐었어요. ඇදවැටීලා වළලුකර උලුක්කු වුණා.
여: 어디 봅시다. 여기가 아픕니까? කෝ බලන්න, මෙතන රිදෙනවා ද?
남: 아! 네. ආ..ඔව්.
여: 발목에 파스를 붙이시고 많이 걷지 마세요.
වළලුකරට වේදනා සහන ප්ලාස්ටරයක් අලවා නිතර ඇවිදීමෙන් වළකින්න.
그리고 집에서 찜질을 하셔야 됩니다. තවද නිවසේ දී තැවීම කළ යුතුයි.

정답 1. ② 2. ① 3. ③ 4. ③ 5. ④

## 확장 연습 වැඩිදුර අභ්‍යාස

L-27

1. 대화를 듣고 질문에 알맞은 것을 고르십시오.
සංවාදයට හොඳින් සවන්දී ප්‍රශ්නයට ගැළපෙන පිළිතුර තෝරන්න.

남자는 왜 일찍 퇴근하려고 합니까? පිරිමියා වේලාසනින් වැඩ නිමකිරීමට හේතුව කුමක් ද?

① 약이 없어서 ② 배가 아파서
③ 회식이 있어서 ④ 밥을 안 먹어서

## 확장 연습 듣기 대본 වැඩිදුර අභ්‍යාස ශ්‍රවණ පිටපත

1. 남: 어제 회식 때 음식을 잘못 먹었는지 계속 배가 아파요. 수루 씨는 괜찮아요?
ඊයේ සුහද හමුවෙදී වැරදි කෑමක් ආහාරයට ගත්තාද දන්නෙ නෑ බඩ රිදෙනවා. සුරු මහතාට ප්‍රශ්නයක් නැතිද?
여: 저는 괜찮은데요. 약은 먹었어요? මට නම් ප්‍රශ්නයක් නැහැ. බෙහෙත් බිව්වා ද?
남: 네, 약을 사서 먹었는데도 계속 배가 아프네요. 오늘은 조퇴를 해야 될 것 같아요.
ඔව් බෙහෙත් බිව්වත් දිගටම බඩ රිදෙනවා. අද වේලාසනින් ගෙදර යන්න වෙයි වගේ.

정답 1. ②

# EPS-TOPIK 읽기 කියවීම EPS-TOPIK

1සිට 3 දක්වා පහත ඇත්තේ පින්තූරය බලා සුදුසු වාක්‍ය තෝරන ප්‍රශ්න වේ. ඉහත ඉගෙන ගත් ප්‍රකාශයන් ආවර්ජනය කරමින් පිළිතුරු සපයන්න.

[1~2] 다음 그림을 보고 알맞은 문장을 고르십시오. පහත පින්තූර දෙස බලා ගැලපෙන වාක්‍ය තෝරන්න.

1.



① 안과에 가야 합니다.
② 치과에 가야 합니다.
③ 피부과에 가야 합니다.
④ 정형외과에 가야 합니다.

2.



① 수술하고 있습니다.
② 찜질을 하고 있습니다.
③ 연고를 바르고 있습니다.
④ 파스를 붙이고 있습니다.

අංක 3 සහ 4 දෙබස තුලට යායුතු වඩාත් නිවැරදි ප්‍රකාශය තෝරන ප්‍රශ්න වේ. අංක 5 වන ප්‍රශ්නය ඡේදය කියවා අදාළ පිළිතුර තේරීමේ ප්‍රශ්නයක් වේ. ඉහත ඉගෙනගත් වචන සහ ව්‍යාකරණ හොඳින් ආවර්ජනය කරමින් පිළිතුරු සපයන්න.

[3~4] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

3.

가: 목이 너무 아파요. උගුර ගොඩාක් රිදෙනවා.
나: 목이 ______________ 이비인후과에 가 보세요.
උගුර රිදෙනවා නම් උගුර කණ නාසය රෝග අංශයට (ENT) ගිහින් බලන්න.

① 아파서 ② 아프고 ③ 아프면 ④ 아픈 후에

4.

집에서 요리를 했는데 손을 데었습니다. 그래서 연고를 바르고 밴드를 ______________.
ගෙදරදී ආහාර පිළියෙල කරන විට අත පිච්චුනා. බෙහෙත් ආලේපකර ප්ලාස්ටරයක් ඇලෙව්වා.

① 붙였습니다 ② 먹었습니다
③ 찍었습니다 ④ 주물렀습니다

5. 다음 질문에 답하십시오. පහත ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.

〈진료 시간〉 <ප්‍රතිකාර කාලසටහන>
평일: 오전 10시~오후 6시 සතියේ දින, උදෑසන 10 සිට සවස 6 දක්වා
(점심 시간: 오후 1시~오후 2시) දිවා ආහාර වේලාව : දහවල් 1 සිට 2 දක්වා
토요일: 오전 10시~오후 1시 සෙනසුරාදා : උදෑසන 10 සිට සවස 1 දක්වා
일요일, 공휴일: 휴진 ඉරිදා සහ රජයේ නිවාඩු දිනයන් : රාජකාරි දිනයන් නොවේ

진료를 받을 수 있는 시간은 언제입니까? ප්‍රතිකාර ලබා ගැනීමට හැකි වේලාව කුමක්ද?

① 월요일 오후 7시 ② 목요일 오전 9시
③ 토요일 오전 11시 ④ 일요일 오후 12시

정답 1. ① 2. ② 3. ③ 4. ① 5. ③



## 확장 연습 වැඩිදුර අභ්‍යාස

[1~2] 빈칸에 들어갈 가장 알맞은 것을 고르십시오. හිස්තැනට වඩාත් ගැලපෙන පිළිතුර තෝරන්න.

1.

기침이 나고 목이 많이 아팠습니다. 의사 선생님에게 ________을/를 받고 처방전을 받았습니다.
කැස්ස හැදිලා උගුර ගොඩක් රිදුණා. වෛද්‍යතුමා හමුව ප්‍රතිකාර ලබා බෙහෙත් වට්ටෝරුවක් ලබා ගතතා.

① 증거　　② 증상
③ 진찰　　④ 사과

2.

일을 하다가 눈을 조금 다쳤습니다. 그래서 ________에 가서 치료를 받았습니다.
වැඩ කරද්දී ඇස පොඩ්ඩක් තුවාල වුණා. ඒ නිසා ඇස් වාට්ටුවට ගොස් බෙහෙත් ලබා ගත්තා.

① 내과　　② 안과
③ 소아과　　④ 피부과

3. 다음 안내문에 대한 설명으로 맞는 것은 무엇입니까? පහත දැනුම්දීම පිළිබඳ නිවැරදි පිළිතුර කුමක්ද?

〈병원 진료 안내〉
<රෝහල් ප්‍රතිකාර ලබාගත හැකි වේලාවන්>

*평일 : 오전9시 ~ 오후 7시 සතියේ දින - උදෑසන 9 සිට සවස 7 දක්වා
(점심시간 13:00 ~ 14:00) (දහවල් ආහාර වෙලාව 13:00 - 14:00)
*토요일 : 9:00 ~ 12:00 සෙනසුරාදා 9:00 - 12:00

*공휴일에는 진료를 하지 않습니다.
රජයේ නිවාඩු දිනයන්හි ප්‍රතිකාර නොකරනු ලබයි.

① 점심시간은 두 시간입니다.
② 토요일 오후에는 진료가 없습니다.
③ 주말은 평일보다 진료 시간이 깁니다.
④ 공휴일에도 진료를 받을 수 있습니다.

정답 1. ③ 2. ② 3. ②

# 28 통장을 만들려고 왔어요

බැංකු ගිණුමක් සාදාගැනීමට ආවේ

## 학습 안내

අධ්‍යයනය සඳහා වන මාර්ගෝපදේශය

| | |
|---|---|
| ▫ අධ්‍යයන අරමුණු | අරමුණක් පැවසීම, යමක් සිදුකරන ක්‍රමය පැවසීම |
| ▫ ව්‍යාකරණ භාවිතය සඳහා උපදෙස් | -(으)려고, -(으)면 되다 |
| ▫ වචන භාවිතය සඳහා උපදෙස් | බැංකුව, බැංකු කටයුතු / මුදල් දමන, ආපසු ගන්නා යන්ත්‍රය |
| ▫ සංස්කෘතික තොරතුරු | විදේශීය කම්කරුවන් සඳහා වන මූල්‍යමය සේවාවන් |

## 대화 1 සංවාදය 1

Track 88



රිහාන් බැංකුවට ගියා, මුලින්ම රිහාන් හා බැංකු සේවකයා අතර දෙබසට දෙවරක් සවන් දී ඉන්පසුව අනුගමනය කරමින් කියවන්න.

은행원 어떻게 오셨습니까?
කුමන සේවාවක් ලබා ගැනීම සඳහා ද පැමිණියේ?

리 한 통장을 만들려고 왔어요.
බැංකු ගිණුමක් සාදාගැනීමට ආවේ.

은행원 신분증을 가지고 오셨습니까?
හැඳුනුම්පත රැගෙන පැමිණියාද?

리 한 여권도 괜찮지요?
විදේශ ගමන් බලපත්‍රයෙන් පුළුවන් ද?

은행원 그럼요. 여기 신청서를 쓰고 서명하세요.
ඔව්, මේ අයදුම් පත පුරවා අත්සන් කරන්න.

리 한 여기 다 썼어요. ලියලා ඉවරයි.

은행원 체크카드도 만들어 드릴까요?
චෙක් කාඩ් පතකුත් සාදා දෙන්නද?

리 한 네, 만들어 주세요. ඔව්, සාදා දෙන්න.

**괜찮지요?** මේ හරිද?
සවන් දෙන්නාගෙන් ධනාත්මක ප්‍රතිචාරයක් බලාපොරොත්තු වනවිට භාවිතා කරන යෙදුමකි
- 회식 장소가 회사 앞 한국 식당이에요. 괜찮지요?
  රැස්වීමට කාර්යාලය ඉදිරිපස තිබෙන ආපනශාලාව, හොඳයි නේද?
- 사과 주스가 없어서 파인애플 주스를 샀는데 괜찮지요?
  ඇපල් ජූස් නැති නිසා අන්නාසි ජූස් මිලදී ගත්තා, කමක් නැහැ නේද?

**그럼요** ඔව්.
අනෙක් පාර්ශවයේ කතාවට එකඟතාවය දක්වන අතර '물론이에요' යන තේරුමට සමාන වෙයි
- 가: 축구를 좋아해요?
  පාපන්දු වලට කැමතිද?

  나: 그럼요.
  නැතුව. (ඔව්)



හොඳින් සවන්දී අනුගමනය කලාද? එසේනම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 리한 씨는 왜 은행에 갔어요? රිහාන් මහතා බැංකුවට ගියේ ඇයි?
2. 리한 씨는 체크카드를 만들 거예요? රිහාන් මහතා කාඩ්පතක් සාදයිද?

정답 1. 통장을 만들려고 은행에 갔어요. 2. 네, 체크카드를 만들 거예요.



## 어휘 1 වචන මාලාව 1 은행 බැංකුව



බැංකුව හා සම්බන්ධ යෙදුම් මොනවා දැයි සොයා බලමුද?




창구
කවුන්ටරය



통장
බැංකු ගිණුම




신분증
හැඳුනුම්පත




계좌 번호
ගිණුම් අංකය



주소
ලිපිනය



서명
අත්සන




비밀번호
රහස් අංකය



인터넷뱅킹
අන්තර්ජාල බැංකු සේවා




체크카드
චෙක් කාඩ්පත




신용카드
ණය කාඩ් පත

- **인터넷뱅킹**을 이용하면 편리해요.
  අන්තර්ජාල බැංකු සේවාව භාවිතා කරනවා නම් පහසුයි.
- 은행에 갈 때에는 **신분증**을 가지고 가세요.
  බැංකුවට යනවිට හැඳුනුම්පත රැගෙන යන්න.
- **비밀번호**는 잊어버리면 안 돼요.
  රහස් අංකය අමතක කරන්න එපා.



ඉහත වචන දෙස නොබලා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

1. 그림에 맞는 표현을 〈보기〉에서 골라 넣으세요.
   පින්තූරය බලා ඊට ගැලපෙන වචනය කොටුවෙන් තෝරා ලියන්න.




**보기**

창구

신분증

체크카드

통장

정답 1) 창구 2) 통장 3) 체크카드 4) 신분증

## 문법 1 ව්‍යාකරණ 1 –(으)려고

G28-1

යම්කිසි ක්‍රියාවක් කිරීමට ඇති අභිප්‍රාය සහ අරමුණ පැහැදිලි කරයි. ක්‍රියාපද සමග පමණක් සම්බන්ධ වේ.

| 자음 (ව්‍යඤ්ජනය) → **–으려고** | 모음(ස්වර), 자음 ‘ㄹ’ (ව්‍යඤ්ජනය –ㄹ) → **–려고** |
|---|---|
| 먹다 → 먹**으려고**<br>읽다 → 읽**으려고** | 사다 → 사**려고**<br>만들다 → 만들**려고** |

· 가: 어떻게 오셨어요? මොකටද ආවේ?
  나: 한국어 수업을 **신청하려고** 왔어요. කොරියානු භාෂා පාඩමට අයදුම් කරන්න ආවේ.
· 가: 모니카 씨, 빵을 왜 이렇게 많이 샀어요? මොනිකා මහත්මිය, පාන් මෙච්චර ගොඩක් ඇයි මිලදී ගත්තේ?
  나: 친구들하고 같이 **먹으려고** 많이 샀어요. යාලුවන් එක්ක එකට කන්න කියලා ගොඩක් මිළ දීගත්තේ.

### 비교해 보세요 සංසන්දනය කර බලන්න

**✓ ‘–(으)려고’ හා ‘–(으)러’**

‘–(으)려고’ හා ‘–(으)러’ යන්න අරමුණක්/බලාපොරොත්තුවක් පැවසීමේදී භාවිතා කරයි. ‘–(으)려고’ සෑම ක්‍රියාපදයක් සමගම භාවිතා කල හැකි නමුත් ‘–(으)러’ හි පසුපසින් ‘가다, 오다, 다니다’ වැනි ගමන් කිරීමක් හෝ චලනයක් පෙන්වන ක්‍රියාපද පමණක් ලිවිය හැක. තවද ‘–(으)려고’ හි පසුපසට යෝජනා කිරීමකදී හෝ අණදීමකදී භාවිතා කරන වාක්‍ය අවසානයන් පැමිණිය නොහැකි නමුත්. ‘–(으)러’ පසුපසින් ඕනෑම වාක්‍ය අවසානයක් පැමිණිය හැක. ‘–(으)려고’ යන්න ගමන් කිරීමක් පෙන්වන හෝ සෘණාත්මක යෙදුමකදී නිදහස්ව සම්බන්ධ වන නමුත් ‘–(으)러’ මෙවැනි යෙදුම් සමඟ සම්බන්ධ නොවේ.

· 친구에게 **주려고** 선물을 샀어요.(O) 친구에게 주러 선물을 샀어요.(X)
· 밥 먹으려고 가세요.(X) 밥 **먹으러** 가세요.(O)
· 서울에 **가려고** 역에 갔어요.(O) 서울에 가러 역에 갔어요.(X)



‘–(으)려고’ අවබෝධ වුණා ද? එසේනම් ප්‍රශ්නයට ගැලපෙන වචනය තෝරා දෙබස සම්පූර්ණ කරන්න.

**2. 대화를 읽고 맞는 대답을 고르세요.** දෙබස කියවා ගැලපෙන වචනය තෝරන්න.

1) 가: 왜 한국에 왔어요? ඇයි කොරියාවට ආවේ?
   나: ______________________.

① 한국어를 공부하고 왔어요 ② 한국어를 공부하려고 왔어요

2) 가: 뭘 이렇게 많이 샀어요? මොනවද මෙච්චර ගොඩක් මිලදී ගත්තේ?
   나: ______________________.

① 불고기를 만들면 고기하고 채소를 샀어요 ② 불고기를 만들려고 고기하고 채소를 샀어요

정답 1) ② 2) ②

## 대화 2 සංවාදය 2

Track 89



මොනිකා මහත්මිය බැංකුවට ඇයි ගියේ? මුලින්ම දෙබසට දෙවරක් සවන් දී අනුග මනය කරන්න.

모니카 저기요, 외국으로 송금을 하려고 하는데 어떻게 해야 돼요?
සමාවන්න, මම විදේශ රටකට මුදල් යැවීමට හදන්නේ, මුදල් යවන්නේ කොහොමද?

은행원 통장이나 카드를 가지고 오셨습니까?
බැංකු පොත හෝ කාඩ්පත අරගෙන පැමිණියාද?

모니카 네, 여기 통장 있어요.
ඔව්, මෙන්න බැංකු පොත තිබෙනවා.

은행원 통장이 있으면 현금인출기를 이용하세요. 송금 수수료도 더 적게 나와요.
බැංකු පොත තියෙනවා නම් මුදල් තැන්පතු ආපසු ගැනීම් යන්ත්‍රය භාවිතා කරන්න.
මුදල් යැවීමේ ගාස්තුවත් තව අඩුවෙන් යන්නේ.

모니카 어떻게 하는지 잘 모르겠는데 도와주시겠어요?
කොහොමද කරන්නේ කියලා වැටහෙන්නේ නැති නිසා උදව් කරන්න පුළුවන්ද?

은행원 네, 여기에 통장을 넣고 송금 버튼을 누르시면 됩니다.
ඔව්, මෙතනට බැංකු පොත ඇතුල් කර මුදල් යැවීමේ බොත්තම ඔබන්න.

모니카 감사합니다. ස්තුතියි.

> **저기요 සමාවන්න**
> නොදන්නා යමෙකුට යමක් පවසන විට බහුලව භාවිතා වේ.
> · 저기요, 이 근처에 은행이 있어요?
> සමාවන්න, මේ හරියේ බැංකුවක් තියෙනවාද?
> · 저기요, 잠깐만요. 이걸 놓고 가셨어요.
> සමාවන්න, පොඩ්ඩක් ඉන්න, මේක දාලා ගියා.

> **적게 අඩුවෙන්**
> · 저녁에는 적게 먹는 게 건강에 좋아요.
> රාත්‍රියට අඩුවෙන් කන එක සෞඛ්‍යයට හොඳයි.
> · 돈을 적게 벌면 아껴서 쓰면 돼요.
> අඩුවෙන් මුදල් උපයනවා නම් අරපිරිමැස්මෙන් මුදල් වියදම් කළහම හරි.



හොඳින් සවන්දී අනුගමනය කලාද? එසේ නම් ලබා දී ඇති ප්‍රශ්න සඳහා පිළිතුරු සපයන්න.

1. 모니카 씨는 왜 은행에 갔어요? මොනිකා මහත්මිය ඇයි බැංකුවට ගියේ?
2. 현금인출기를 이용하려면 무엇이 있어야 해요? යන්ත්‍රය භාවිතා කරනවා නම් කුමක් තිබිය යුතුද?

정답 1. 외국으로 송금을 하려고 은행에 갔어요. 2. 통장이나 카드가 있어야 해요.

